සැඟවුණු බොදු මග යළි පුබුදන

# හෙළ බොදු පියුම

ශ්‍රී බු. ව. 2562 ක් වූ දුරුතු මස (ව්‍යවහාරික වර්ෂ 2019 ජනවාරි)

89 වෙනි කලාපය



## සියලු අණාවින කොඩිවින හිර බන්ධන සුනු විසුනු කර නිවන් මග වැඩීමට

# වටිනා කමටහන් පෙළක්

සැඟව ගිය බොදු මග යළි රැගෙන සෑම පුන් පොහෝ දිනකම එළිදකින දහම් සංග්‍රහය

රු. 25/-

# පස්කඳ දුකක්

මනුසත් බව ලැබුවෙ පෙර කළ පිනක් නිසා
ගුණවත් දනෝ සැනසෙති බුදු බණක් අසා
යහපත් ලෙස වසති හැම පව් කමක් නසා
දැනුවත් වෙති හැඳින පස් කඳ එදුක් රැසා

තණ අග පිණි බිඳකි පණ නල අනි යතය
බණ දහමෙහි එබව මොනවට අනු ගතය
නැණ මඳ දුබල අය නොතකති එම මතය
කන බොන එක පමණි ඔවුනගෙ අභි මතය

මුළු දවසම පුරා බුදු බණ අසනු විනා
සුළු පිරිසකට වුව නැති හැටි දැනුම මනා
බැලු බැලූ හැම තැනම ඇත දුසිරිතම දිනා
කුළු ගන්වනු කෙළෙස දහමෙහි පවිටු දනා

දැහැමින් වසන අය දහමෙහි යෙදෙති ලොවේ
ගුණයෙන් අඩු පිරිස හැමවිට ඇලෙති පවේ
නිදුකින් වසන ලැබුමට රිසි පරම සුවේ
මිනිසුන් දුක දිනා දවසක සසර නිවේ

හිමි වුන මෙදුක දිනුමට අරි මගය යන
පැවසුන බුදු වදන නිසි ලෙස හැඳින දන
සිඳලන පිණිස බැමි නිවනට එරෙහි වන
අනුදැන විසිය යුතු බුදු හිමි දෙසුව බණ

සිරිපා පහස ලද පින් බිම සිහල බිමේ
බලපා තිබේ දුසිරිත මෙම අඳුරු සමේ
ගලපා හරි වරද පින සහ පවිටු කමේ
පිටුපා නොයනු අරුතට බොදු කියන නමේ

පබැඳුම -
කාව්‍ය ශිරෝමණී පානදුරේ එස්. ඒ. එස්. පෙරේරා





# මහා විද්‍යාඥයා පෙන්වා දුන් සිවු අරිසස් දහම

04

යමක් ස්ථිර නැත්ද ඒක දුකයි කියන යම් අදහසක් අපි මේ කාලෙ වෙනකොට දරල තියෙනවා. "යද නිච්ඡං තං දුක්ඛං" කියන මෙන්න මේ කාරණය මෙතනදි හොඳින් තෝරගන්න ඕන. හැබැයි කලබල වෙන්නෙ නැතිව අදහස ටිකක් හිතල බලන්න පුරුදු වෙන්න ඕන. යමක් ස්ථිර නැත්ද ඒක දුකයි කියන ප්‍රකාශය විද්‍යා සිද්ධාන්තයක්ද කියල බලන්න ඕන. යමක් විද්‍යාවක් නම්, ඒක විද්‍යානුකූල සිද්ධාන්තයක් නම් බයවෙන්න සැක හිතන්න අවශ්‍ය නෑ. ඒ පිළිබඳ කතා කරල ඒක බොරු කරන්න පුළුවන්කමක් කවදාවත් නෑ. ඒක ඇත්ත නම් ඒ ගැන අපිට කම්පා වෙන්න කිසිම උවමනාවක් නෑ.

යද නිච්ඡං තං දුක්ඛං කියන ප්‍රකාශය, යමක් අනිත්‍ය නම් (ස්ථිර නැත්නම්) දුකයි කියල සිංහල භාෂාවට පරිවර්තනය කරල දකින ආකාරයෙන් අපිට ධර්මාවබෝධයට කොච්චර පිටිවහලක් තියෙනවද, නැත්නම් ඔය අස්සෙ මොකුත් අඩුපාඩුවක් එහෙම තියෙනවද කියල හිතල බලන්න ඕන. මෙතනදි ස්ථිර නැති එක හැබෑව. ස්ථිර නැති එක ලෝක ධර්මතාවයක් බවත් ඇත්ත. ඒක එහෙම නෙවෙයි කියල අපිට විද්‍යානුකූලව කියන්න බෑ. මොකද මේ ලෝකෙ හට ගත්ත කිසිම දෙයක් එකාකාරව පවතින්නෙ නෑ කියල අපි අත්දැකීමෙන්ම දන්නවා. එතකොට යමක් කිව්වෙ මොනවටද? ඇස - රූපය, කන - ශබ්දය, නාසය - ගන්ධය, දිව - රසය, ශරීරය - පොට්ඨබ්බය, මන - ධර්ම කියන මෙන්න මේ කාරණා ටික තමයි "මම" කිව්වෙත්, "මගේ" කිව්වෙත්, "මගේ ආත්මය" කියල බදා ගත්ත නම් බදාගෙන ඉන්න හැදුවෙත්. නැත්නම් ලෝකයා ආසා කළේ ඔන්න ඔය පොදියට. ඔය පොදිය "මම" කරගන්න, "මගේ" කරගන්න තමයි ලෝකයා දඟලන්නෙ. මොකද ඔය දොළහෙන් තමයි ලෝකයා ආස්වාද විඳින්නෙ. යමක් කිව්වම ඔය කියන පොදියම අයිතියි. **යමක් කියන වචනය තුලට අහු නොවෙන ලෝකයේ කිසිම දෙයක් නෑ.**

එහෙනම් **අසහනය තියෙන්නෙ මොකක් නිසාද? මම කරගන්න ඕන දේ මම කරගන්න බැරිව, මගේ කරගන්න ඕන දේ මගේ කරගන්න බැරිව, මට එපා දේ අයින් කරගන්න බැරිව ඉන්නවා. ඒ වගේම, මගේ නෙවෙයි කියන දේ එහෙම කියල හරියන්නෙ නෑ, මේකට උඹ වගකියන්න ඕන... මේ ආදී වශයෙන් කියල කොටු කළාම අන්න ඒ නිසාත් අපි අසහනයට පත් වෙලා ඉන්නවා.** එහෙනම් අපි දකින්න ඕන ඇස, කන, නාසය, දිව ශරීරය, මන, රූප, ශබ්ද, ගන්ධ, රස, ස්පර්ශ, ධර්ම කියන ඒ ටිකත් මේ ලෝකය තුල හට ගත්ත නම් ඒවාට උරුමයක් තියෙනවා. ඒවා විපරිනාමයට පත් වෙලා යනවා, වැනසිලා යනවා. ඒක තමයි ධර්මතාවය. හැබැයි ධර්මතාවය දැක්ක පළියට දුක්ඛ ආර්ය සත්‍යය තවම අවබෝධ වුනේ නෑ.

එහෙනම් යමක් ස්ථිර නැත්ද ඒක දුකයි කිව්වොත්, අපිට අවබෝධ වෙන්න එතන අඩුපාඩුවක් තියෙනවා. යමක් කියනකොට අර කලින් සඳහන් කළ සියල්ලම අයිතියි. යම් යම් ජාති ලෝකයේ තියෙනවා. කෙස් ජාති, ලොම් ජාති, නියපොතු ජාති, දත් ජාති, හම් ජාති, මස් ජාති, නහර ජාති, ඇට ජාති, ඇට මිදුළු ජාති කියන මේවත් ජාති. උපදින උපදින අත්බැව් තියෙනව නම් ඒවත් එක්තරා ජාති කොට්ඨාසයක් විතරයි. සජීවී ජාතිත් තියෙනවා. අජීවී ජාතිත් තියෙනවා. ජාති දුක ගැන කියනකොටත්, ජාතිපි දුක්ඛා කියනකොටත්, ඉපදීම දුකයි කියල විතරක් අරගත්තම අපිට මේ කියන ජාති ඔක්කොම වැටහිලා තියෙනවද? අපි හිතුවෙ නැති කොටසක් ඔතන ජාතිවලට අහුවෙලා තියෙනවා.

මේ ලෝකෙ සජීවී ජාතිත්, අජීවී ජාතිත් තියෙනවා. ජාතියක් හට ගත්තම ජරාවට පත් වෙලා මරණයට පත් වෙනවා කියන අදහසක් අපි අහල තියෙනවා. ඒකත් විද්‍යානුකූල ඇත්තක්. මේ ලෝකෙ මොනව හරි ජාතියක් හට ගත්තොත් ඒකෙ විපරිනාමයක් හෙවත් ජරාවට පත් වීමකුත් දකිනවා. ඒකෙ මරණයට පත්වීමකුත්, වැනසී

යාමකුත් දකිනවා. ඒක බොරුවක් කියල කාටවත් කියන්න බෑ. ආගමික වශයෙන් හෝ ජාති, කුල, ආගම් වශයෙන් හෝ බලවත් ධනවත් වශයෙන් හෝ අහවල් අහවල් අයට මෙහෙමයි කියල භේදයකුත් නෑ. කවුරු ළඟ තියෙන ජාතිවලටත් උරුමය ඕකයි.

එහෙනම් දැන් මේ ජාති ගැන විග්‍රහ කරනකොට අපිට හුඟක් පුළුල් විග්‍රහයකට බහින්න සිද්ධ වෙනවා. මේ ජාති මොනවද කියල හොයාගන්න පුළුල් පරීක්ෂණයක් කරල බලන්න වෙනවා. බුදු පියාණන් වහන්සේ පෙන්වා දුන්න මේ ධර්මය තුළම සියලු ජාති හොඳට විග්‍රහ කරල තියෙනවා. එක තැනක කරපු එක විග්‍රහයක් විතරක් අරගෙන, සියල්ලටම ඒ දේ වෙන් කරල, නැත්නම් පොදුයි කියල අරගන්න බෑ. ඒ ඒ දේවල් හට ගත්ත ආකාරයෙන් ඒ ඒ දේ විපරිනාමයට පත් වෙන ආකාරය, ඒ ඒ දේවල් වැනසෙන ආකාරය, ඒ සඳහා ගත වෙන කාලය එකින් එකට වෙනස් ආකාරයෙන් යුක්තයි. ඒ නිසා එක තැනක පෙන්වපු ජාති අරගෙන, මේකයි ජාතිය, මේකයි ජරාව, මේකයි මරණය කියල, මේ ශරීරයක් මුල් කරගෙන පෙන්වපු අවස්ථාවක් අරගෙන, සියල්ලම එහෙමයි කියල කියන්න ගියොත්, නැත්නම් වෙන ඒවා ජාති නෙවෙයි, මෙච්චරයි ජාති කියල සීමා කරන්න ගියොත් අපි දහම් නුවණින් විමර්ශනය කරල ජාති හොයාගෙන නෑ.

එහෙනම් තවදුරටත් විමර්ශනය කරල බලනකොට ඒ මහා විද්‍යාඥයා දුන්න සිද්ධාන්ත අදත් ඒ ත්‍රිපිටක ධර්මය හැටියට අපිට දකින්න ලැබෙනවා. අපි ඒවා හාරල අවුස්සල ගන්න ඕන. ඒකට කවුරුවත් කිව්ව පළියට පිළිගන්නෙ නැතිව නැණ නුවණ මෙහෙය වන්න ඕන. ධර්ම න්‍යායට අනුකූලව ජාති හොයාගන්න ක්‍රම බලන්න ඕන. එහෙනම් ජාතිපි දුක්ඛා කියන වචනය හොයන්න ඉස්සර වෙලා ඒ ජාති දැනගෙන ඉන්න ඕන. ජාති යම් තැනක ඇත්නම් තමයි ජරා මරණ වෙන්නෙ. ජාති නැති තැනක ජරා මරණ වෙන්නෙ නෑ කියල මෙහෙමත් සිද්ධාන්තයක් තියෙනවා. ඒකත් සම්පූර්ණ ඇත්ත.

දැන් මොන මොන ජාතිද තියෙන්නෙ කියල ඉස්සෙල්ලම විග්‍රහ කරගන්න වෙනවා. මේ දුක්ඛ ආර්ය සත්‍යය ඒකාන්තයෙන් විග්‍රහ කරල තේරුම් ගත්තෙ නැත්නම් මේක වැටහෙන්නෙ නෑ. මේ ටික වැටහුනේ නැත්නම් හරියට සත්ත්වයෙක්ගෙ හදවත ක්‍රියාත්මක වෙන්නෙ නෑ වගේ තමයි. ක්‍රියාත්මක වෙන්න නම් වැටහෙන්නෙ ඕන. වැටහීම ලබා ගන්න අවස්ථාවට පත් වෙන්න ඕන. බුදු පියාණන් වහන්සේ දේශනා කළේ විද්‍යා සිද්ධාන්ත නිසා, ඒවා කවදාවත් වෙනස් වෙන්නෙත් නෑ. උන්වහන්සේ මහා විද්‍යාඥයා නිසා ඒ විද්‍යා සිද්ධාන්ත අඩු නොකර දේශනා කරලත් තියෙනවා. අන්න ඒ තුලින් අපි තේරුම් ගන්න ඕන, මේ ජාති කියන ඒවා මව් කුසින් උපදින එකට විතරක් සීමා කරල තියෙනවද නැත්ද කියල. ඒ ත්‍රිපිටක දහම් පොත් පරිශීලනය කරනකොට මේ ගැන අර්ථ තියෙන දහම් කතා අහුවෙනවා. මේ තියෙන්නෙ ජාති, ජරා, මරණ පෙන්වන එක අවස්ථාවක්. ඒ කාරණා ගැඹුරු වුනත් මේ ටික විග්‍රහ කරල ගන්න වෙනවා. බුදු රජාණන් වහන්සේ මේ විදිහට දේශනා කරපු තැනක් තියෙනවා.

<u>අවිද්‍යාව</u> :- අවිද්‍යා ප්‍රත්‍යයෙන් සංඛාර වෙයි යන යමක් ඇත්ද, ඒ සංඛාරයන්ගේ ජාතියයි. එහි මේරීමක් ඇත්ද, එහි වැහැරීමක් ඇත්ද, ඒ ජරාවයි. එහි වැනසීමක් ඇත්ද, ඒ මරණයයි.

<u>සංඛාර</u> :- සංඛාර ප්‍රත්‍යයෙන් විඤ්ඤාණ වෙයි වන යමක් ඇත්ද, ඒ විඤ්ඤාණයන්ගේ ජාතියයි. එහි මේරීමක් ඇත්ද, වැහැරීමක් ඇත්ද, ඒ ජරාවයි. එහි වැනසීමක් ඇත්ද, ඒ මරණයයි.

<u>විඤ්ඤාණ</u> :- විඤ්ඤාණ ප්‍රත්‍යයෙන් නාම රූප වෙයි යන යමක් ඇත්ද, ඒ නාම රූපයන්ගේ ජාතියයි. එහි මේරීමක්, වැහැරීමක් ඇත්ද, ඒ ජරාවයි. එහි වැනසීමක් ඇත්ද, ඒ මරණයයි.

<u>නාම රූප</u> :- නාම රූප ප්‍රත්‍යයෙන් සළායතන වෙයි යන යමක් ඇත්ද, ඒ සළායතනයන්ගේ ජාතියයි. එහි මේරීමක්, වැහැරීමක් ඇත්ද, ඒ ජරාවයි. එහි වැනසීමක් ඇත්ද, ඒ මරණයයි.

<u>සළායතන</u> :- සළායතන ප්‍රත්‍යයෙන් ඵස්ස වෙයි...

<u>ඵස්ස</u> :- ඵස්ස ප්‍රත්‍යයෙන් වේදනා වෙයි...

<u>වේදනා</u> :- වේදනා ප්‍රත්‍යයෙන් තණ්හා වෙයි...

<u>තණ්හා</u> :- තණ්හා ප්‍රත්‍යයෙන් උපාදාන වෙයි...

<u>උපාදාන</u> :- උපාදාන ප්‍රත්‍යයෙන් භව වෙයි...

<u>භව</u> :- භව ප්‍රත්‍යයෙන් ජාති වෙයි...

<u>ජාති</u> :- ජාති ප්‍රත්‍යයෙන් ජරා, මරණ, සෝක, පරිදේව, උපායාස වෙයි යන යමක් ඇත්ද, ඒවා ජරා, මරණ, ශෝක, පරිදේවයන්ගේ ජාතියයි. එහි වැහැරීමක් ඇත්ද, ඒ ජරාවයි. එහි වැනසීමක් ඇත්ද, ඒ මරණයයි.

මේ ආකාරයෙන් ඔය පටිච්ච සමුප්පාද රටාවෙන් පෙන්වපු අවිද්‍යා, සංඛාර, විඤ්ඤාණ, නාමරූප, සළායතන, ස්පර්ශ (ඵස්ස), වේදනා, තණ්හා, උපාදාන, භව, ජාති යන සියල්ලම ජරා මරණයන්ට දාල පෙන්වල තියෙනවා. එහෙනම් මේවායින් එකක් විතරක් අරගෙන, එහෙම නැත්නම් **මව් කුසින් උපදින ජාති විතරක් අරගෙන ජාති දුක්ඛය ගැන කතා කරන්න බෑ.** මේ ආකාරයෙන් බුදු පියාණන් වහන්සේ පෙන්වපු ජාති තවත් ආකාරයකින් විග්‍රහ කරගන්නව නම් ගස් ජාති, වැල් ජාති කියලත් කියනවා. සත්ව ජාති වශයෙන් වෙන් කරලත් තියෙනවා. එක එක සතාගේ කොටස් ජාති වශයෙන් කෙස් ජාති, ලොම් ජාති, නියපොතු ජාති, දත් ජාති... මෙහෙමත් ජාති වෙන් වෙනවා. මොනවහරි හට ගත්ත යම් කිසි ජාතියක් ඇත්නම් ඒවාට උරුමයක් තියෙනවා. වැහැරිලා, ජරාවට පත් වෙලා, වැනසිලා යනවා, මරණයට පත් වෙනවා. මේක තමයි ලෝක ධර්මතාවය කියන්නෙ. සජීවී වේවා අජීවී වේවා ඔය තත්ත්වය ඉක්මවූ කිසිම ජාතියක් පෙන්වන්න පුළුවන් කිසිම විද්‍යා සිද්ධාන්තයක් නෑ. එහෙනම් තියෙන විද්‍යා සිද්ධාන්තය මොකක්ද? යමක් මේ ආකාරයෙන් හට ගත්ත නම් ඒකෙ වැහැරීමක්, මරණයක්, කෙළවර වීමක් තියෙනවා.

එහෙනම් ස්ථිරව පවත්වන්න බෑ කියන ස්වභාවය ලෝක ධර්මතාවයක්. හැබැයි ස්ථිර නැති නිසා දුකයි කිව්වම අපිට කොටසයි අහුවෙන්නෙ. දුක එන්නෙ මොනව ස්ථිර නැත්නම්ද? බුදු පියාණන් වහන්සේ පෙන්වා දුන්න දහම් මාර්ගයට අනුව ලෝකය දුකෙන්ම විතරක් පිරිල නෙවෙයි තියන්නෙ කියල මීට පෙර ලිපියෙනුත් පෙන්වා දුන්නා. **ලෝකයේ සැප ස්වභාවයකුත් තියෙනවා. ඒ නිසාමයි ලෝක සත්ත්වයා මේකෙ එල්ලීගෙන ඉන්නෙ, මැරි මැරි නැවත ඉපදෙන්නෙ. අන්න ඒ සැප ස්වභාවය භුක්ති විඳින්න. එතකොට දුකට හේතුවකුත් තියෙනවා. ප්‍රිය ස්වභාවය, මධුර ස්වභාවය යමකින් විද්‍යාමාන වෙනව නම් ඒ ස්වභාවය ලෝකයා අමනාප කරන එකක් නෙවෙයි, දුකයි කියල ගන්න**



**එකක් නෙවෙයි. එහෙනම් කොහොමද සියල්ලම ස්ථිර නැත්නම් දුකයි කියල කියන්නෙ? කොටසක ස්ථිර නැති බව දුක කියල දැකගන්න පුළුවන්. ප්‍රිය මනාප ඒවා ස්ථිර නැත්නම්, ඒ පිළිබඳව අනේ මේක කැඩිල බිඳිල විනාස වෙලා ගියානේ කියල දුක් වෙනවා. එතකොට අප්‍රිය අමනාප ජාතිත් තියෙනවා. අන්න ඒ අප්‍රිය අමනාප ජාති කැඩිල බිඳිල විනාස වෙලා ගියා නම් අපි සන්තෝස වෙනවද දුක් වෙනවද? මේ තමයි හිතල බලන්න ඕන තැන්.**

එහෙනම් අපිට යථාර්ථයෙන්ම දුක දැකගන්න නම් දැනගත යුතු දෙයක් තියෙනවා. ඒක වචනයේම ගැබ් වෙලා තියෙනවා. ඒ තමයි ඉච්ඡ සේ නෑ. අනිච්ඡයි. අනිත්‍ය කියන්නෙ එක වචනයක්. අනිච්ඡ කියන්නෙ තව වචනයක්. හැබැයි භාෂා රටාව අනුව නම් මේ නිරුක්ති ගැනීමේ යම් වෙනසක් දකින්න පුළුවන්. මොකද **භාෂා රටාවෙදි පූර්වස්වර, පරස්වර... ආදී වශයෙන් සන්ධි ගලපල වචන කඩල අර්ථ ගන්න ක්‍රමවේදයක් තියෙනවා. නමුත් දහමෙදි මේ භාෂා රටාව අනුව නෙවෙයි ඒක තෝරන්නෙ. විද්‍යා රටාව අනුව. විද්‍යා සිද්ධාන්තයක් නම් හේතු ඵල න්‍යායට එකඟව අපිට වැටහෙන්න ඕන, පෙනෙන්න ඕන. එතකොට යම් කිසි අඩුපාඩුවක් තියෙනව නම්, ඒ විද්‍යාවට අනුකූලව සිද්ධාන්තය අයින් කරන්න බෑ. විද්‍යා සිද්ධාන්තයට අනුකූලව අපි අඩුපාඩු හදාගන්න ඕන.**

එහෙනම් මෙතනදි කිසි ප්‍රශ්නයක් ඇතිවෙන්නෙ නෑ. මොකද **කැමති සේ නැති නිසා දුකයි කියන එක අදහසක් අරගෙන, ස්ථිර නැති නිසා දුකයි කියන තව අදහසක් අරගෙන බැලුවොත්, දැන් මේ දෙකෙන් කෝකද වඩා යෝග්‍ය? දුක වැඩියෙන් වැටහෙන්නෙ කෝකෙන්ද කියල හිතල බලන්න ඕන.** කැමති සේ නැති නිසා දුක නම් එන්නෙ ඒ ගැන කතා කරන්න දෙයක් නෑ. කැමති සේ තියෙනව නම් අපිට දුකක් නෑ. කැමති සේ නැත්නම් ඒක කොහොමත් දුකයි.

එතකොට ස්ථිර නැත්නම් දුකයි කිව්වොත්, ලෝකයේ අපි අකමැති දේවල් තියෙනවා. ඒ වගේම කැමති දේවල් තියෙනවා. ඒ **කැමති, අකමැති දේවල් සියල්ලම ස්ථිර නැත්නම් දුකද කියල ඇහුවොත් මොකක්ද දෙන උත්තරය?** අපි කැමති දේවල් ස්ථිර නැත්නම් ඒක අපිට දුකයි. ඒකෙ කතා දෙකක් නෑ. හැබැයි අකමැති දේවල් ස්ථිර නැත්නම් ඒක දුක නෑ. එතකොට අපිට සතුටක් සැනසුමක් එන්නෙ. ඒ ගැන අමුතුවෙන් කියන්න දෙයක් නෑ හැමෝටම ඒ අත්දැකීම සහසුද්ධයෙන්ම තියෙනවා. දැන් මේ සසර ගමනක් තියෙනවා, ලෝකයක් තියෙනවා. මේ ලෝකෙ අපි ගෙනියන ජීවිතයක් තියෙනවා. ඒ තුල යම් කිසි දුක් විඳින ලෝකයක් තියෙනවා. **ඒ දුක් විඳින ලෝකයක ඒ විඳින්නා වූ දුක යම් අවස්ථාවක ස්ථිර වුනා නම් එහෙම අපිට සැනසුමක් තියෙනවද? ඒක ස්ථිර නැති නිසාම නේද, අනේ කවදහරි මේක ඉවරයි, මේ දුක ඉවර වෙන දවසක් එනවා, අහවල් දවස වෙනකල් නේද මේ දුක විඳින්න තියෙන්නෙ... කියල අපිට නිගමනයක් කරගන්න පුළුවන් වෙන්නෙ? අන්න එහෙම නිගමනය කර ගත්ත නම් අපිට පුළුවන්කමක් තියෙනවා, ස්ථිර නැති නිසාම සැනසෙන්න.**

බැරිවෙලාවත් මේ සසර ගමන ස්ථිර වුනා නම් එහෙම මොකද වෙන්නෙ? අපිට නිවනක් තියෙනවද? **ස්ථිර නැති නිසාමයි නිවන් දැකල කෙළවර කරගන්න පුළුවන් වෙන්නෙ. එතකොට ඒක දුකක්ද?** ස්ථිර නැති නිසාම අපි දකිනවා, මේක ගෙවෙන දවසක් තියෙනවා කියල. මතු ගොඩ නැගුවෙ නැත්නම් හට ගැනීමක් නෑ. ඒ නිසා අපිට මේ පුරාණය ක්ෂය වෙලා යනවා. ඛීණං පුරාණං කිව්වෙ ඒකයි. නවං නත්ථි සම්භවං කියල නැවත හට ගැන්නුවෙ නැත්නම් අපිට මතු සසර ගමනක් ඉතුරු වෙන්නෙ නෑ. ඒ හේතුවෙන් අපි මිදීමක් දකිනවා. නිවනක් දකිනවා. නිවනක් තේරුම් ගන්නවා. ඒක සැනසීමට කාරණයක් වෙනවා. මෙන්න මෙතැනට එන්න පුළුවන්කම තියෙනවා.

එහෙනම් අපි දැනගන්න ඕන, ස්ථිර නැති බව ප්‍රිය මනාප දේටත් උරුමයි, අප්‍රිය අමනාප දේටත් උරුමයි. වැනසිලා යාම ප්‍රිය මනාප දේටත් උරුමයි, අප්‍රිය අමනාප දේටත් උරුමයි. **ප්‍රිය මනාප දෙයක් වැනසෙනව නම් ලෝක සත්ත්වයා දුක් වෙනවා. අප්‍රිය අමනාප දෙයක් වැනසෙනව නම් සතුටු වෙනව මිසක් දුක් වෙන්නෙ කවුද?**

එහෙනම් මෙතනදි දැනගන්න ඕන, ස්ථිර නැත්නම් (අනිත්‍ය නම්) දුකයි කියල ගත්තම මේ න්‍යාය ධර්මය ගැලපීම මදි බව, ප්‍රමාණවත් නැති බව. අප්‍රිය, අමනාප දේවල් දුකයි කියල දකිනව නම් ඒක ලෝකෙ කවුරුත් දකිනවා. ප්‍රියමනාප දේවල් නැති වෙලා යනකොට ඒකත් දුකයි කියල දකිනව නම්, ස්ථිර නැත්නම් ප්‍රිය මනාප දේවල් නැතිවෙලා යනකොට ඒකත් දුකයි කියල දකිනවා. ඒක ලෝකෙ කවුරුත් දකිනවා. එහෙනම් අපි හිතපු නැති එක පැත්තක් තියෙනවා. මොකක්ද ඒ?

අපි ප්‍රියයි, මනාපයි, යහපතයි කියල යමක් ඇසුරු කරන්න ගත්ත නම් මොකද වෙන්නෙ? අප්‍රිය අමනාප දේවල් ඇවිත් ඒවා වට කරගන්නවා, වැළඳගන්නවා. එතකොට මොකද වෙන්නෙ, අපි කැමති නෑ. අපි කැමති නැති වුනත්, අප්‍රිය අමනාප දේවල්වලින් ප්‍රිය මනාප දේ වැළඳ ගන්නව නම් අපිට සිද්ධ වෙනවා දුක් වෙන්න. නමුත් අපිට ඒක අප්‍රිය අමනාප දේවල්වලින් අයින් කරන්න පුළුවන්කමක් නෑ. අපි කොච්චර ප්‍රියයි මනාපයි කිව්වත්, ඒවා අප්‍රිය අමනාප දේවල්වලින් වැළඳගෙන අපිට දුක් වෙන්න සිද්ධ වෙනවා. අපි කැමති දේවල් අපි අකමැති දේවල්වලින් වහගන්නවා, පිරිවරා ගන්නවා. එතකොට මොකද වෙන්නෙ, කැමති දේවල් ගෙවිල යනවා. ඒකත් ධර්මතාවය. කැමති දේවල් ගෙවිල යනකොට අපි ඒකට කැමති නෑ. එතකොට ලෝකයේ හට ගත්ත අපි කැමති හැම දේකටම කැමති නැති දෙයක්මයි අන්තිමට සිද්ධ

වෙන්නෙ. හොඳයි කියන ජාතියක් ලැබුන නම්, අපි බලාපොරොත්තු වුනා නම්, **ලෝකයේ හොඳයි කියන හැම ජාතියක්මත් කැමති සේ නෑ.** එහෙනම් **නරකයි කියන හැම ජාතියක්මත් කැමති සේ නෑ.** එතකොට මොකද වෙන්නෙ, නරක ඒවා එනවා. එනවට කැමති නෑ. හොඳ ඒවා ගෙවිල යනවා. ඒකටත් කැමති නෑ. නමුත් කැමති නැති සේම හොඳ ඒවා ගෙවිල යනවා. ඒ වගේම අපි බලාපොරොත්තු නොවෙච්ච විදිහට, කැමති නැති සේම ඒක නරක දෙයක් විසින් වට කරල වැළඳ ගන්නවා.

උදාහරණයක් විදිහට සුව පහසුවට, ප්‍රිය මනාපෙට ගමන් බිමන් යන්න හොඳ සුඛෝපභෝගී වාහනයක් ගේනවා. ඒක ප්‍රිය මනාප වස්තුවක්. ඒ අවස්ථාවෙදි සැප ගෙනත් දෙන වස්තුවක්. ටික දවසක් යත්දි මොකද වෙන්නෙ, ඕක වෙනත් බාහිර වස්තුවක ගැටිල කුඩු පට්ටම් වෙනවා. එහෙම නැත්නම් බාහිර පරිසරයේ ක්‍රියාකාරීත්වය නිසා දුර්වර්ණ වෙනවා, කිළිටි වෙනවා. ඒ වගේම කාර්මික දෝස හට ගන්නවා. දැන් මේ සියල්ලම අප්‍රිය අමනාප දේවල්. දැන් දුක් වෙනවා. ලෝකෙ තියෙන හැමදේකටම සිද්ධ වෙන්නෙ මේකයි. ඒ සඳහා යන කාල සීමාව සහ ඒක සිද්ධ වෙන ආකාරය විතරයි වෙනස් වෙන්නෙ. අවසානයේ ලැබෙන ප්‍රතිඵලයට අපි කැමති නෑ.

එතකොට **දුක එනවට කැමති නෑ. සැප යනවට කැමති නෑ. කැමති නැති නමුත් දුක එනවා. කැමති නැති නමුත් සැප යනවා. එහෙනම් ඉච්ඡ සේ නැති එකට කියනවා අනිච්ඡ කියල.** අන්න දැන් යථාර්ථයෙන්ම සියලු ආකාරයෙන් පූර්ණ වෙච්ච දුක වටහාගන්න අදහසක් ආවා. යමක් කැමති සේ නැත්ද ඒක දුකයි. දැන් මේකෙන් කැල්ලක්වත් අයින් කරන්න තැනක් නෑ. මුල යහපත්, මැද යහපත්, අග යහපත්, අර්ථ සහිතයි, ව්‍යඤ්ජන සහිතයි, සියලු ආකාරයෙන් පරිපූර්ණයි කිව්ව බුද්ධ දේශනාවක් තියෙනවා. ඒකත් විද්‍යා සිද්ධාන්තයක්. ලෝකයේ යමක් දැක්ක නම් ඒක ඔය ආකාරයි. එහෙනම් යමක් කැමති සේ නැත්ද ඒක දුකයි කියන මේ අදහස පූර්ණ බුද්ධ වචනයක්. ඒ වචනයෙන් මෙන්න මේ ටික අඩු කළ යුතුයි, එතකොටයි මේක සම්පූර්ණ වෙන්නෙ කියල එහෙම කියන්න දෙයක් ඉතිරි වෙලා නෑ. මේකට තව එකතු කරන්න දේකුත් නෑ. කිසිම විදිහකින් අභියෝග කරන්න බැරි විදිහට සියල්ල කැටි වෙලා තියෙන්නෙ. එහෙනම් යම් කෙනෙකුට දුක දැනගන්න නම්, යමක් කැමති සේ නැත්ද ඒක දුකයි කියන කාරණය විග්‍රහ කරගෙන යන්න ඕන. ඒක විවිධාකාරයෙන් විග්‍රහ කරගන්න පුළුවන්.

එහෙනම් මොකක්ද කැමති සේ නැත්තෙ? ඇස කැමති සේ නෑ. එතකොට දුකයි. එහෙනම් අපි දකිනවා, ස්ථිර නෑ කියල දකිනවට වඩා දුක වැටහෙන විශේෂ ක්‍රමයක්. මොකද **ඇහැට ලෙඩක් හැදුනම ඒක බේත් කළාම සනීප වෙන්නෙ ලෙඩ ඇහැ ස්ථිර නැති නිසා. හැබැයි ඒක සැපක් මිසක් දුකක් නෙවෙයි.** මේක හිතල බලන්න. ධර්මයට කිසිම ආකාරයකින් බාධකයක් අවුලක් වෙන්නෙ නෑ. යම් පිච්ඡං නලබති තම්පි දුක්ඛං කියන එක අරගෙන බැලුවත්, කැමති සේ යමක් නැත්නම් ඒක දුකයි කියනකොට, අපි කැමති සේ බලාපොරොත්තු වෙන ඇහැ කැමති සේ තියෙනවද නැත්ද? කැමති සේ නැත්නම් දුකයි. කැමති සේ තියෙනව නම් දුකක් නෑ. කාටද කැමති සේ තියෙන ඇහැක් ලැබුනෙ? ලෙඩ රෝග එනවා. කැමති නෑ. ඇහැට අඳුර එනවා. කැමති නෑ. සුද එනවා. කැමති නෑ, හතළිස් ඇඳිරිය එනවා, කැමති නෑ. පෙනීම නැති වෙලා යනවා, කැමති නෑ. අකමැති දේවල් පේනවා, කැමති නෑ. කැමති දේවල් නොපෙනී යනවා, කැමති නෑ. කබ කඳුළු ගලනවා, කැමති නෑ. දැවිල්ල එනවා, කැමති නෑ.

එහෙනම් මොකක්ද වෙන්නෙ? ඇහැ හොඳට පවතිනව නම් කැමතියි. නමුත් නොයෙක් ආකාරයෙන් විකෘති වෙලා යනවා. එතකොට අපි කැමති සේ පවතින තත්ත්වයක් හිටින්නෙ නෑ. එහෙනම් ඒ නිසා අපි අසහනයට පත් වෙනවා. එහෙම අවස්ථාවන්ට ගොදුරු වෙන මොහොතක් මොහොතක් ගානෙ මොකක් නිසාද දුක් වුනේ? **වටිනවයි කියන්නා වූ දෘෂ්ටියකින් යමක් අල්ලගන්න ගියාද, අන්න ඒ වටිනාකම යම් තරමකට හිතෙන් දරා ගත්තද, ඒ තරමට අකමැති ඒවා එනකොට, කැමති ස්වභාවය බිඳිල යනකොට අපි දුක් වෙනවා.** මෙන්න අපිට සැඟවිලා තිබිච්ච දුකක්. එහෙනම් මොකේද මේ දුක තිබිල තියෙන්නෙ? වටිනවයි කියල නිගමනය කිරීම තුලින් මිසක් දුක මතු වුනේ වෙන එකකින් නෙවෙයි.

ඉතින් මේ විදිහට කන, නාසය, දිව, ශරීරය, මන කියන්නා වූ මේ හැමදේකටමත් මේ විද්‍යා සිද්ධාන්තය දාල බලන්න. ඔය විදිහට මුළු ලෝකයටම මේ විද්‍යා සිද්ධාන්තය දාල බලන්න පුරුදු වෙන්න ඕන. හරිම සරලයි. මහ ලොකුවට හිතන්න කල්පනා කරන්න දෙයක් නෑ. එදිනෙදා ජීවිතයේ හැම අවස්ථාවකටම මේ විද්‍යා සිද්ධාන්තය යොමු කරල බලන්න පුළුවන්. එතකොට තමයි ලෝකයේ තියෙන අසාරත්වය වැටහිලා දහම් ඇස පහල වෙන්නෙ. එතකොට තමයි ලෝකයත් එක්ක තියෙන ඇලෙන ගැටෙන ස්වභාවය ක්‍රමයෙන් අඩු වෙලා යන්නෙ. ඉතින් ලෝකයේ හැමෝටම ඔය කාරණය වැටහුනා නම් මේ තියෙන ගැටුම්කාරී විනාසකාරී තත්ත්වය බලා ඉඳෙද්දිම අඩු වෙනවා. සතුට සැනසීම ළඟා වෙනවා.

බුදු ගුණ දම් ගුණ සඟ ගුණ සිතමු<br>
නැණ බල වඩමින් සදහම් අසමු<br>
වටින දහම් යළි ගෙන මතු කරමු<br>
නිවන් දකින මග වෙත හිත නමමු

අහන කනට හරි දම් මග ඒවා<br>
නුවණ යොමා නුවණින් සිහි වේවා<br>
වටින දහම් අවබෝධෙ ලැබේවා<br>
සියලු සතට අම නිවනම වේවා

*පූජ්‍යපාද වහරක අභයරතනාලංකාර මහ තෙරුන් වහන්සේ විසින් යළි මතු කළ සැඟවුනු දහම් කරුණු ඇසුරෙන් සකස් කළේ:*

**නීතිඥ චන්දන සිරිවර්ධන**

# පෙළ දහමේ සැඟවුණු තැන් සොයා...



21 වන කොටස

**මජ්ජිම නිකාය - 2**

<u>දේවදහ සූත්‍රය - 2 පිටුව</u>

විඳින සියලු වේදනා පෙර කර්ම හේතුවෙන් වේ යැයි දෘෂ්ටිගෙන, පව් තවන්න යැයි දුක් විඳින නිගණ්ඨ පිරිස් මුල් කරගෙන, ඒවායේ සාවද්‍ය බව සහ අසාරත්වයත්, තෘෂ්ණාව සිඳලීමට උත්සාහ වීරිය වැඩිය යුතු නිරවද්‍ය ක්‍රමයත් විග්‍රහ කර ඇත.

<u>පඤ්චත්තය සූත්‍රය - 30 පිටුව</u>

අපරාන්තය හෙවත් මතු මේ දුක් අත්බැව නිත්‍ය වීමක් පිළිබඳ අන්‍ය ශ්‍රමණ බ්‍රාහ්මණයන් පවසන වාද 5 ක් ගැන විස්තර වේ.

1.ආත්මය සංඥා සහිතයි. මරණින් මතු ස්ථිරයි.

2.ආත්මය සංඥා රහිතයි. මරණින් මතු ස්ථිරයි.

3.ආත්මය නේවසංඥානාසංඥා වෙයි. මරණින් මතු ස්ථිරයි.

මෙසේ තුන් ආකාරයක් සහ

4.විද්‍යාමාන වූම සත්ත්වයාගේ උච්ඡේදය, විනාසය, විභවය පනවත්.

5.ඇතැමෙක් දිට්ඨධම්ම නිබ්බානය පනවත්.

මේ පස් ආකාරයෙන් මුල් තුන එකක් ලෙස ගෙන තුන් ආකාරයෙන්ද පනවත්. මේ උද්දේශයේ විස්තරය මෙහි විග්‍රහ වේ.

<u>කින්ති සූත්‍රය - 44 පිටුව</u>

බුදු රජුන් චීවර, පිණ්ඩපාත, සේනාසන, ඒ ඒ භවයේ සුව විඳිමියි යන හේතුවෙන් නොව, අනුකම්පාවෙන් කරුණා සිත් පෙරදැරිව ගෙන දහම් දෙසන බවත්, **සත්තිස් බෝ පැකි දහම් මනා සේ දැන, වෙනත් අදහස් දෙන භික්ෂූන් වාද කර ගන්නේ නම්, දැනුවත් අය සමගිව කියා දී සමතයට පත් කරගෙන සසුන් මග පිළිපදින ලෙසත්** පෙන්වා ඇත.

<u>සාමගාම සූත්‍රය - 52 පිටුව</u>

නිගණ්ඨනාථ පුත්ත කළුරිය කර නොබෝ කලකින් ඒ නිගණ්ඨ පිරිස අතර භේද ඇති වී අවුල්ව භේදභින්න වීම මුල් කර, චුන්දසමනුද්දේස හිමියන් සහ ආනන්ද හිමියන් බුදු රජුන් වෙත කළ ප්‍රකාශයකදී, **යම් සසුනක අසමගියට සහ සමගියට හේතු පෙන්වා** කළ දේශනාව අඩංගුය.

මෙහිදී ආනන්ද තෙරුන්, ආජීවය (පැවැත්ම) නිමිති කොට හෝ අධි ප්‍රාතිමෝක්ෂය (විනය නීති) නිමිති කොට භික්ෂූන් අතර වාද විවාද ඇති වීම බොහෝ දෙනාට අහිත පිණිස, දුක් පිණිස වේ යැයි පැවසූ විට බුදු පියාණන් වහන්සේ මෙසේ දේශනා කර ඇත.

"ආනන්දය, ආජීව නිමිත්තෙහි වේවයි අධි ප්‍රාතිමෝක්ෂයෙහි වේවයි යම් මතු විවාදයක් ඇත්නම් ඒ විවාද අල්ප මාත්‍රයෝය. ආනන්දය, **මාර්ගය නිමිති කොට යම් විවාදයක් වේ නම් හෝ ප්‍රතිපත්ති නිමිති කොට විවාදයක් වේ නම් හෝ ඒ විවාදය බොහෝ දෙනාට අහිත පිණිස, දුක් පිණිස, අනර්ථ පිණිස, දෙවි මිනිස් හට අහිත පිණිස දුක් පිණිස වැටේ."** මෙසේ කළ දෙසුම ඇත. විවාදයට මුල් වන කාරණා හයක් පෙන්වා ඇත.

**1. කිපෙන සුළු බද්ධ වෛරය**

**2. ගුණමකුකම යුග ග්‍රාහී ප්‍රදෝශ ඇති බව (දූෂ්‍ය සිතින් ඇතිවන තරගකාරීත්වය)**

**3. ඉස්සාමස්සරිය (ඉරිසියාව සහ මසුරු බව)**

**4. ශඨ මායාවී බව (බොරු සටකපට බව)**

**5. පාපේච්ච මිත්‍යාදෘෂ්ටික බව**

**6. යුග ග්‍රාහී බව මුදවාලිය නොහැකි දෘෂ්ටි පරාමර්ශනය (එකට එක කිරීමෙන් මුදවාලිය නොහැකි සේ ඒ දෘෂ්ටියේම එල්බගෙන සිටීම)**

මේ ගැන විස්තර ඇත.

<u>සුනක්ඛත්ත සූත්‍රය - 66 පිටුව</u>

සුනක්ඛත්ත ලිච්ඡවී පුත්‍රයා, භික්ෂූන් වහන්සේලා බුදු පියාණන් වහන්සේ ළඟ අරිහත්වය ප්‍රකාශ කරන අයුරු දැක උන්වහන්සේගෙන් ඇසූ පැනයට දුන් පිළිතුර මෙහි ඇත. ඊට පිළිතුරු ලෙස සමහර භික්ෂූන් සත්‍ය ලෙසමද, සමහරු අධිමානයෙන්ද පවසන බව පෙන්වා විස්තර කර ඇත.

<u>ආනෙඤ්ජ සප්පාය සූත්‍රය - 82 පිටුව</u>

මේ පංච කාමයෝ ඇලීමට, ගැටීමට (අභිජ්ඣා, දෝමනස්ස) සාරම්භයට (එකට එක කිරීම) පත් කරවමින් ආර්ය ශ්‍රාවකයාගේ ඉදිරි අභිවෘද්ධියට බාධා පමුණුවන අයුරු සහ එයින් වෙන්වන අයුරු පෙන්වා ඇත.

**ගණක මොග්ගල්ලාන සූත්‍රය - 90 පිටුව**

ගණක මොග්ගල්ලාන බමුණා නොයෙක් ලෞකික කටයුතුවල අනුපූර්ව සික්‍ෂා, අනුපූර්ව ක්‍රියා, අනුපූර්ව ප්‍රතිපදා ඇති සේ, සාසනයේ ක්‍රමවේදය ඇසූ විට බුදු රජුන් විසින් කළ සාසන පිළිවෙත මෙහි සඳහන් වේ.

එනම් සික්‍ෂා සමාදානව රැකීම, ඉන්ද්‍රිය සංවරය, ප්‍රත්‍යවේක්‍ෂා පරිභෝගය, ජාගරිකානු යෝගය (නිවන් මග උදෙසා නිදි වැරීම), සති සම්පජඤ්ඤ ඉරියව්, අරණ්‍ය, රුක්මුල්, ශූන්‍යාගාරවලට ගොස් අභිජ්ජා දෝමනස්ස දුරලීම, නීවරණ හරණය, ධ්‍යාන, සමාධි, ප්‍රඥා ලාභය මේ ආදියයි. මේ පිළිබඳව විස්තර ඇත.

**ගොපක මොග්ගල්ලාන සූත්‍රය - 100 පිටුව**

ගොපක මොග්ගල්ලාන බමුණු ආනන්ද හිමියන්ගෙන්, බුදු පියාණන් හා සමව දක්නා දන්නා තව එකද භික්‍ෂුවක් ඇත්දැයි ඇසූ විට නැති බව පෙන්වා ඇත. එවිට වස්සකාර බමුණුද ඒ කතාවට සහභාගි විය. බුදුන් වහන්සේගෙන් පසුව සංඝයාගේ පිළිසරණට පැනවූ එකද භික්‍ෂුවක් නැති බවත්, ස්ථවිර භික්‍ෂූන් විසින්ද එසේ සම්මත කළ කෙනෙක් නැති බවත් පවසා අසන පැනවලට පිළිතුරු අනඳ හිමිගෙන් ලැබුනි. එසේ නම් පිළිසරණක් නැති සසුනක් බව බමුණු පැවසූ විට, බුදුන් වහන්සේ පැනවූ සික පද අනුව ප්‍රාතිමෝක්‍ෂ දෙසීම අනුව කටයුතු කරන අයුරු දැන්වීය. සත්කාර ගරුකාර කොට වසන්න පනවා ගත් (ඇසුරු කරන්න පනවා ගත්) එකද භික්‍ෂුවක් නැති බවත්, බුදුන් වහන්සේ දේශනා කළ දස ප්‍රසාදනීය දහම් යමෙක් ළඟ වී නම් එබඳු අයට සත්කාර ගරුකාර කරමින් ඇසුරු කරන බවත් පෙන්වා ඇත.

**මහා පුණ්ණම සූත්‍රය - 116 පිටුව**

එක් පුන් පොහෝ දිනක රාත්‍රියේ එක් භික්‍ෂූන් වහන්සේ නමක් බුදු පියාණන් වහන්සේගෙන් ඇසූ ප්‍රශ්න සහ පිළිතුරු විග්‍රහයක් මෙහි ඇත. ඒවා නම්, පංච උපාදානස්කන්ධ, ඒවාට හේතුව, ඡන්ද රාගයේ වෙනස සහ ස්කන්ධ බෙදා දැක්වීම, ස්කන්ධ පැනවීමට හේතු, සත්කාය දිට්ඨිය ආදී තවත් කරුණු විමසීමත්, ඊට පිළිතුරු බුද්ධ දේශනාවත් මෙහි ඇත.

**චූල පුණ්ණම සූත්‍රය - 126 පිටුව**

බුදුන් වහන්සේ භික්‍ෂූන්ට, සත්පුරුෂයන් හා අසත්පුරුෂයන් ගැන කළ විග්‍රහය ඇත.

**අනුපද සූත්‍රය - 134 පිටුව**

බුදු පියාණන් වහන්සේ විසින් සැරියුත් හිමියන්ගේ ගුණ ගැයුමක් හා සමථ විදර්ශනා අනුපූර්ව මග ගැන කළ දේශනාවක් ඇත.

**ඡබ්බිසෝධන සූත්‍රය - 142 පිටුව**

මේ සාසනයේ **අරිහත්වය ප්‍රකාශ කරන භික්‍ෂුවකගෙන් ඇසිය යුතු ප්‍රශ්න සහ ලබා ඇති ඵලය හරි නම් දෙන පිළිතුරුද විග්‍රහ කර ඇත.**

1. සියලු රූපාලම්බනයන්හි ඇලීම් ගැටීම්වලින් මිදුන අයුරු පැවසිය හැකිය.

2. පංචෝපාදානස්කන්ධයන්ගෙන් මිදුන අයුරු පැවසිය හැකිය.

3. ෂඩ් ධාතුන්ගෙන් හිත මිදුනු අයුරු පෙන්විය හැකිය.

4. අධ්‍යාත්මික බාහිර ෂඩ් ආයතනයන්ගෙන් උපාදාන වශයෙන් නොගෙන මිදුන අයුරු කිව හැකිය.

5. මේ සවිඤ්ඤාණික කයෙහි සහ බාහිර සියලු නිමිත්තෙහි අහංකාර මමිංකාර මානානුෂය මනා සේ නැසූ අයුරුද අරිහත්වය ලැබූ අයුරුද කිව හැකිය.

6. ලැබූ මග ඵල ආර්ය ධර්මය ශ්‍රවණය කළ තැන් පටන් පැවිදිව චූල සීල, මජ්ජිම සීල, මහා සීල පූර්ණය, සමාධි පූර්ණය, ප්‍රඥා පූර්ණය පැවසිය හැක. මේ විස්තර ඇත.

**සප්පුරිස සූත්‍රය - 154 පිටුව**

භික්‍ෂූන් මුල් කරගෙන කළ දේශනාවකි. **තමාගේ කුලය, ධනය, බලය ආදිය සිහි කර අන්‍ය භික්‍ෂූන් පහත් කිරීම, පැවිදිව ලබන සිව්පසය, පිරිස් ආදී දෙයද විනයධර බව, ධර්ම කථික බව, අරණ්‍යක බව, පාංශුකූලික, පිණ්ඩපාතික, රුක්ඛමූලික, සෝසානික (සුසාන භූමිවල වාසය කිරීම) ආදී වශයෙන් තමන් උසස් යැයිද අන්‍ය භික්‍ෂූන්ට ඒ ගුණ නැතැයිද පහත් කිරීම අසත්පුරිස ලක්‍ෂණ වේ. තවද ඒ ඒ මට්ටමේ ධ්‍යානලාභී, සමාධිලාභී ආදී වශයෙන් නේවසංඥා නාසංඥායතනලාභී වෙමි, අන්‍යයෝ ඊට පහත් යැයි අවමන් කිරීම අසත්පුරිස ගති වේ. සත් පුරිස ලක්‍ෂණය නම්, ඉහත කරුණුවලින් තමා හුවා නොදැක්වීම සහ අනුන් හෙළා නොදැකීමයි.** යම් නිරෝධ සමවතක් වී නම් කිසිවෙක් ත්‍රිවිධ මඤ්ඤනාවෙන් නොහඟී (කිසිවක්, කිසි තැනක, කිසිවක් කරණ කොටගෙන තණ්හා, දිට්ඨි, මාන වශයෙන් නොසිතීම). කිසි ලෙස හෙළා නොදකී. ආස්‍රවයෝද ක්‍ෂය වේ. විස්තර ඇත. (මෙය වර්තමාන භික්‍ෂු සමාජයටද බොහෝ වැදගත්ය.)

**සේවිතබ්බා සේවිතබ්බ සූත්‍රය - 166 පිටුව**

යම් කායික වාචසික භෞතික දෙයක් ඇසුරෙන් අකුසල ධර්ම වැඩේ නම්, කුසල ධර්ම පිරිහේ නම් ඒවා සේවනය නොකළ යුතුය. යම් දෙයක් ඇසුර නිසා කුසල වැඩේ නම් අකුසල පිරිහේ නම් ඒවා සේවනය කළ යුතුය. විස්තර ඇත.

**බහු ධාතුක සූත්‍රය - 194 පිටුව**

යම් තාක් බය තැති ගැනුම් ඇත්ද, ඒවා බාලයා නිසා උපදී. පණ්ඩිතයා නිසා නූපදී. භික්‍ෂුව පණ්ඩිත විමංසක වන කරුණු නම් ධාතු කුසල, ආයතන කුසල, පටිච්ච සමුප්පාද කුසල, ස්ථාන අස්ථාන කුසල වේ. (ඒ ඒ දේවල් පිළිබඳ කුසලතාවය) විස්තර ඇත.

**ඉසිගිලි සූත්‍රය - 206 පිටුව**

බුදුන් වහන්සේ භික්‍ෂූන්ට, වටා ඇති පර්වත ගණනක් පෙන්වා, ඒවාට පෙර කල වෙන වෙනම නාම සංඥා තිබූ බවත්, මේ ඉසිගිලි පර්වතයට ඒ නමම වූ බවත් දේශනා කර, එම පබ්බත (පර්වත) ඇසුරු කර පිරිනිවන් පෑ පසේ බුදුවරු ගැන දේශනා කර වර්ණනා කර නමදින ලෙස පෙන්වා ඇත. (ගස් ගල් වන්දනාවට පහර ගහන අය මේ ගැනත් සිතා බැලිය යුතුයි.)

**ආනාපාන සති සූත්‍රය - 224 පිටුව**

එක් අවස්ථාවක මිගාර මාතු ප්‍රාසාදයේ සැරියුත්, මුගලන්, මහා කාශ්‍යප ආදී ප්‍රධාන තෙරුන් වහන්සේලා ඇසුරු කර දහම් අසමින් අවවාද අනුසාසනා ලබමින් සත්තිස් බෝධි පාක්‍ෂික ධර්ම භාවනා කරන භික්‍ෂූන් වහන්සේලා පිළිබඳ පවසා, ඒ සැවොම මගඵල ලාභී බව කියා ගුණ ගයමින් බුදු පියාණෝ ඒ සැමට මහත් ඵල මහානිසංස දෙන ආනාපාන සති භාවනාව දේශනා කළ අයුරු මෙහි දැක්වේ. ආනාපාන සති භාවනාව සතර සතිපට්ඨානයත්, සතර සති පට්ඨානය සප්ත බොජ්ජංගත්, සප්ත බොජ්ජංග විජ්ජා විමුක්තියත් (අරිහත් ඵලය) පූර්ණ කරන බව පෙන්වයි.

**කායගතා සති සූත්‍රය - 238 පිටුව**

බුදු රජුන් ජේතවනාරාමයේ

# නිවන් ලැබ දෙන කමටහන්...

## සියලු අණවින කොඩිවින හිර බන්ධන සුනු විසුනු කර නිවන් මග වැඩීමට වටිනා කමටහන් පෙළක්

**09 කොටස**



අණවින, කොඩිවින, හිරබන්ධන ආදිය ලාංකීය ජන සමාජයට අමුතු දේවල් නෙවෙයි. කෙනෙක් එක්ක තියෙන ඊර්සියාවට, තරහට, දියුණුව බලාගෙන ඉන්න බැරි වුනාම විවිධ කට්ටඩියන් ලවා මේ වගේ අණවින, කොඩිවින, හිර බන්ධන, හදිහූනියම්... ආදිය කරල පුද්ගලයා විනාස කිරීම, එහෙම නැත්නම් දුර්වල කිරීම අදටත් ලංකාව තුල සිද්ධ වෙන දෙයක්. එතකොට ඒ ඒ පුද්ගලයන්ගෙ කර්ම ශක්තීන්ට යටත්ව ඒවායින් කරදර බාධක එන්න පුළුවන්. ඒවායේ ප්‍රබලත්වයත් ඒ ඒ අවස්ථාව අනුව වෙනස් වෙනවා. මේ ගැන මීට පෙරත් මේ සඟරාවෙන් දැනුවත් කරල තියෙනවා. (17 - 24 කලාප බලන්න.)

ඒ වගේම යම් යම් ගුප්ත ක්‍රමවේද හරහා ඒ අණවින, කොඩිවින, හිර බන්ධන, හදි හූනියම් වගේ දේවල් කළාම කෙනෙකුට ඒවායින් බලපෑමක් එන්නෙ නිකම්ම නෙවෙයි. ඒ සඳහා තමන්ටත් හේතු තියෙන්න ඕන. නැත්නම් කොච්චර හදි හූනියම් කළත් වදින්නෙ නෑ. නමුත් අපි මේ ජීවිතයේ මොන තරම් හොඳින් හිටියත්, අනන්ත සසර ගමන තුල ඒ වගේ දේවල් අපේ අතින් වෙනත් සත්වයන් උදෙසා ඕන තරම් සිද්ධ වෙලා ඇති. ඒ නිසා දැන් ඒ සඳහා සුදුසු පරිසරයක් (සමනන්තරය) සකස් වුනොත් ඒවා කර්ම විපාක වශයෙන් ඇදිල එන්න පුළුවන්. සසරෙදි සිද්ධ වෙච්ච බලවත් කර්ම විපාක නිසා එබඳු දේවල්වලට මුහුණ දෙන්න සිද්ධ වෙන අවස්ථා ඕන තරම් තියෙනවා. ආර්ය උත්තමයන් වහන්සේලාගෙන් බණ අහල දහම් අවබෝධ කරගෙන ආර්ය මාර්ගය පූර්ණ කරමින් කටයුතු කළත්, පෙර හේතුවක ඵලයක් වශයෙන් සහ මේ ජීවිතය තුල ගොඩනගපු විවිධ හේතු මත එබඳු අවස්ථා එන්න පුළුවන්.

කොහොම නමුත් මොන විදිහෙ කෙනෙක්, මොන හේතුවක් මත එබඳු දේවල් සිද්ධ කළත්, කෙනෙකුට අණවින බන්ධන හදි හූනියම් වගේ නපුරක් කරන්නෙ රාග, ද්වේශ, මෝහ සහගත හිතින් බව පැහැදිලියි. ඒ වගේ දූෂ්‍ය මානසිකත්වයකින් කරපු යම් යම් අණවින කොඩිවින ආදිය ඇදිල ඒම නිසා සිද්ධ වෙන කරදර බාධක ආදිය දුරු කරගන්නත්, ආර්ය මාර්ගය පූර්ණ කරගන්නත් ආධාරක වශයෙන් විවිධ උපක්‍රම භාවිතා කරන්න පුළුවන්.

අණවින කොඩිවින ආදිය කොච්චර කපල ඉවත් කළත් නැවත නැවතත් ඒ වගේ දේවල් කරන්න පුළුවන්. ඒ නිසා දහම් මග අනුගමනය කරන අය වශයෙන් අපි විශේෂයෙන්ම කළ යුත්තේ අනවබෝධයෙන් සසර ගමන තුල කරපු දේවල්ම නැවත නැවතත් කරගෙන යෑම වැඩ සිටින කල භික්ෂූන් වහන්සේලා කායගතා සතිය මහත් ඵල මහානිසංස බව උන්වහන්සේ දේශනා කළ අයුරු සාකච්ඡා කළ විටෙක ඒ කායගතා සතිය වඩන අයුරු පෙන්වා ඇත. එසේම සිහි නුවණින් සතර ඉරියව් පැවැත්වීම, කුඩා අනු කුඩා කටයුතු කිරීම, ද්වතිංසාකාර භාවනාව, කය සතර ධාතු වශයෙන් ප්‍රත්‍යාවේක්ෂාව, නවසිවතිකය භාවනාව (සිරුර නව ආකාරව දිරා යන ආකාරය) යන මේ සියල්ල කායගතා සතියයි. මීළඟට සිව් දැහැන් ප්‍රගුණ කරයි. මේද කායගතා සතියයි. මෙසේ වඩන කායගතා සතිය විජ්ජා විමුක්ති ලබා දේ. මරුට ගෝචර නොවේ. මේ පිළිබඳව විස්තර ඇත.

<u>සංඛාරුප්පත්ති සූත්‍රය - 256 පිටුව</u>

ශ්‍රද්ධා, සීල, සුත, ත්‍යාග, ප්‍රඥා යන ගුණාංග සමන්වාගත තෙම මරණින් මතු යම් අත්බැවක් (කැත් කුල, බමුණු මහසල් කුල, චාතුම් මහා රාජික, පරනිම්මිත වසවර්තී... ඇතුළු දේව තලයන්හි) බලාපොරොත්තුව හිත තැබුවොත් ඒවා ඉටු වන බව පෙන්වයි.

එසේම සහශ්‍රී ලෝක ධාතුවේ පටන් ශත සහශ්‍රී ලෝක ධාතුවේ පැතිර වසන බ්‍රහ්ම කායිකත්වයන්ද බලාපොරොත්තුව හිත තැබූ විට ඉටු වන බවද පෙන්වයි. (මේ සූත්‍රයේ යම් තැනක ජම්බු නදියේ උපන් පස් හුනෙකින් කළ පළඳනා ගැන කියවේ. ගංගාවක පස්වල රන්මය පස් වර්ගයක් තිබූ බවට නිදසුනකි.) තවද පරිත්ත සුභ, අප්පමාණ සුභ යන බ්‍රහ්ම ලෝක ආදියේ පටන් නේවසංඥානාසංඥායතනූපගත බ්‍රහ්ම දෙවියන් පිළිබඳවද බලාපොරොත්තුව හිත තබා කටයුතු කිරීමෙන් ඒ තත්ත්වයන්ට පත් විය හැකි බවත්, ආස්‍රව ක්ෂය කර ප්‍රඥා විමුක්තිය, චේතෝ විමුක්තිය බලාපොරොත්තුව හිත තබා කටයුතු කර අරිහත්වයටද පත්විය හැකි බවත් මේ සූත්‍රේ සඳහන් වේ. විස්තර ඇත.

*පූජ්‍යපාද වහරක අභයරතනාලංකාර මහ තෙරුන් වහන්සේ විසින් දින පොතක සටහන් තබන ලද කරුණු ඇසුරිනි.*

**සටහන**
**නීතිඥ චන්දන සිරිවර්ධන**

නෙවෙයි. විශේෂයෙන් ඒ වගේ අණවින කොඩිවින කරන අයටත් ආර්ය මෛත්‍රිය පතුරවමින් තමන්ගෙ උත්සාහයෙන් වීර්යෙන් දහම් ක්‍රමවේදයන් තුලින්ම ඒවා සුද්ධ කරගන්න කටයුතු කරන්න ඕන. ආර්ය කර්මස්ථාන වැඩීම, ආර්ය දැහැන් වැඩීම තුලින් කරන්නෙ රාග, ද්වේශ, මෝහ සහිත හිතකින් කරන ලද දේවල් වීත රාගී, වීත දෝෂී, වීත මෝහී හිතින් කපල සුද්ධ පවිත්‍ර කර ගැනීම. එතකොට නැවතත් රාග, ද්වේශ, මෝහ සහිත හිතකින් කෙනෙකුට එබඳු දෙයක් ලේසියෙන් කරන්න බැරිව යනවා. කළත් ඒවායේ බල හීන වෙනවා.

කොහොම හරි ඒ වගේ, පෙර බන්ධනවලට ලක් වෙච්ච පින්වතුන් මේ බණ දහම් අහල ආර්ය මාර්ගය වඩාගෙන යන අය අතරත් ඕනෑ තරම් ඉන්න පුළුවන්. එහෙම නැත්නම් ආර්ය මාර්ගය වඩාගෙන යන අතරතුරත් ඒ වගේ බන්ධනවලට ලක් වෙන්න පුළුවන්. ඒ වගේම මාර්ගය වඩාගෙන යනකොට විවිධ මාර පාක්ෂික බලවේග ඒ ගමන නවත්වන්න ක්‍රියාත්මක වෙන්න පුළුවන්. අන්න ඒ වගේ විවිධ විස බන්ධනවලට ලක් වීම නිසා ශරීරය වටා තියෙන ඕරා වළල්ල කළු කිරණවලින් අපිරිසිදු වෙලා තියෙන වෙලාවක, එහෙම නැත්නම් මාර පාක්ෂික බලවේග ක්‍රියාත්මක වෙන වෙලාවක ලෝකෝත්තර දැහැන්, ආර්ය සමාධි, දිවැස්, අභිඥා ලබන්නත්, ඉදිරි මාර්ගය වඩා ගන්නත් ඒක බාධාවක් වෙනවා. අන්න ඒ වගේ අවස්ථාවල ඒ බන්ධන, බලවේග ආදිය කැපිල ඒ ඒ පින්වතුන්ගේ හේතු වාසනා අනුව දැහැන්, සමාධි, දිවැස්, අභිඥා ඇතුළු ආර්ය මාර්ගය හොඳින් වැඩෙන්න හේතු වෙන, වහරක අභයරතනාලංකාර මහ තෙරුන් වහන්සේ විසින් සමාධියෙන් ලබා දුන් තවත් වටිනා කමටහන් පෙළක් තමයි හැමෝගෙම ප්‍රයෝජනය පිණිස මේ සටහන් කරන්නෙ.

විශේෂයෙන් **ලෝකයේ යථා ස්වභාවය දහමට අනුව අනිච්ච, දුක්ඛ, අනත්ත වශයෙන් තේරුම් ගත්ත පින්වතුන්ට එතැනින් එහාට සසර ගමන කෙළවර කර ගන්නත්, හේතු වාසනා අනුව ඉහාත්ම සුඛ විහරණය සඳහා දැහැන් වඩන්නත්, ආර්ය සමාධි, දිවැස්, අභිඥා ආදිය ලබන්නත් මේ කමටහන් පෙළ බොහොම ප්‍රයෝජනවත් වේවි.** ඒ හැර අනෙකුත් පින්වතුන්ටත් ආරක්ෂාව රැකවරණය සඳහා මේ කමටහන් වැදගත් වේවි.

ඒ වගේම මේ කර්මස්ථානවල සඳහන් සමහර කර්මස්ථාන වාක්‍ය තුන් වතාවක් වඩන්න කියල පොදුවේ සඳහන් කරල තිබුනත්, තම තමන්ට පහසු විදිහට ඊට වඩා වැඩි වාර ගණනක් වුනත් වඩන්න පුළුවන්. අනෙක් කර්මස්ථාන වාක්‍යත් එහෙමයි.

දැන් මේ කමටහන් පෙළ වඩන්න කලින් ආරක්ෂාවක් විදිහට භාවිතා කරන්න පුළුවන් ආරක්ෂක ගාථා කිහිපයක් තියෙනවා. මේ තියෙන්නෙ ඒ වගේ බලවත් ආරක්ෂක ගාථාවක්. මේ ගාථාව 7 වතාවක් හෝ ඊට වැඩි වාර ගණනක් වඩන්න.

**සම්බුද්ධෙ අට්ඨ වීසංච**
**ද්වා දසංච සහස්සකේ**
**පඤ්චසත සහස්සානි**
**නමාමි සිරසාදරං**
**තේසං ධම්මඤ්ච සංඝඤ්ච**
**ආදරේන නමාමහං**
**නමක්කාරානු භාවේන**
**සබ්බ භයා උපද්දවා**
**අනේකා අන්තරායාපි**
**විනස්සන්තු අසේසතෝ**

මේ ගාථාවෙන් කියන්නෙ, අපේ ගෞතම බුදුන් වහන්සේ පෙරුම් පුරන කාලයේ පසු කරගෙන ආ බුදුවරයන් වහන්සේලා පන් ලක්ෂ දොළොස් දහස් විසි අට නමක් ගැනත්, උන්වහන්සේලා විසින් මතු කළ ධර්ම ස්කන්ධයත්, ඒ දහම් මග අනුගමනය කළ ආර්ය මහා සංඝ රත්නයත් ගැන. අන්න ඒ බුදුවරයන් වහන්සේලාට, ධර්ම ස්කන්ධයට, ආර්ය මහා සංඝ රත්නයට හදබැතියෙන් නමස්කාර කරල, සියලු බය උපදව, නොයෙක් අතුරු අන්තරාවන් ශේෂයක් නැතිවම විනාස වෙන්න කියල තමයි මේ ගාථාවෙන් කියවෙන්නෙ.

ඊළඟට ආරක්ෂාවක් විදිහට භාවිතා කරන්න පුළුවන් "මහා බුද්ධ මාලාව" තියෙනවා.

## මහා බුද්ධ මාලාව

**ඕං නමෝ භගවතෝ යුප්‍රකාමි කාමාස්පි ඕං නමෝ නාරා යං යං සරස්සල්ලාඩි කාමි රාජයා තුන් සමයං සැට කෝටියක් යකුන් දුරු කළෙමි. දිෂ්ටි නාග ගුරුළු නාග මීරියානි මීරියාග දල දල කුල කුල විපුල විපුල හර හර ආටානාටා ගණ හස්ති අයං යක්බෝ හිංසති අයං යක්බෝ විහිංසති අයං යක්බෝ නමුංචති ආටානාටි මෝර පරිත්තං ජින පඤ්ජරං ඒවං යක්ෂ විස්සුක යංදුංනිමිත්තං අවමංගලානි පල පල බුදුන් අණින් දහම් අණින් සඟරුවන් අණින් මොහුට ලෙඩ කළ යකෙක් යක්ෂණියෙක් ඇත්නම් ත්‍රිවිධ ධර්මානුධර්ම චක්‍රායුධයෙන් යකුන්ගේ සිරසවල් අළු කෙරෙමි. නමඃ යඃ තුන් සැනින් බිල්ල හැර තොපගේ යක්ෂ පුරයට මාගේ බුද්ධ රාජ්‍යයෙන් පොඃ පොඃ සිවඃ.**

මේක වඩනකොට කිසිම අමනුස්ස බලවේගයකට හත් ගව්වකින් මෙහා එන්න බෑ කියල තමයි කියන්නෙ. ඒ කියන්නෙ අමනුස්සයින්ට ඒ තරම් විසයි. ඒ නිසා මේක වඩනකොට අමනුස්සයින්ගෙන් එන බාධක මැඩ පැවැත්වෙනවා. හැබැයි ප්‍රබල වැඩි නිසා ටිකක් ප්‍රවේසමෙන් තමයි පාවිච්චි කරන්න ඕන. මේක රටේ සමාජයේ බොහොම සීමිත පිරිසක් ළඟ තියෙන දෙයක්. ඒකෙ තියෙන ප්‍රබලත්වය දන්න නිසාම ඒ අයත් කාටවත් වැඩිය දෙන්නෙ නෑ. නමුත් කාලයාගේ ඇවෑමෙන් යටපත් වෙලා යන්න පුළුවන් නිසාත්, වටිනාකමක් තියෙන නිසාත් තමයි මේ පළ කරන්නෙ. **ඒ නිසා මේක ආචාට ගියාට හැමෝම එක පාරටම වඩන්න පටන් ගන්න එපා. භික්ෂූන් වහන්සේලා වගේ දැනුම් තේරුම් තියෙන අය, මේ ගැන පරීක්ෂණ කරන අය, අවබෝධයක් සමග අත්දැකීම් තියෙන අය අවශ්‍ය අවස්ථාවලදි ප්‍රයෝජනයට ගැනීම තමයි වඩාත් යෝග්‍ය වෙන්නෙ. අනෙක් අය ඒ ගැන දැනුවත් වෙලා ක්‍රමානුකූලව තමයි වඩන්න ඕන.**

දැන් ගෙවල්වල ඉන්න අයට විතරක් නෙවෙයි, භික්ෂූන් වහන්සේලාටත්, අනෙක් හැමෝටමත් අමනුස්ස ප්‍රශ්න තියෙනවා. ඒවා වැටහෙන්නෙ නැති එකයි ගැටළුව. මොකද ඒවා වෛද්‍ය විද්‍යාවට අහු වෙන්නෙත් නෑ. ඉතින් මේ මන්ත්‍රය වඩන්න ගියාම සමහරුන්ට ඉන්න බැරි විදිහට අමනුස්සයො ඇවිස්සෙන්න පුළුවන්. මොකද ඒ අයට විස නිසා. ඒ නිසා **මේක වඩල අඩුම තරමෙ ආර්ය මෛත්‍රී කමටහන ටිකක් වැඩිපුර වඩන එක වඩා හොඳයි. මොකද එතකොට ඒ ඇවිස්සීම සමථයකට පත් වෙන්න පුළුවන්.**

මේ සම්බන්ධයෙන් අත්දැකීම් තියෙන ආරණ්‍යවාසී භික්ෂූන් වහන්සේ නමක් උන්වහන්සේගේ අත්දැකීම මේ විදිහට හෙළි කළා. "මම ඒ දවස්වල භාවනා කරත්දි මට ටිකක් අමනුස්ස ප්‍රශ්න තිබුනා. මම ඉතින් වහරක හාමුදුරුවන්ට දවසක් මේ ගැන ගිහින් කිව්වම, මම ඔබවහන්සේට

මහා බුද්ධ මාලාව දෙන්නම්, ඒකෙ කිසි ප්‍රශ්නයක් නෑ, කිසි කෙනෙකුට කිට්ටු වෙන්න බෑ, මේක කරන්න බය වෙන්න එපා කියල ඒ ගැන විස්තරයක් කිව්වා. මම ඉතින් ඒක උන්වහන්සේගෙ හඬින් පටිගත කරගෙන ලියා ගත්තා. ඊට පස්සෙ ඇඳට ඇවිත් ඕක වැඩුවා. ඒකෙන් මට තිබ්ච්ච ගොඩක් ප්‍රශ්න විසඳුනා. හැබැයි තවදුරටත් වඩාගෙන යනකොට මට පේනවා මගේ ඇඳ වටේ ගිනි ජාලාවක් වගේ. දැන් අමනුස්සයන්ට මහා විසාල ගිනි ජාලාවක් මැද මාව ඉන්නවා වගේ තමයි පේන්නෙ. ඒ නිසා ඒ අයට වෙනද වගේ පහසුවෙන් මට කරදර බාධා කරන්න බැරි වුනා. නමුත් එහෙන් මෙහෙන් කරදර කරන්න ගත්තා. හරියට අර ගඩොල් පෝරණුවලට, ඇත ඉඳන් පිච්චෙනවට බෙල්ල නමාගෙන කකුල් දෙක දෙපැත්තට තියාගෙන බයෙන් ගින්දර දානව වගේ තමයි අමනුස්සයො ඇවිත් ඔවුන්ගෙ අත් දෙකෙන් මගේ ඇඟට එහෙන් මෙහෙන් තට්ටු දාන්න ගත්තෙ. පිටි අනනව වගේ අරහෙන් මෙහෙන් ඇදල බයේ පැනල යන්න බලාගෙන ඉන්නවා. අහක බලාගෙන තමයි එහෙම කරන්නෙ. මොකද ඒ තරම් සැරක් අමනුස්සයන්ට මේකෙන් එනවා. මට පේනවා මගේ ඇඳ වටේම සම්පූර්ණ ගින්දර. අමනුස්සයින්ට කිට්ටු වෙන්න බෑ. ඒ අයට මගේ ඇඟටවත්, ඇඳටවත් ඇතුල් වෙන්න බෑ. නමුත් අර විදිහට පිට ඉඳගෙන එහෙන් මෙහෙන් කරදර කරනවා. මම ඉතින් වහරක හාමුදුරුවන්ට ගිහින් මේ ගැන කිව්වම උන්වහන්සේ හිනා වෙලා මෙහෙම කිව්වා.

මේ මහා බුද්ධ මාලාව නිසා අමනුස්සයින්ට යක්ෂයින්ට පැත්ත පළාතටවත් එන්න බෑ, මොකුත් කරන්න බෑ කියල කියනව තමයි. නමුත් ඕකටත් ඔරොත්තු දෙන පිරිස් ඉන්නවා. ගොඩක් අයට ඕක වඩනකොට ඒ කිට්ටුව ඉන්න බෑ. නමුත් ඒකටත් ඔරොත්තු දෙන බලවත් කොටස් සුළු ප්‍රමාණයක් ඉන්න පුළුවන්. ඒ නිසා ඔතනට ගිය කෙනාට තමයි ඉතිරි ටික කියල දෙන්නෙ. ඒ කියන්නෙ පුද්ගලයගෙ කර්ම වේග ඒ තරම්ම බලවත් නම්, මාර පාක්ෂික බලපෑම්, අසුර බලපෑම් එනකොට මේක ඒ සමහර අයට ඔරොත්තු දෙන්න පුළුවන්. නමුත් ඒ සීමිත පිරිසකට. නැත්නම් මමත් ඕක මෙච්චර කලක් වැඩුවා මගේ ළඟටත් කිට්ටු වෙන්න එපැයි. ඉතින් මේක අත්හදා බලපු කෙනාට විතරයි තේරෙන්නෙ, බොහෝ පිරිසකට මේක ඔරොත්තු නොදුන්නත් ඔරොත්තු දෙන සුළු පිරිසකුත් ඉන්නව කියල. මොනව කරන්නද අපි ඉතින් මේවට මුහුණ දීගෙන යන්න ඕන, අපිට වෙන කරන්න දෙයක් නෑ... මේ විදිහට වහරක හාමුදුරුවො ඒ ගැන පැහැදිලි කිරීමක් කළා. ඒ කියන්නෙ මේක ක්‍රමානුකූලව වඩාගෙන යනකොට මුහුණ දෙන්න සිද්ධ වෙන කරදරවලට අවස්ථානුකූලව මුහුණ දීල තමන්ගෙ මාර්ගය වඩාගන්න කියන කතාවක් තමයි වහරක හාමුදුරුවො මට කිව්වෙ.

ඒ වගේම තමයි මේ මහා බුද්ධ මාලාවේ එන "ත්‍රිවිධ ධර්මානුධර්ම චක්‍රායුධයෙන් යකුන්ගේ සිරසවල් අළු කෙරෙමි..." ආදී වශයෙන් තියෙන්නෙ, ඒ යක්ෂ අමනුස්සයන්ගෙ බෙල්ල කඩල මරල පුච්චල අළු කරල දානවා කියන එක නෙවෙයි. ධර්ම චක්‍රායුධයකින් එහෙම දෙයක් නෙවෙයි වෙන්නෙ. එහෙම කරන එක බුදු දහමට ගැලපෙන්නෙත් නෑ. ඒ නිසා **ඒ අමනුස්සයන්ගෙ සැඩ ගති, යක්ෂ ගති අළු කරනවයි කියන අදහස තමයි මේ කියන්නෙ. ඒ අදහස තමයි ගන්න ඕන.** නමුත් ලෞකික වශයෙන් ගුප්ත වැඩ කරන කට්ටඩි ආදී පිරිස් මේක වැරදි විදිහට යොදා ගන්න පුළුවන්. ඒ කාරණය මෙතැනට අදාළ නෑ. ඒ නිසා ඒ ගැන වරදවා තේරුම් නොගෙන මේ මහා බුද්ධ මාලාව සුදුසු අය විතරක් සුදුසු විදිහට වඩල අනෙක් කර්මස්ථාන වඩාගෙන යන්න.

පහතින් සඳහන් කරන්නෙ තවත් බලගතු පැරණි ආරක්ෂක ගාථාවක්. ඉහත ආරක්ෂක ගාථාවත්, මහා බුද්ධ මාලාවත් (සුදුසු නම්), මේ ගාථාවත් වඩල ඉන්පසු කර්මස්ථාන වඩන්න පටන් ගන්න.

**නමෝ තස්ස භගවතෝ අරහතෝ**
**සම්මා සම්බුද්ධස්ස ( 3 වතාවක් )**

**ඕං නමෝ ඉතිපි පිටකත්තයං**
**අනිච්ච දුක්ඛ අනත්තා සප්ත**
**බොජ්ජංගෝ**
**අට්ඨංගිකෝ මග්ගෝ චතු සතිපට්ඨානං**
**සබ්බත්ත ඉන්දෝ සහස්ස සූරියෝ**
**ඕං නමෝ සත්තානං**
**රාජ භයං චෝර භයං අග්නි භයං**
**උදක භයං සත්ත භයං සබ්භ භයං**
**ජෙයියෝ ජෙයියතු මංගලම්**
**අනිච්චං සංඛතං පටිච්ච සමුප්පන්නං**
**ඛය ධම්මං වය ධම්මං විරාග ධම්මං**
**නිරෝධ ධම්මං ඛමතු**

183.මටද හැම දෙනාටද සියලු වින
බන්ධන
අසාරයි ///
සියලු වින වින බන්ධන
නිරෝධ වෙත්වා ///
සියලු මාර බන්ධන
අසාරයි ///
සියලු මාර බන්ධන
නිරෝධ වෙත්වා ///

184.සම්මා සම්බුදු සරණයි
මමද සියලු ලෝක සියලු
සත්ත්වයෝ කෙරෙහි
සියලු රාග බන්ධන
නිරෝධ වෙත්වා
නිබ්බාන වෙත්වා
සියලු ද්වේශ බන්ධන
නිරෝධ වෙත්වා
නිබ්බාන වෙත්වා
සියලු මෝහ බන්ධන
නිරෝධ වෙත්වා
නිබ්බාන වෙත්වා
සියලු නීච බන්ධන
නිරෝධ වෙත්වා
නිබ්බාන වෙත්වා
සියලු මාර බන්ධන
නිරෝධ වෙත්වා
නිබ්බාන වෙත්වා

185.රාග බන්ධන භංග වේවා
ද්වේශ බන්ධන භංග වේවා
මෝහ බන්ධන භංග වේවා
සියලු බන්ධන භංග වේවා
නිවන පමණක් අත්ම වේවා

186.සම්මා සම්බුද්ධ බුද්ධ රතනානු
භාවයෙන්
මා හට ඇති සියලු සබ්බ කාය වින
හිර බන්ධන සබ්බ නීච වින කුල හිර
බන්ධන සබ්බ යම කාල මාර වින
බන්ධන කපාල <u>ජේදන</u> (7 වතාවක්)
විනස්සතු
සම්මා සම්බුද්ධ ධම්ම රතනානු
භාවයෙන්
මා හට ඇති සියලු සබ්බ කාය වින
හිර බන්ධන සබ්බ නීච වින කුල හිර
බන්ධන සබ්බ යම කාල මාර වින
බන්ධන කපාල <u>ජේදන</u> (7 වතාවක්)
විනස්සතු
සම්මා සම්බුද්ධ සංඝ රතනානු
භාවයෙන්
මා හට ඇති සියලු සබ්බ කාය වින
හිර බන්ධන සබ්බ නීච වින කුල හිර
බන්ධන සබ්බ යම කාල මාර වින
බන්ධන කපාල <u>ජේදන</u> (7 වතාවක්)
විනස්සතු
සම්මා සම්බුද්ධ ත්‍රිවිධ
රතනානුභාවයෙන්

මා හට ඇති සියලු සබ්බ කාය වින
හිර බන්ධන සබ්බ නීච විත කුල හිර
බන්ධන සබ්බ යම කාල මාර විත
බන්ධන කපාල <u>ඡේදන</u> (7 වතාවක්)
විනස්සතු
(මෙහි "ඡේදන" යන්න පසුගිය
කලාපයේ බෙහෙත් ලිපියේ සඳහන්
කළ සහස්ස චක්‍රයේ පටන් ඇති චක්‍ර
හත සිහි කරගෙන ඡේදන ඡේදන...
වශයෙන් 7 වතාවක් කියන්න.
හොඳින් වඩල පුරුදු වුන අයට
චක්‍ර 7 එකටම සිහි කරගෙන එක
වතාවක් කියන්නත් පුළුවන්.)

187. සම්මා සම්බුදු සරණයි
මමද සියලු ලෝක සියලු
සත්ත්වයෝ
සියලු විත දෝසාන්ධකාරවලින්
නිරෝධ වෙත්වා
නිදුක් වෙත්වා
නිරෝගි වෙත්වා
සුවපත් වෙත්වා
දුකින් මිදෙත්වා

188.සම්මා සම්බුදු සරණයි
සියලු විත බන්ධන
සුනුවිසුනු වෙත්වා///
සියල්ලෝ
නිදුක් වෙත්වා
නිරෝගි වෙත්වා
සුවපත් වෙත්වා
දුකින් මිදෙත්වා

189. සම්මා සම්බුදු සරණයි
සියලු ලෝක සියලු සත්ත්වයෝ
සියලු විත දොසින්
නිදහස් වෙත්වා ///

190. සම්මා තිසරණ සරණයි
සියලු විත බන්ධන
රෝගාන්ධකාර (දෝසාන්ධකාර)
නිරෝධ වෙත්වා ///
නිවනම වෙත්වා ///

191. මමද සියලු සත්ත්වයෝ
සියලු විත දොසින්
<u>නිදහස් වෙත්වා</u> (වැඩි වාර
ගණනක්)
මමද සියලු සත්ත්වයෝ නිවන්
සුවයෙන්
<u>සුවපත් වෙත්වා</u> (වැඩි වාර
ගණනක්)

192. සියලු ලෝක සියලු සත්ත්වයෝ
සියලු විත දොසින් නිදහස් වෙත්වා
සියලු ලෝක සියලු සත්ත්වයෝ
නිවන් සුවයෙන් සුවපත් වෙත්වා

193. ඉතිපි සෝ භගවා... භගවාති
ඒතේන සච්ච වජ්ජේන
සබ්බ භය විනස්සතු
සබ්බ විත විනස්සතු
සබ්බන්තරාය විනස්සතු
විත බන්ධන විනස්සතු
ඒතේන සච්චේන සුවත්ථි හෝතු
ඒතේන සච්චේන සමාපත්ති හෝතු

194. අනන්ත සම්මා සම්බුද්ධානු
භාවයෙන්
සියලු ලෝක බන්ධන
නිරෝධ වෙත්වා

195. සම්මා සම්බුදු සරණයි
මමද සියලු ලෝක සියලු
සත්ත්වයෝ කෙරෙහි
ලෝභ බන්ධන නිරෝධ වෙත්වා
ද්වේශ බන්ධන නිරෝධ වෙත්වා
මෝහ බන්ධන නිරෝධ වෙත්වා
මාර බන්ධන නිරෝධ වෙත්වා
නිවන් සුවයෙන් සුවපත් වෙත්වා ///

196. සම්මා සම්බුදු සරණයි
මමද සියලු ලෝක සියලු
සත්ත්වයෝ කෙරෙහි
කාම බන්ධන අනාථයි
කාම බන්ධන නිරෝධ වෙත්වා
ද්වේශ බන්ධන අනාථයි
ද්වේශ බන්ධන නිරෝධ වෙත්වා
මෝහ බන්ධන අනාථයි
මෝහ බන්ධන නිරෝධ වෙත්වා
මාර බන්ධන අනාථයි
මාර බන්ධන නිරෝධ වෙත්වා
නීච බන්ධන අනාථයි
නීච බන්ධන නිරෝධ වෙත්වා
<u>නිබ්බාන පරම සුඛයෙන්</u>
<u>සුඛිත වෙත්වා ///</u>

197. මමද සියලු ලෝක සියලු
සත්ත්වයෝ කෙරෙහි
රාග බන්ධන නිරෝධ වෙත්වා
ද්වේශ බන්ධන නිරෝධ වෙත්වා
මෝහ බන්ධන නිරෝධ වෙත්වා
මාර බන්ධන නිරෝධ වෙත්වා

198. සම්මා සම්බුදු සරණයි
මමද සියලු ලෝක සියලු
සත්ත්වයෝ කෙරෙහි
ලෝභ බන්ධන නිරෝධ වෙත්වා
ද්වේශ බන්ධන නිරෝධ වෙත්වා
මෝහ බන්ධන නිරෝධ වෙත්වා
අවිදු බන්ධන නිරෝධ වෙත්වා
නිවන් සුවයෙන් සුවපත් වෙත්වා ///

199. සම්මා තිසරණ සරණයි
සියල්ලද සියල්ලෝද
ලෝභ බන්ධනවලින් අතමිදෙත්වා
ද්වේශ බන්ධනවලින් අතමිදෙත්වා
මෝහ බන්ධනවලින් අතමිදෙත්වා
(මෙහි "සියල්ලද" යන්නෙන්
සියලු ද්‍රව්‍ය / වස්තූද, "සියල්ලන්ද"
යන්නෙන් සියලු සත්ව / පුද්ගලද
අදහස් වේ.)

200.සම්මා සම්බුදු සරණයි
මමද සියලු ලෝක සියලු
සත්ත්වයෝ
ලෝභ බැම්මෙන් නිරෝධ වෙත්වා
ද්වේශ බැම්මෙන් නිරෝධ වෙත්වා
මෝහ බැම්මෙන් නිරෝධ වෙත්වා
අවිදු බැම්මෙන් නිරෝධ වෙත්වා

201. සියල්ලද
සියල්ලෝද
ලෝභ අඳුරෙන් අත මිදෙත්වා
ද්වේශ අඳුරෙන් අත මිදෙත්වා
මෝහ අඳුරෙන් අත මිදෙත්වා
අවිදු අඳුරෙන් අත මිදෙත්වා
අඳුරෙන් අත මිදෙත්වා
ගින්නෙන් අත මිදෙත්වා
දාහයෙන් අත මිදෙත්වා
රෝගයෙන් අත මිදෙත්වා
සාපයෙන් අත මිදෙත්වා
විත බන්ධනවලින් අත මිදෙත්වා

202.සියල්ලද සියල්ලෝද
අඳුරෙන් අතමිදෙත්වා
ගින්නෙන් අතමිදෙත්වා
දාහයෙන් අතමිදෙත්වා
රෝගයෙන් අතමිදෙත්වා
සාපයෙන් අතමිදෙත්වා
විත බන්ධනවලින් අතමිදෙත්වා

203.සැමට මිසදිටු මාර බන්ධන
සුනු විසුනු වෙත්වා ///
දැවී අලු දූලි වෙත්වා ///
නිබ්බාන අමා නිදහස ලැබෙත්වා ///
(මාර බාධක ඇති අයට විශේෂයි.)

204.සියල්ලෙහිද සියල්ලන්ගේමද
සියලු විත බන්ධන
සුනු විසුනු වෙත්වා
දැවී අලු දූලි වෙත්වා
නිවන් සුවයෙන් සුවපත් වෙත්වා ///

205.රාග සහගත
ද්වේශ සහගත
මෝහ සහගත
සියලු බන්ධන
සුනු විසුනු වෙත්වා ///
රාගක්ෂය වූ
ද්වේශක්ෂය වූ
මෝහක්ෂය වූ
උතුම් නිවන් සුව අත්වේවා ///

206.සම්මා තිසරණ සරණ වෙත්වා
සියලු විත බන්ධන
නීච බන්ධන
ක්ලේෂ බන්ධන

මාර බන්ධන
නිරෝධ වෙත්වා ///
<u>නිබ්බාන පරම සුඛයෙන්</u>
<u>සුඛිත වෙත්වා</u> (වැඩි වාර ගණනක්)

207.සැමට සම්මා තිසරණ සරණ
වෙත්වා
සියලු වින බන්ධන අනාථයි
සියලු වින බන්ධන නිරෝධ
වෙත්වා
සියලු ක්ලේෂ බන්ධන අනාථයි
සියලු ක්ලේෂ බන්ධන
නිරෝධ වෙත්වා
සියලු කාම බන්ධන අනාථයි
සියලු කාම බන්ධන
නිරෝධ වෙත්වා
සියලු නීච බන්ධන අනාථයි
සියලු නීච බන්ධන
නිරෝධ වෙත්වා
සියලු මාර බන්ධන අනාථයි
සියලු මාර බන්ධන
නිරෝධ වෙත්වා
අතහැරීම නාථයි
අතහැරීම වෙත්වා
නොඇල්ම නාථයි
නොඇල්ම වෙත්වා
මිදීම නාථයි - මිදීම වෙත්වා
නිවනම නාථයි - නිවනම වෙත්වා
නිබ්බාන පරම සුඛයෙන්
සුඛිත වෙත්වා

208.මමද සියලු ලෝක
සියලු සත්ත්වයෝ කෙරෙහි
රාග බන්ධන නිරෝධ වෙත්වා
භව බන්ධන නිරෝධ වෙත්වා
ජාති බන්ධන නිරෝධ වෙත්වා

මමද සියලු ලෝක
සියලු සත්ත්වයෝ කෙරෙහි
ද්වේශ බන්ධන නිරෝධ වෙත්වා
භව බන්ධන නිරෝධ වෙත්වා
ජාති බන්ධන නිරෝධ වෙත්වා

මමද සියලු ලෝක සියලු
සත්ත්වයෝ කෙරෙහි
මෝහ බන්ධන නිරෝධ වෙත්වා
භව බන්ධන නිරෝධ වෙත්වා
ජාති බන්ධන නිරෝධ වෙත්වා

මමද සියලු ලෝක සියලු
සත්ත්වයෝ කෙරෙහි
මාර බන්ධන නිරෝධ වෙත්වා
භව බන්ධන නිරෝධ වෙත්වා
ජාති බන්ධන නිරෝධ වෙත්වා

(මෙයින් මාර බලවේග ඇවිස්සිය
හැකි බැවින් හැකි තරම් පරිස්සමින්
වඩන්න)

209.මමද සියලු ලෝක සියලු
සත්ත්වයෝ කෙරෙහි
රාග බන්ධන නිරෝධ වෙත්වා
රාග භව නිරෝධ වෙත්වා
රාග ජාති නිරෝධ වෙත්වා

මමද සියලු ලෝක සියලු
සත්ත්වයෝ කෙරෙහි
ද්වේශ බන්ධන නිරෝධ වෙත්වා
ද්වේශ භව නිරෝධ වෙත්වා
ද්වේශ ජාති නිරෝධ වෙත්වා

මමද සියලු ලෝක සියලු
සත්ත්වයෝ කෙරෙහි
මෝහ බන්ධන නිරෝධ වෙත්වා
මෝහ භව නිරෝධ වෙත්වා
මෝහ ජාති නිරෝධ වෙත්වා

මමද සියලු ලෝක සියලු
සත්ත්වයෝ කෙරෙහි
මාර බන්ධන නිරෝධ වෙත්වා
මාර භව නිරෝධ වෙත්වා
මාර ජාති නිරෝධ වෙත්වා

(මෙයින් මාර බලවේග ඇවිස්සිය
හැකි බැවින් හැකි තරම් පරිස්සමින්
වඩන්න)

210.ඉතිපි සෝ භගවා... භගවාති
අනුත්තරෝ පුරිසධම්ම සාරථී

(කොඩිවින, හිර බන්ධන ආදියෙන්
සමාධිය නොනැගෙන විට මෙහි
"අනුත්තරෝ පුරිසධම්ම සාරථී"
යන කොටස පැය 2 1/2 ක් හෝ ඊට
වැඩි කාලයක් එක දිගට වඩන්න.
ඉන්පසු පහත කමටහන වැඩීම
විශේෂයි. මුලින් පුරුදු වෙන අයට
අවශ්‍ය නම් ඉහත පළමු කොටස
විතරක් වඩන්නත් පුළුවන්.)

මමද සියලු ලෝක සියලු
සත්ත්වයෝ
කාම දුගති ඡන්ද රාගයෙන්
මිදෙත්වා
කාම සුගති ඡන්ද රාගයෙන්
මිදෙත්වා
රූපාවචර ඡන්ද රාගයෙන්
මිදෙත්වා
අරූපාවචර ඡන්ද රාගයෙන්
මිදෙත්වා
<u>නිවන් දකිත්වා</u> ( වැඩි වාර
ගණනක්)

211. සම්මා තිසරණ සරණයි
සියලු වින බන්ධන දෝසාන්ධකාර
නිරෝධ වෙත්වා ///
නිවනම වෙත්වා ///

212. ඉතිපි - සෝ භගවා - අරහං -
සම්මා සම්බුද්ධෝ -
විජ්ජාචරණ සම්පන්නෝ -
සුගතෝ - ලෝකවිදූ -
අනුත්තරෝ පුරිසධම්ම සාරථී -
සත්තාදේව මනුස්සානං -
බුද්ධෝ - භගවාති

සබ්බ බුද්ධානු භාවේන
සබ්බ ධම්මානු භාවේන
සබ්බ සංඝානු භාවේන
සබ්බ රෝග විනස්සතු
සබ්බ භය විනස්සතු
සබ්බ වින විනස්සතු
සබ්බන්තරාය විනස්සතු
වින බන්ධන විනස්සතු
සබ්බ බුද්ධානු භාවේන
සොත්ථි මේ හෝතු සබ්බදා
සොත්ථි තේ හෝතු සබ්බදා
සාධු ///

213. බුද්ධ රතනානු භාවේන
සබ්බ වින හිර බන්ධන විනස්සතු
සබ්බ මාර හිර බන්ධන විනස්සතු
සබ්බ නීච කුල හිර බන්ධන
විනස්සතු
ධම්ම රතනානු භාවේන...
සංඝ රතනානු භාවේන...
තින්නං රතනානං ආනු භාවේන...
(පෙර පරිදිම යොදා ගන්න.)

214. මටද හැමටද
සම්මා තිසරණ සරණයි
සියලු මාර බන්ධන
නිරෝධ වෙත්වා ///
(මාර බන්ධනවලට විශේෂයි.)

215. සම්මා සම්බුදු සරණයි
සියල්ලද සියල්ලෝද
ලෝභ වින බන්ධනවලින්
අතමිදෙත්වා
ද්වේශ වින බන්ධනවලින්
අතමිදෙත්වා
මෝහ වින බන්ධනවලින්
අතමිදෙත්වා
මාර වින බන්ධනවලින්
අතමිදෙත්වා
නිවන් සුවයෙන් සුඛිත වෙත්වා ///

**සටහන**
**නීතිඥ චන්දන සිරිවර්ධන**

# නොපළ වූ ගුණ කඳ XVIII



වහරක අභයරතනාලංකාර මහ තෙරුන් වහන්සේ

## අභයරතනාලංකාරය - 89

තමන්ගෙ ඇස් නොපෙනෙන පුතාගේ ඇස්වලට ප්‍රතිකාර ගන්න ඇවිත්, වහරක අභයරතනාලංකාර මහ තෙරුන් වහන්සේ ගිහි වතක සිටියදී සිදු කළ සාසනික කටයුතුවලට එදා පටන් සහසම්බන්ධ වූ උපාසක අම්මා කෙනෙකුගේ අත්දැකීම් කිහිපයක් පසුගිය කලාප දෙකෙන් ඉදිරිපත් කළා. මේ අත්දැකීම්වල එන බොහොමයක් කාරණා මෙලොව පරලොව අභිවෘද්ධියට තම තමන්ගෙ අත්හදා බැලීම් ඔස්සේ යොදා ගන්න පුළුවන් කියල හැඟෙන නිසාත්, මේ වගේ ගුණ පුරපු උතුමන්ගේ ගුණ කඳ දැනගෙන චිත්ත ප්‍රසාදයක් හෝ ඇති කරගෙන සංසාරයේ භයානකත්වය වටහා ගැනීම සඳහාත් මෙවරත් ඇය විසින් හෙළිදරව් කළ අත්දැකීම් බිඳක් මේ විදිහට ඉදිරිපත් කරනවා.

වහරක අබේරත්න අනුසාසකතුමා පොහොය දවස්වල සිල් සමාදන් වෙන්න එන පිරිසට ඒ සීලය අධිෂ්ඨාන කර ගත්ත කාල සීමාව තුල හරියටම රකින්න අවවාද අනුසාසනා කළා. ඒ එන පිරිස් ඒ අවවාද අනුසාසනා පිළිඅරගෙන තමන්ගෙ නිවසින් ආපු අය සමග හෝ පිටස්තර අය සමග හෝ ඒ කාල සීමාව තුල කතාබහ කළේ නෑ. එතුමා මේ දේශනා කරන දහම අපිට වැටහෙනවද කියලත් නිතරම අහනවා. බොහොම සරලව පැහැදිලි කරන ඒ දේශනා හැම දෙනාම අහගෙන හිටියෙ ඒ වගේ දහම් කරුණු මීට පෙර අහල නැති නිසා. ඒ කාලෙ ඒ දේශනා අහනකොට අපට දැනුනෙ පුදුම සැහැල්ලුවක්. දේශනා අවසානයේ නොතේරුන තැන් අහන්න කිව්වත් අවබෝධයෙන් හිටපු පිරිස් ආපු දාට විතරක් ඒ අය ප්‍රශ්න අහනවා. ඒ ආපු පිරිස 4 - 5 ක් වුනත්, 100 - 200 ක් වුනත්, එතුමාගේ දහම් දේශනා මහ පිරිසක් ඉන්න ආකාරයට දේශනා කරන බව තමයි අපිට හැඟුනෙ.

එක අමාවක පොහොය දවසක සීල සමාදානයට ඇවිත් හිටියෙ 5 - 6 දෙනෙක් වගේ පිරිසක්. එදා එතුමා අති දුර්ලභ භාවනා ක්‍රමයක් දේශනා කරන බව කියල, මේ භාවනාව කරගන්න නම් ඔබලාට ටිකක් අපහසු වෙයි, ඒ වුනත් වීර්ය වඩල කර ගත්තොත් අනන්ත සසර පටන් තම තමන් කර ගත්ත කර්ම බලවේගවල විපාක එනකොට මේ භාවනාවේ අනුහස් බලයෙන් මහා බැම්මක් බැන්ද වගේ ඒ කර්ම බලවේග විපාක නොදී නතර වෙනව කියලත් කිව්වා. ඒ උතුම් භාවනාව තමයි ආර්ය මෛත්‍රී භාවනාව.

කොඩි පූජා කිරීම ජයග්‍රහණය අත් කර ගැනීමට හේතු වන පිංකමක් බව එතුමා දේශනා කරල තිබ්ච්ච නිසා, මම ඒ ආර්ය මෛත්‍රී භාවනාව සාරාංශ කරල කොඩියක ආකාරයට සකස් කරල කොළ 1,000 ක් මුද්‍රණය කරල එතුමා පවත්වපු බෝධි පූජාවකට සහභාගි වුන පිරිසට බෙදා දුන්නා. පස්සෙ දවසක මම අනුරාධපුර ජය ශ්‍රී මහා බෝධිය වැඳ පුදා ගන්න ගිය වෙලාවක, ඒ උතුම් භාවනාව විසාල රෙදි කොඩියක මුද්‍රණය කරල දෙවෙනි මළුවේ බෝ සමිඳු අභියස ඉහලින් එල්ලල තියෙනව දැක්කා. පහල බෝ සමිඳුන් අභියසත් ඒ ආකාරයටම කුඩාවට මුද්‍රණය කරපු කොඩි පෙළක් වටේට ගැට ගහල තිබුනා.

එතුමා ආශිර්වාද බුද්ධ පූජාව පවත්වපු දවසක හවස ආපු පිරිසක් උණ ලීවලින් සකස් කරපු පහන් වැටක ආලෝක පූජාවක් පැවැත් වුවා. ඒ පහන් ආලෝක පූජාව තුනුරුවන් ගුණයට පූජා කිරීමෙන් පසු එතුමාගේ සමාධි දේශනාවේ මහා ප්‍රබල හඬක් නැගිල ආවා. ශ්‍රී සද්ධර්මය නැවත මතු වෙලා බබළනවා, ඒ සත්දහම ලෝ සතට දෙන්න උපකාර කරන්න කියල සක්‍ර දෙවියොත් සතර වරම් දෙවියොත් අමතමින් තමයි සමාධි කවි දේශනාව පැවැත් වුනේ. ඒ වෙලාවෙ අහස දේදුනු ආකාරයට වර්ණ ගැන්විලා තිබුනා. එදා ඒ පහන් ටික නිවිල ගියත් ගුණ කඳින් තවමත් දැල්වෙන බව, බැබලෙන බව එතුමා ගිජ්දාගම පුණ්‍ය භූමියේදී කිව්වා.

මේ උතුම් ශ්‍රී සද්ධර්මය දේශනා කරන එතුමා නැවතිලා හිටපු ඒ කුඩා නිවසේ ඉඳන් ධර්ම දේශනා කරන ශාලාවට එනකොට, දවසක් බැතිබර සිතින් පින්වත් පිරිස ඇහුවා පාවඩයක් එලන්නද කියල. ඒ වගේ දේවල් සුදුසු වුනත් දහම් අවබෝධයක් නැති පිරිස් අකුසල් සිද්ධ කරගන්න නිසා එතුමා ඒක ප්‍රතික්ෂේප කළා. මොකද එතුමා නිතරම කටයුතු කළේ, ඒ එන පිරිස් කියන කරන දේවල්වලින් අකුසල් රැස් කර ගැනීමෙන් වළක්වන්න.

මුල් දවස්වල පිරිස බුද්ධ පූජාව අරගෙන ආවත් ඒ වැඩසටහන්වලට සහභාගි වෙන පිරිසට නම් ආහාරපාන අඩුවෙන් තමයි ලැබුනෙ. දවසක් එතුමා තමන්ට ලැබුන ආහාරපත ඒ ආපු පිරිස හැමෝටම බෙදල දෙන්න කියල දුන්නා. ඒ එන කිසිම කෙනෙකුට බඩගින්නෙ යන්න දෙන්න එපා කිව්වා. එදා පටන් ඒ පිරිස හැමෝටමත් එක්ක ආහාර ගෙනාවා. එතුමාගේ ධර්ම දානය වගේම ආහාර දානයෙත් කිසිම අඩුවක් නම් වුනේ නෑ.

එතුමා ඒ දවස්වල අසනීප වෙලා හිටපු තමන්ගෙ අම්මව ඒ ශාලාවේ කෙළවරට වෙන්න කාමරයක් හදල ඒකෙ නතර කරගෙන ඇප උපස්ථාන කළා. එතුමා තමන්ට ලැබුන ආහාරපතින් පෝෂ්‍යදායක කොටස් වෙන් කරල තමන්ගෙ අම්මට කවල පොවල ඊට පස්සෙ තමයි ආහාර ගත්තෙ. තමන් හදපු වඩපු අම්මට තාත්තට ගහල බැනල පන්නන දරුවො ඉන්න යුගයක, එතුමා තමන්ගෙ අම්මට ඒ විදිහට ඇප උපස්ථාන කරන ගමන් ඇයව පොහොය දවස්වලට සිල් සමාදන්

කෙරෙව්වෙ උපකාරයට කෘතෝපකාර කරන ගුණය මනාව පෙන්වා දෙමින්.

අබේරත්න අනුසාසකතුමා රයක් දහවලක් බලන්නෙ නැතිව එන පිරිසගේ අවශ්‍යතාවයන් ඉටු කරල දීම නිසා බොහෝ සෙනග එන්න පටන් ගත්තා. අපල උපද්‍රව තියෙන අය ගැන සමාධි ඥානයෙන් බලල ඒ අයට අවශ්‍ය සෙත් ශාන්ති ආශිර්වාද කටයුතු සිද්ධ කරල දුන්නා. ඒ පිරිස්වල සසර කර්ම බලවේග නිසා මේ වගේ දේවල් එනව කියල ධර්මානුසාසනා කරමින්, ඒ ස්ථානයේ පැවැත්වෙන සිල් වැඩසටහන්වලටත් ආශිර්වාද බුද්ධ පූජාව සඳහාත් යොමු වෙලා ඒ අකුසල කර්ම ගෙවා ගන්නා ආකාරය පහදල දුන්නා. මේ සත් කටයුතු නිසා එන පිරිසත් දවසින් දවස වැඩි වුනා. ඒ පිරිස් ලබා ගත්ත සහන අප්‍රමාණයි. බොහෝ පිරිස් තම තමන්ගෙ වේලාපත්කඩත් බලව ගත්තා. එතුමා සමාධි ඥානයෙන් බලල ඒවාටත් ප්‍රතිකාර ක්‍රම පෙන්වා දුන්නා. බුදු ගුණ ආශිර්වාද යන්ත්‍ර සකස් කරල දීල ආශිර්වාද කළා. ඒ අප්‍රමාණ ගුණ ගැන පහදල දුන්නා.

ඒ වගේම බොහෝ අයගෙ කරදර බාධකවලටහේතුවෙලාතිබුනගෙවල්වල තියෙන දෝස අඩුපාඩුත් පෙන්වා දීල, ගෙවල් හදනකොට සිද්ධ වෙලා තියෙන අඩුපාඩුකම් නිසා දියුණුව අඩාල වෙලා අසමගිකම් ඇතිවෙලා තිබ්බ්ච අයට ඒවා නිවැරදි කරල සකස් කරල දුන්නා. ඒ සඳහා උපදෙස් දුන්නා. දවසක් සමාධි ඥානයෙන් අසනීපයක් ගැන බලාගන්න ආපු මහත්මියකගෙ කකුලෙ අසනීපය සුව වෙන්නෙ නැත්තෙ, ගෙදර කුස්සියේ මිරිස් ගල තියල තියෙන වැරදි ආකාරය නිසා කියල, ඒ මිරිස් ගල එතැනින් ඉවත් කරල වෙන තැනකට ගන්න කිව්වා. ඊට පස්සෙ දවසක ඇය ආවෙ මිරිස් ගල තිබ්බ්ච තැන වෙනස් කරල ඒ අසනීපයත් සුව කරගෙන. දුර ඉඳගෙන වුනත් යමක් සමාධියෙන් බලන්න පුළුවන් ඒ තරම් සියුම් ඥානයක් එතුමට තිබුනා. හැබැයි එතුමා කියපු දේවල් මුලදී ඒ තරම් ගණන් ගත්තෙ නැති දුර ඉඳන් ආපු සමහර පිරිස් පවා ඊට පස්සෙ නිතරම එන්න පටන් ගත්තෙ ගුණ ධර්ම වඩාගන්න කියල.

ඒ වගේම මැණික් ගල්වල තියෙන කිරණ ශක්තිය ගැන කියල, ඒ ආපු පිරිස්වලට තියෙන ලෙඩ දුක් දුරු වෙන්න ඒවායින් හදපු ආභරණවලට සෙත් ශාන්ති කරල ගැලපෙන ආකාරයට පළඳින්න සකස් කරල දුන්නා. කලින් දැනගෙන හිටපු නැති තෙරුවන් ගුණ ආශිර්වාද බල මහිමය ගැන එතුමා සමාධි ඥානයෙන් දේශනා කරන විස්තර දැනගන්න සෙනග නොකැඩී එන්න පටන් ගත්තා. ඒ ස්ථානයත් දවසින් දවස දියුණුවට පත් වුනා.

දවසක් සමාධි ඥානයෙන් යමක් දැනගන්න මම ගියපු වෙලාවක එතුමා කිව්වා, නෝන මහත්තයා මෙතුවක් කල් හිටියෙ තුංමං හංදියක, දැන් නම් හරි මාර්ගයට වැටිල ඉන්නෙ කියල. සාස්තරකරුවෙක්ගෙ කීමකට අනුව අපේ මියගිය අම්මට පූජා වට්ටියක් දේවාලයකට පූජා කරල දවස් කිහිපයකට පස්සෙ මම එතුමා මුණගැහෙන්න ගියපු දවසක, දේවාලයකට ගිහින් අම්ම වෙනුවෙන් පූජා වට්ටියක් පූජා කළාද කියල අහල එතුමා මෙහෙම කතාවක් කිව්වා. ඒ පූජාවේ තරක් වෙච්ච උක් ගහක් තිබිල තියෙනවා. ඒක දැකල ඒ පූජාව ගන්න එතැනට ගිය දේව පිරිස අම්මට කොලොප්පන් කරනව කියල දුකින් ඉන්නවා. ඉක්මනටම අෂ්ටපාන ගිලන්පස පූජාවක් එක්ක අලුත් උක් පැණි එකතු කරල චතුමධුර පූජාවක් බුද්ධ පූජාවට තියල පූජා කරල ඒ පින් දෙවියන්ට අනුමෝදන් කරන්න කිව්වා. ඊට පස්සෙ අම්ම එතුමාට කිව්වලු, ඔය ළමයට එක එක දේවාල ගානෙ යන්න එපා කියන්න, ඔබතුමා ළඟට යන්න කියන්න කියල.

අම්ම ජීවත් වෙලා ඉන්න කාලෙ නිතරම බුලත් වට්ටියක් අතේ තියාගෙන බුලත් විට හැපුවා. එතුමා කිව්වා, අම්මා චිත්‍රයක් ඇඳල අත් පුම්බපු හැට්ටයක් ඇඳගෙන බුලත් වට්ටියක් අතේ තියාගෙන පුටුවක උඩ වාඩිවෙලා ඉන්න ආකාරය එතුමා සමාධියෙන් දැක්ක කියල. අම්ම නිතරම වගේ හිටියෙ ඒ ආකාරයට තමයි. ඉතින් එතුමා සමාධි ඥානයෙන් දකින දේවල් අපිට ඒ විදිහට කරුණාවෙන් පෙන්වා දුන්නා.

කායිකවත්,මානසිකවත්දුර්වලවෙලා රැකියාවක් නැතිව හිටපු තරුණ දුවකගේ වේලාපත්කඩ බලපු එතුමා මෙහෙම කිව්වා. ග්‍රහයින් නම දෙනාගෙන්ම අපල තියෙනවා. සියලු හොඳ දේවල් යටපත් වෙලා තියෙන්නෙ. කුසල් දහම් වඩලම කුසල් ශක්තිය මතු කර ගත යුතුයි. සීල, සමාධි ගුණ පූර්ණ කරගන්න මේ පවත්වන උත්තම බුද්ධ පූජාවන් සඳහා සහභාගි වෙලා බුද්ධ උපස්ථානයත්, සිල් සමාදන් වෙන පිරිස්වලට දාන මාන ඇප උපස්ථානත්කරන්න.අනාගතයේරජයේ රැකියාවකට අවස්ථාව උදා වෙනවා... මේ විදිහට කිව්ව එතුමාගේ ඒ ප්‍රකාශය ඊට පස්සෙ හරි ගියා.

**ආර්ය උතුමන් ශ්‍රී සද්ධර්මය දේශනා කරනකොට ඒ උතුමන්ගේ ගුණ කඳ හඳුනන්නෙ නැති ලෝ සතුන් නොයෙක් අපවාද උපවාද කරගෙන ඒ උතුමන්ට නිගරු කිරීම, උසුලා ගත් බරක් බිම තබන්නා සේ සතර අපාගත වෙන්න හේතු කාරක වෙන බව එතුමා නොයෙක් අවස්ථාවල දහම් සාකච්ඡාවලදී උදාහරණත් එක්ක පෙන්වා දුන්නෙ, තමන්ගෙ පෙර අත්බැව්වල අත්දැකීම් පවා යොදාගෙන ලෝක සත්ත්වයා කෙරෙහි මහත් කරුණාවෙන්. මේ සංසාරයේ භයානකත්වය ගැන කියනකොට, ගෞතම බුදු පියාණන් වහන්සේ වැඩ හිටපු කාලයේ තමන් තිරිසන් අත්බැවක් ලැබුව කියලත් එතුමා කිව්වා.** (මේ පිළිබඳ වැඩි විස්තර 45 කලාපයේ අභයරතනාලංකාරය යටතේ පළ කරල තියෙනවා.)

**මහ ඉසි නුවණ ලැබුවත් තිරිසන් වන්නේ**
**සිහි කළ එවන් කාමුක මහ විසකින්නේ**
**පිරිහී එවන් තිරිසන් භවයට එන්නේ**
**ඔබ දුටු දිනයෙදිම තිරිසන්මය වන්නේ**

**දරුවනි එවන් ඔය සතු ඔය ලෙස ඉන්නා**
**මතු මගෙ බුදු පුතෙක් වෙයි සිහි කරමින්නා**
**තිරිසන් වුනත් මම එම කල එලෙසින්නා**
**ඔබ දෙසු වදන් මුවගින් එම ලෙස ගන්නා**

**සුළු මොහොතකින් සම්ඳුනි එම කඳුලු කැට**
**වැටෙමින් මා මුහුණ මතකයි එබඳු වට**
**පෙර දින උතුම් බුදු සිරිපා පියුමකට**
**ගරු කළ පිනෙන් එම අත්බව හැරුමකට**

**ගරු ගුණ සිහි කරම එම කල මම එන්නේ**
**සම්ඳුනි එවන් කල ඒ විලසය ගන්නේ**
**මෙත් ගුණ කළද සිහියට මේ ලෙස එන්නේ**
**බුදු සව් කෙනෙක් දැක බැනුමක් කර ගන්නේ**

**යහපත් වදන් බුදු පුතු සව් දෙසන තැන**
**ඔය බලු වදන් මොන බොරු දැයි කිව්ව තැන**
**ඒ පින් බිමත් හැරලා එම පවිනි වන**
**ලැබූ අත්බැවක් විය බලු බව ලැබුම කින**

**සම්ඳුනි එදා මග තතු මා දැක ගන්නේ**
**කටහඬ නොමැති ගොලු හඬමය පිටවන්නේ**
**තිබුනත් සිහිය මා ළඟ බලුමය වන්නේ**
**එම ගති විලස එම සව් ළඟමය ඉන්නේ**

දවසක් එතුමා කිව්වා, මම මේ යටපත් වුන දහම ගැන පොතක් ලියනවා, දැනටමත් ඒ පොත ලියන්න මට පැන් 14 ක් ඉවර වුනා කියල. ඒ පොත තමයි "සැඟවුනු බොදු මග කල එළි දකී" කියල එළි දක්වල තියෙන්නෙ. ඒ වගේම එතුමා පොල්ගහවෙල ගිජ්දාගම පූජා භූමියේ ඉන්න කාලෙ ඒ ගමේ දායක මහත්තයෙක්ගෙ ආරාධනාවකට අනුව "අධ්‍යාත්මයේ විද්‍යාව පිළිබිඹු



පින්කමකට මුල පුරමින්

කරන බෝධි වන්දනාව සහ බුද්ධ වන්දනා" කියන පොතක් එළිදැක්වුවා. ඒක සමවතින් කරපු පටිභාන කාව්‍යමය දේශනයක්. ඒ දායක මහත්තය කිව්වා, ඔබතුමා අප්‍රමාණ බෝධි පූජා බුදු ගුණ දේශනා පවත්වනවා, කවි දහස් ගණන් දේශනා කළත් අපිට ඒ එක පදයක්වත් හිතේ රඳවගන්න බෑ, අපිටත් බුද්ධ වන්දනාව කරගන්න කුඩා පොතක් සකස් කරල දෙන්න කියල. ඒ ආරාධනය අනුව තමයි එතුමා ඒ පොත සකස් කරල දුන්නෙ. ඒ පොත පොල්ගහවෙල නගර සභා භූමියේදී එදා වැඩම කර වදාළ මහා සංඝ රත්නයත්, ප්‍රභූ පිරිසත්, රැස්වෙලා හිටපු පින්වත් පිරිසත් ඉදිරියේ උත්සවාකාරයෙන් පිළිගැන්වුවා.

ඒ කාලෙ අපේ ගෙදර කවුරුහරි අසනීප වුනාම ඒ පොතේ තිබ්බ්ච අටවිසි බුදු ගුණ සහ බෝධි ගුණ දේශනාත්, ජය ශ්‍රී මහා බෝ සමිඳු වැඩීමෙන් සෙත් ලබා ගන්නා ආකාරය පිළිබඳ දේශනාත් පොත බලාගෙන කියවමින් පැන් බෝතලයකට දෙහි අත්තක් දාල ඒ දෙහි අත්තෙන් ලෙඩාට පැන් ඉසිමින් සෙත් පතනවා. වරුවක් දෙකක් යනකොට ලෙඩා හොඳටම සුව වෙනවා. ඒ දෙහි අත්ත පහුවදා වෙනකොට ගඳ ගහනවා. මොකද අර ලෙඩාගෙ තිබ්බ්ච වස් දොස් දෙහි අත්තට ඇද ගැනීම නිසා. ඇස්වහ කටවහ දුරු වෙන සෙත් ආශිර්වාද පූජාවක් තමයි ඒ විදිහට කවියෙන් ඒ පොතේ සටහන් කරල තිබුනෙ.

ඒ වගේම එතුමා විසින් සමවතින් කරන ලද කාව්‍යමය දේශනා ඇතුලත් තවත් පොතක් "පෙර දා දෙසූ දහම්" නමින් එළි දැක්වුවා. ඒ පොත දුර පළාතක ඉන්න අම්ම කෙනෙක් තැපෑලෙන් ගෙන්වා ගත්තා. අනුරාධපුරයේ තිබ්බ්ච ඇගේ නිවසක් අවුරුදු ගණනාවක් ගියත් විකුණගන්න බැරිවෙලා තියෙනවා. ඇය මහත් ගරු බැති සිතින් වහරක හාමුදුරුවන්ගෙ ගුණ මෙනෙහි කරල ඒ දහම් පොතේ තිබුන දොළොස් මහා පහන් පූජා දේශනාව දවස් 21 ක්ම නොකඩවා ශබ්ද නගල කියවල තියෙනවා. ඒ වගේම ඒ සෙත් බලෙන් තමන්ගෙ බලාපොරොත්තු ඉෂ්ට වේවා කියල ප්‍රාර්ථනා කරල තියෙනවා. ඒ පොතේ තියෙන 9 වන කවිය කියවන හැම දවසකම අනුරාධපුර විකුණන්න තියෙන නිවසේ වහල තියෙන ඉස්සරහ දොර ඉදිරිපිට යම් කිසි පුද්ගලයෙක් වැඳගෙන ඉන්න ආකාරය ඇයට පොත තුලින්ම පේන්න පටන් ගත්ත බවත් කිව්වා. ඒ ගැන හිතන්නෙ නැතිව ඇය පොත කියවල අවසානයේ හැමෝටම පින් අනුමෝදන් කළ බවත් වැඩි කල් නොයවාම ඒ ඉඩම විකුණගන්න පුළුවන් වුනා කියලත් ඇය කිව්වා. මේ තමයි ඒ 9 වන කවිය.

**සැම නොමිනිසුනි සැම සැඩ ගති හැරලන්න**
**බුදු ගුණ සිසිල සැම ගෙන සතුටුම වන්න**
**මෙම දෙන එළිය අද සිට දුන් ලෙසකින්න**
**සිහි කර පුදන්නට ගරු ලෙස වැඳ ගන්න**

ඒ කාලෙ අපි බෝධීන් වහන්සේ ළඟත් බෝධි පූජා පවත්වල ඒ කවි කියල අපේ ප්‍රශ්න විසඳගන්නවා. දවසක් අපි බෝධි පූජාවක් පවත්වල දොළොස් මහා පහන් පූජාවේ කවි කියන්න පටන් ගත්තා. ඒත් අපිට කිසිම විදිහකින් ඒ කවි කියන්න බැරි වුනා. ඉතින් අපි බැලුවා ඇයි මෙහෙම වෙන්නෙ කියල. එතකොට තමයි අපිට මතක් වුනේ, අපි පහන් පත්තු කරල පූජා කරන්නෙ නැතුවයි ඒ කවි කියන්න පටන් ගත්තෙ කියල. ඊට පස්සෙ ඉක්මනට කඩේට ගිහින් පොල්තෙල් ගෙනත් පහන් දල්වල ඒ කවි කියනකොට කිසිම ගැටළුවක් වුනේ නෑ.

අබේරත්න අනුසාසකතුමා කිසිම දවසක කවුරුහරි කරපු යහපත් ඉල්ලීමක් පැහැර හැරියෙ නෑ. දවසක් ඈත දුර පළාතක අංශභාගය හැදිල රෝගී වෙච්ච අම්ම කෙනෙක්ගෙ ඥාතීන් ඇවිත් ඒ අම්මට ඇහෙන්න කියන්න පටිගත කරගන්න සෙත් කවි කිහිපයක් හදල දෙන්න කියල ඉල්ලීමක් කළා. එතකොට එතුමා කිව්වා, කවි හදල දුන්නත් වැඩක් නෑ කියල. ඒ වුනත් එතුමා ඒ රෝගියාගේ නම ඇතුලත් කරල සුවපත් වෙන්න කියල එවෙලෙම කවි කිහිපයක් සමාධියෙන්ම සකස් කරල දුන්නා. ඥාති වෙන නිසා මමත් ඒ රෝගියා බලන්න ගියා. ඒ රෝගියා ඒ කවි අහනකොට පණ තිබ්බ්ච අත උස්සගෙන නළලට තියා ගන්නවා. ඒ තමයි රෝගියා වන්දනා කරන හැටි. ඊට පස්සෙ ටික දවසකින් ඒ රෝගියා මියගියා. රෝගියා මියයනව කියල සමාධියෙන් දැනගෙන තමයි එතුමා කිව්වෙ, කවි හදල දුන්නත් වැඩක් නෑ කියල.

තවත් දවසක් අම්ම කෙනෙක් ඇවිත් කිව්වා, බොහොම උගත් රජයේ රැකියාවක් කරන තමන්ගෙ පුතා නොගැලපෙන විවාහයක් කරගන්න යනවා, ඇය ඊට විරුද්ධ වීම නිසා ඇයටත් සැර පරුස විදිහට බනිනවා කිසිම කීකරුකමක් නෑ ඒ දරුවා බේරල දෙන්න කියල. එතකොට එතුමා කිව්වා ආර්ය මෛත්‍රී භාවනාව නොකඩවාම වඩන්න කියල. ඒ කිව්ව විදිහටම ඒ මව භාවනාව වඩද්දි පුතා කලින්ටත් වඩා සැර පරුස විදිහට අම්මට නොගැලපෙන වචන කියමින් නොගැලපෙන විදිහට හැසිරෙන්න පටන් අරගෙන තියෙනවා. ඊට පස්සෙ ඒ අම්මා නැවතත් ඇවිත් අබේරත්න අනුසාසකතුමා මුණගැහිල ඒ බව දැනුම් දුන්නම එතුමා කිව්වා, දැන් ගින්න හොඳටම රත් වෙලා ඔය රත්වීම ටිකෙන් ටික නිවෙනවා, ඒ නිසා භාවනාව වඩල සෙත් පැතීම නවත්වන්න එපා කියල. ඒ අම්මත් පුතාට ඇහෙන්න හයියෙන්ම සෙත් පැතීම කරත්දි පුතාගෙ තද බව ටිකෙන් ටික අඩු වෙලා, දවසක් කලබල නොකර අම්ම කියන දේ අහගෙන ඉඳල තියෙනවා. ඒ නිසා මේ කියන්නෙ මොනවද කියල ඔහුට වැටහිලා තියෙනවා. ඔහු කලින් හිතාගෙන හිටියෙ අම්ම ඔහුට වස් කවි කියනව කියල. ඇත්ත දැනගත්තට පස්සෙ ඒකෙන් දුකට පත් වෙච්ච පුතා අඬ අඬා අම්ම ළඟට ඇවිත් වැඳල සමාව අරගෙන, අම්මත් එක්ක පුද පූජා අරගෙන අනුසාසකතුමා හමුවෙලා පොහොය දවසක කමා කරවගෙන ආශිර්වාද ලබා ගන්නවා අපි දැක්කා. අම්මයි පුතයි දෙන්නම



# වරද්දන බුදු බණ

## සත්පුරුෂ සේවනයකින් තොරව සෝවාන් විය හැකිද?

03 කොටස

වර්තමානයේ එක්තරා රූපවාහිනී නාලිකාවක් මගින් පවත්වාගෙන යන දහම් වැඩසටහනකින්, කෙනෙකුට සෝවාන් වෙන්න මගඵල ලාභියෙක්ගෙන්ම බණ අහන්න අවශ්‍ය නැති බව ප්‍රකාශ කරනවා. මෙතෙක් යටපත් වෙලා තිබුණ දහම් න්‍යායන් මතු කර දුන්නට පසුවයි, කෙනෙකුට සෝවාන් වෙන්න මග ඵල ලාභී ආර්ය උතුමෙක්ගෙන්ම ධර්ම ශ්‍රවණය කරන්න ඕන කියන කාරණය ඉස්මතු වෙලා ආවෙ. නැත්නම් මෙතෙක් කාලයකට මේ වගේ මත වාදයක් බෞද්ධ සමාජය තුලින් මතු වෙලා තිබුනෙ නෑ. සත්‍ය න්‍යායට පහර ගැසීමේ බලාපොරොත්තුවෙන් තමයි කෙනෙකුට සෝතාපන්න වෙන්න ආර්ය උතුමෙක්ගෙන්ම බණ අහන්න අවශ්‍ය නෑ කියන මතවාදයක් මේ වැඩසටහන මගින් ඉදිරිපත් කරල තියෙන්නෙ. මේ මතය ත්‍රිපිටක පෙළ දහමට කොතෙක් දුරට ගැලපෙනවද කියල විමර්ශනය කරල බලමු.

අපායට නොගිහින් බේරුනා කියල එදා එතුමා හිනා වුනා.

තවත් ඒ වගේම තමන්ගෙ ළඟම හිතවත් කෙනෙක්ගෙන් එන හිරිහැර කරදර ගැන නෝන කෙනෙක් ඇවිත් එතුමාට කිව්වම, මේ උතුම් ආර්ය මෛත්‍රී භාවනාව පොතක් විදිහට මුද්‍රණය කරන්න කියල ඒක සකස් කරන ආකාරය ලියල දීල ඇයට ඒ භාවනාව වඩන්න කියලත් එතුමා උපදෙස් දුන්නා. ඇය ඒ පොත මුද්‍රණය කරල හැමෝටම බෙදල දුන්නා. මේ වෙනකොට ඒ මහත්මියත් කරදරවලින් මිදිල පින් දහම් රැස් කරමින් යහපත් දිවියක් ගත කරනවා.

පෙර සසරෙ කරපු අකුසල කර්ම විපාකයක් නිසා එතුමා ළඟට ආපු තරුණ දුවක් ලේ ඥාති සම්බන්ධයක් තියෙන කෙනෙක් එක්ක ඇති කරගෙන තිබිච්ච බැඳීමක් ගැන කිව්වම, එතුමා ඒ දුවට අවවාද අනුසාසනා කරල මහා ගැටීමකින් කෙළවර වෙන්න ගිය ප්‍රශ්න රැසක් විසඳල සතර වරිගයක ඥාති පිරිසත් අපා දුකෙන් මුදවල නිවනට මං පාදල දුන්නා.

මේ කිව්වෙ අපි ඇහින් දැකපු විස්තර බිඳක්. එතුමා මේ ස්ථානයට ආපු දහස් ගණන් ජනතාවට මේ වගේ මොන තරම් නම් සෙත් ශාන්ති ආශිර්වාද කළාද, නිවන් මග පූර්ණ කරගන්න කර්මස්ථාන දුන්නද!

පෙර සසරෙත් එතුමා මේ වගේ බෙහෙත් ඖෂධ ලබා දුන් බවත්, ලෝ සතුන්ගේ ප්‍රශ්න විසඳමින් ඒ අයගේ කායික මානසික රෝගීතාවයන් නිවා දුන් බවත් එතුමා දවසක් කිව්වා. ඒ කාලෙ දක්ෂ වෛද්‍යවරයෙක් වෙන්න නම්, විදුලි කොටන අවස්ථාවක නෙළුම් මල් පෙත්තක හරි හතරැස් කොටුවක් ඇඳල තමන්ගෙ ගුරුතුමාට පෙන්වල ඒ අවස්ථාව ලබා ගත යුතු බවත් එතුමා කිව්වා.

දැනටත් මේ උතුම් දහම් මග අනුගමනය කරන්න සෝවාන් ඵලයට පත් වෙච්ච දරුවන් ලක්දිව බිහි වෙලා ඉන්න බවත් එතුමා කිව්වා. එතුමා පෙර අත්බැව්වල ලබා ගත්ත ශ්‍රාවක විවරණ ආශිර්වාද බලමහිමයෙන් කුඩා කාලයේ පටන්ම මේ උතුම් සත් දහම ලෝකයාට දේශනා කරන්න ප්‍රඥාව ලැබිල තියෙන බව දවසක් කිව්වා. මේ ශ්‍රී සද්ධර්මය ලෝක සත්ත්වයාට දේශනා කරන්න උපදෙස් ගන්න උගත් ධර්මධර උතුමන් සෙව්වත් ඒ වගේ කිසිම කෙනෙක් ඒ කාලෙ එතුමාට හමු වුනේ නෑ කියලත් දවසක් සමවත් කවියකින් කියවුනා.

**බලා මට සියලු තැන ගුරෙක් කොහි සිටින්නේ**
**මුලාවෙන් මුලාවට නොවෙද සැම වැටෙන්නේ**
**අනේ මං මුලා ලොව කවුද සැප විඳින්නේ**
**ලොවේ දෙවි බඹ වෙලා මොකද දුක් විඳින්නේ**

**සටහන**
**නීතිඥ චන්දන සිරිවර්ධන**

ඛු. නි. සූත්‍ර නිපාතයේ බෞද්ධයන් අතර ඉතා ප්‍රකට සූත්‍ර දේශනාවක් තමයි රතන සූත්‍රය කියන්නෙ. සත්පුරුෂයා කියන්නෙ කවරෙක්ද කියල ඒ සූත්‍රයේ 8 වෙනි ගාථාවෙන් මේ විදිහට විස්තර වෙනවා.

යථින්දඛීලෝ පඨවිං සිතෝ සියා
චතුබ්බි වාතේහි අසම්ප කම්පියෝ
තථූපමං සප්පුරිසං වදාමි
යෝ අරිය සච්චානි අවෙච්ච පස්සති
ඉදම්පි සංඝේ රතනං පණීතං
ඒතේන සච්චේන සුවත්ථි හෝතු

නුවර දොරටුවේ පොළවේ සවි කර ඇති කණුව සිව් දිසාවෙන් හමන සුළඟින් හොළවන්න බැරිය. ආර්ය සත්‍ය හතර නුවණින් අවබෝධ කළ සත්පුරුෂයාත් එබඳුය. ආර්ය සංඝයාගේ මෙය ප්‍රණීත රත්නයකි. මේ සත්‍ය බලයෙන් යහපතක් වේවා!

මේ රතන සූත්‍ර ගාථාවෙන් සත්පුරුෂයා කියන්නෙ සිව්සස් අවබෝධ කර ගත් උත්තමයෙක් බව ඉතා පැහැදිලියි. ලොව්තුරා බුදුරජාණන් වහන්සේ සහ මහ රහතන් වහන්සේලා තමයි සිව්සස් පූර්ණ වශයෙන් අවබෝධ කරගෙන ඉන්නෙ. අනාගාමි, සකදාගාමි, සෝතාපන්න ආර්ය උතුමන් ඒ ඒ මට්ටමට සිව්සස් දහම ප්‍රත්‍යක්ෂ කරගෙන තියෙනවා.

කෙනෙක් ලෝකෝත්තර සම්මා දිට්ඨියට පත් වෙනකොට තමයි මුල්ම වරට සිව්සස් අවබෝධ කරගන්නෙ.

කතමාචාවුසෝ සම්මා දිට්ඨී? යං බෝ ආවුසෝ දුක්ඛෙ ඤාණං, දුක්ඛ සමුදයේ ඤාණං, දුක්ඛ නිරෝධෙ ඤාණං, දුක්ඛ නිරෝධ ගාමිණී පටිපදාය ඤාණං අයං වුච්චතාවුසෝ සම්මා දිට්ඨී (ම. නි. 3 - සච්ච විභංග සූත්‍රය - 512 පිටුව)

සම්මා දිට්ඨිය මොකක්ද කියල පැහැදිලි කරන ඉහත සූත්‍ර පාඨයේ, සිව්සස් අවබෝධය සසරින් එතෙර වන දැක්ම විදිහට විස්තර කරල තියෙනවා. කෙනෙක් සෝතාපන්න වෙනව කියන්නෙත් සිව්සස් අවබෝධයෙන් ලබන ලොව්තුරා සම්මා දිට්ඨිය. තථාගත ධර්මය තුළ ප්‍රථම ශ්‍රමණයාගේ පටන් සියලු ආර්ය උතුමන් සත්පුරුෂයන් වෙනවා.

සෝතාපත්ති මාර්ග ඵල අවබෝධ කර ගන්න උපකාර වන අංග හතරෙන් පළවෙනි අංගය තමයි සත්පුරුෂ සේවනය. සත්පුරුෂයා කියන්නෙ සිව්සස් දහම් අවබෝධ කර ගත්ත මගඵල ලාභියෙක් බව මුලින් කරුණු සහිතව විස්තර කළා. මේ වගේ සත්පුරුෂයෙක්ගෙන් තමයි සද්ධර්ම ශ්‍රවණය කරල තව කෙනෙක් සෝවාන් මගඵල අවබෝධ කර ගන්නෙ. මේ අනුව පැහැදිලි වෙනවා, මගඵල ලාභියෙක්ගෙන්ම බණ අහලයි තවත් කෙනෙක් සෝතාපන්න වෙන්නෙ කියන කාරණය.

**මේ ආකාරයට සත්පුරුෂ භූමියට නොපැමිණි කෙනෙකුට ප්‍රත්‍යක්ෂ ඥාණයෙන් ධර්මය විග්‍රහ කිරීමේ හැකියාවක් නෑ. පෘතජ්ජන උගතුන්ට සිව්සස් දහම් පිළිබඳ මූලික අවබෝධයක්වත් ඇතිවෙන්න හේතුවක් නෑ. ඒ අයගේ කොතෙක් බණ දෙසුම් තිබුනත් සැබෑ ආර්ය බෞද්ධ සමාජයක් (භික්ඛු, භික්ඛුණී, උපාසක, උපාසිකා) දිගු කලක ඉඳල බිහිවෙලා නැත්තෙ අන්න ඒ නිසා.**

ආර්ය උතුමෙක් බිහි වෙන්න ආර්ය භාවයට පත් වුන කෙනෙක්ගෙන්ම බණ අහන්න ඕන කියන ධර්ම න්‍යායට ඒ අය විරුද්ධ වෙන්න හේතුවක් තියෙනවා. ඒ අය ප්‍රසිද්ධියේම ප්‍රකාශ කරනවා, අපට තාම මගඵල නෑ කියල. **ආර්ය උතුමෙක්ගෙන්ම බණ අහන්න ඕන කියන බුද්ධ වචනය සමාජගත වුනොත්, මේ විරුද්ධව මත ප්‍රකාශ කරන අයගේ ලාභ, කීර්ති, ප්‍රසංසා, දායක පිරිස් නැති වෙයි කියන ලොකු බයක් තියෙනවා. ඒ නිසා සත්‍යය මතු වෙලා තියෙන මේ යුගයේ ඒකට පහර ගහල යටපත් කරන්න වර්තමානයේ එක්තරා ගිහි පැවිදි පිරිසක් ලොකු උත්සාහයක යෙදිල ඉන්නවා.** නමුත් "සත්‍යමේව ජායතේ" කියමන අනුව කවදා හෝ ජය ගන්නෙ සත්‍යය විතරයි. අසත්‍යයට ආයුස අඩුයි.

සත්පුරිස භූමියට පත් වෙලා නැති අය හඳුන්වන්නෙ පෘතජ්ජනයන් හැටියට. පෘතජ්ජන භූමියේ ස්වභාවය කොහොමද කියල පහත දහම් විවරණවලින් තේරුම් ගන්න.

ඉධ භික්ඛවේ අස්සුතවා පුථුජ්ජනෝ අරියානං අදස්සාවී අරිය ධම්මස්ස අකෝවිදෝ, අරිය ධම්මේ අවිනීතෝ, සප්පුරිසානං අදස්සාවී, සප්පුරිස ධම්මස්ස අකෝවිදෝ සප්පුරිස ධම්මේ අවිනීතෝ (ම. නි. 1 - මූල පරියාය සූත්‍රය - 2 පිටුව)

අශ්‍රැතවත් පෘතජ්ජනයාට ආර්ය දර්ශනය හෙවත් චතුරාර්ය සත්‍යය දර්ශනය වෙලා නෑ. සිව්සස් දහම් දැකල නැති කෙනෙකුට කෙළෙසුන්ගෙන් සිත මුදවා ගැනීමේ දක්ෂකමක් ඇතිවෙන්නෙත් නෑ. ආර්ය මාර්ගයේ හික්මෙන පුද්ගලයෙක් වෙන්නෙත් නෑ. මෙබඳු කෙනා දහමේ දැනුවත් භාවයක් නැති පෘතජ්ජනයෙක් බවයි ඉහත දේශනා පාඨයෙන් පැහැදිලි කරල තියෙන්නෙ.

අ. නි. තික නිපාතයේ 264 පිටුවේ අශ්‍රැතවත් පෘතජ්ජනයා ජරා, ව්‍යාධි, මරණ ධර්මතාවයන් ස්වභාව කොට ඇතිවම ඒවා නොඉක්මවාම ඒ වගේ ජරා මරණ තත්ත්වවලට පත්වෙන අයව අප්‍රිය කරන බවත් පිළිකුල් කරන බවත් සඳහන් වෙනවා. **යෞවන මදය (තරුණකම නිසා ඇතිවන මත්වීම), ආරෝග්‍ය මදය (නිරෝගිකම නිසා ඇතිවන මත්වීම), ජීවිත මදය (බොහෝ කාලයක් දීර්ඝායුස ලබමින් ජීවත් වීම නිසා ඇතිවන මදය) ඇති කරගෙන අශ්‍රැතවත් පෘතජ්ජනයා තිදොරින්ම අකුසල් කරගන්න** බව සඳහන් වෙනවා.

ස. නි. (2) - 148 පිටුවේ අස්සුතවත්තු සූත්‍රයේ අශ්‍රැතවත් පෘතජ්ජනයා සතර මහා ධාතුවෙන් හට ගත් කය ගැන කලකිරීම ඇති කර ගත්තට, පටිච්ච සමුප්පන්නව වැඩ කරන හිතේ ස්වභාවය දැකල නොබැඳීමට, නොඇලීමට පත්වෙන්නෙ නැති බව සඳහන් වෙනවා. ඇතැම් අය මේ සූත්‍රයේ කියල තියෙන කරුණ වැරදියට වටහගෙන, ආර්යයන්ට කය ගැන බැලීමක් අවශ්‍ය නැති බවත් ප්‍රකාශ කරපු අවස්ථා අහන්න ලැබෙනවා. සර්පයගෙ කඳ මැදින් අල්ලනව වගේ ධර්මයත් වැරදි විදිහට අල්ල ගන්නව කියන්නෙ මෙන්න මේ වගේ කාරණාවලට.

මේකෙන් දේශනා කරල තියෙන්නෙ, පෘතජ්ජනයෙකුට කයේ ස්වභාවය දකින්න පහසු වුනාට හිතේ ක්‍රියාකාරීත්වය වටහගන්න අපහසුයි කියන කාරණය මිසක්, ආර්යයන්ට කය ගැන බලන්න ඕන නෑ කියන කාරණයක් නෙවෙයි. එහෙම ගත්තොත්, සතර සතිපට්ඨානයෙන් කායානුපස්සනාව සම්පූර්ණයෙන් ඉවතට දාන්න සිද්ධ වෙනව වගේම තවත් බොහෝ සූත්‍ර දේශනා ඉවතට දාන්න සිද්ධ වෙනවා.

හීන වූ, ග්‍රාම්‍ය වූ, අනාර්ය වූ, අනර්ථ සහිත වූ පංච කාමයන්ගේ ඇලී වසන්නේ පෘතජ්ජනයන් බව ධම්මචක්ක සූත්‍රයේ දක්වල තියෙනවා. (හීනෝ, ගම්මෝ, පෝථුජ්ජනිකෝ, අනරියෝ, අනත්ථ සංහිතෝ)



අස්සුතවත් පෘතජ්ජනයා සාස්වත, උච්ඡේද දෘෂ්ටිවලින් යුක්ත වෙන බවත් ඔහු ජාති, ජරා, මරණ, සෝක, පරිදේව, දුක් දොම්නස්වලින් නොමිදෙන බවත් ම. නි. 1 - 20 පිටුවේ එන <u>සබ්බාසව සූත්‍රයේ</u> පෙන්වල තියෙනවා.

යස්ස ඛෝ භික්ඛවේ ඉමානි පඤ්චින්ද්‍රියානි සබ්බේන සබ්බං සබ්බථා සබ්බං නත්ථි තමහං බාහිරෝ පුථුජ්ජන පක්ඛෙ ඨිතෝති වදාමි (ස. නි. 5/1 - <u>පටිපන්න සූත්‍රය</u> - 360 පිටුව)

ශ්‍රද්ධා, වීර්ය, සති, සමාධි, පඤ්ඤා කියන ඉන්ද්‍රිය ධර්ම පහ පූර්ණ වීමෙන් කෙනෙක් රහත් වෙනවා. ඊට වඩා අඩු වීමෙන් අනාගාමි වෙනවා. ඊට වඩා අඩු වීමෙන් සකදාගාමි වෙනවා. ඊටත් වඩා අඩු වීමෙන් සෝතාපන්න මාර්ග ඵලය ලබනවා. මේ ඉන්ද්‍රිය ධර්ම මුළුමනින් සියලු ආකාරයෙන්ම නැත්ද, ඒ පුද්ගලයා බුදු සසුනෙන් බාහිර පෘතජ්ජනයෙක් බව පටිපන්න සූත්‍රයේ විස්තර වෙනවා.

අභිධර්ම පිටකයේ පුග්ගල ප්‍රඥප්තියේ 266 පිටුවේ පෘතජ්ජන පුද්ගලයා තෝරල තියෙන්නෙ මෙන්න මේ ආකාරයට. කතමෝච පුග්ගලෝ පුථුජ්ජනෝ : යස්ස පුග්ගලස්ස තීණි සංයෝජනානි අප්පහීනානි නච තේසං ධම්මානං පහානාය පටිපන්නෝ අයං වුච්චති පුග්ගලෝ පුථුජ්ජනෝ

**සක්කාය දිට්ඨි, විචිකිච්ඡා, සීලබ්බත පරාමාස කියන තුන් සංයෝජන ප්‍රහීන නොවුන, මේ සංයෝජනයන් ප්‍රහාණය සඳහා ප්‍රතිපදාව අනුගමනය නොකරන කෙනා පෘතජ්ජනයෙක්. මූල සංයෝජන තුනවත් දුරු කරල නැති, දුරු කරන වැඩපිළිවෙලකත් නැති පෘතජ්ජන කෙනෙක් තව කෙනෙකුට සංයෝජන ප්‍රහාණය සඳහා දහම් විස්තර කරල දෙන්නෙ කොහොමද? ඒ වගේ පෘතජ්ජන දේශකයන්ගෙන් බණ අහල කොහොම නම් තව කෙනෙක් ධර්මාවබෝධයක් ලබන්නද? නොලබන්නේමයි.**

වඩන ලද කාය භාවනා, සීල භාවනා, චිත්ත භාවනා, පඤ්ඤා භාවනා නැති පෘතජ්ජනයන්ට අභිධර්ම කතා නම් වූ වේදල්ල කතාවට නොයා යුතු බවත්, එසේ යාමෙන් කළු දහම් මතු වෙලා සද්ධර්මය පිරිහෙන බවත්, ඒක අනාගත බියක් ලෙස දැකිය යුතු බවත් අ. නි. තතිය <u>අනාගත භය සූත්‍රයේ</u> සඳහන් වෙනවා.

මෙතෙක් නොයෙක් සූත්‍ර දේශනාවලින් පෘතජ්ජනයා කියන්නෙ මොන විදිහේ පුද්ගලයෙක්ද කියල විවිධ න්‍යායන්වලින් විස්තර කළා. පෘතජ්ජනයන් අතරත් කොටස් දෙකක් ඉන්න බව දේශනාවල සඳහන් වෙනවා. අභිධර්ම පිටකයේ පුග්ගල ප්‍රඥප්තියේ 266 පිටුවේ සප්ත සේඛ පුද්ගලයන් හා සීලවන්ත පෘතජ්ජන පුද්ගලයෙක් ගැන සඳහන් වෙනවා. (සත්ත සෙක්ඛා භයූපරතා යේච පුථුජ්ජනා සීලවන්තෝ)

ද්වේ පුථුජ්ජනා
වුත්තා බුද්ධාදිච්චේන බන්ධුනා
අන්ධෝ පුථුජ්ජනෝ ඒකෝ
කල්‍යාණේ කෝ පුථුජ්ජනෝ

අට්ඨ කතාවේ පෘතජ්ජනයන් දෙන්නෙක් ඉන්නවා. එක් කෙනෙක් කල්‍යාණ පෘතජ්ජන, අනෙක් කෙනා අන්ධ පෘතජ්ජන. මාර්ග ඵලයකට පත් නොවුනත් තුනුරුවන් කෙරෙහි ගරුත්වයක් ලැදියාවක් තියෙන, පාපයට ලැජ්ජා ඇතිව, බය ඇතිව ජීවත් වෙන, පිනට දහමට ලැදි පුද්ගලයන් සමාජයේ ඉන්නවා. ඉහත පුග්ගල ප්‍රඥප්තියේ සඳහන් කළ සිල්වත් පෘතජ්ජනයාට මේ ගාථාවේ විස්තර වෙන කල්‍යාණ පෘතජ්ජනයා සමාන කරන්න පුළුවන්. අන්ධ පෘතජ්ජනයා කියන්නෙ මීට පෙරත් සඳහන් කළ ශ්‍රද්ධා, වීර්ය, සති, සමාධි, ප්‍රඥා මුළුමනින්ම නැති පුද්ගලයා.

සාසන අන්තර්ධාන කතාවේ පරියාප්ති, ප්‍රතිපත්ති, ප්‍රතිවේද කියන ත්‍රිවිධ සාසනයෙන් මුලින්ම අන්තර්ධාන වෙන්නෙ ප්‍රතිවේධ සාසනය (මාර්ග ඵල, නිවන). අවසන් සෝතාපන්න පුද්ගලයාගේ මරණයෙන් ප්‍රතිවේධ සාසනය අතුරුදහන් වෙනවා. ප්‍රතිවේධ සාසනය අතුරුදන් වුනාට පරියාප්තිය (ත්‍රිපිටක ධර්මය) තවත් කාලයක් පවතිනවා. පරියාප්තිය තිබුනට ඒ තුලින් ධර්මය තේරුම් අරගෙන සෝවාන් වෙන්න පුළුවන්කමක් නෑ. සත්පුරුෂ සේවනයකින් තොරව තව කෙනෙකුට මගඵල ලබන්න බැහැයි කියන කාරණය මේ අනුවත් සනාථ වෙනවා. සාසන කළණ වැටේ අවසාන පුරුෂයා නොවිය යුතු බව ම.නි.(2) <u>මඛාදේව සූත්‍රයෙනුත්</u> තථාගතයන් වහන්සේ පැහැදිලි කරල තියෙන්නෙ ඒ නිසා.

ද්වේ මේ භික්ඛවේ පච්චයා සම්මා දිට්ඨියා උප්පාදාය කතමේ ද්වේ පරතෝඝෝසෝ, යෝනිසෝ මනසිකාරෝ (අ. නි. 1 - 170 පිටුව)

සම්මා දිට්ඨිය ඇතිවෙන්න හේතු දෙකක් අවශ්‍ය වෙනවා. ඒ තමයි පරතෝඝෝෂය (සද්ධර්ම ශ්‍රවණය) සහ යෝනිසෝ මනසිකාරය. මග ඵල ලාභී සත්පුරුෂයෙක්ගෙන් ධර්ම ශ්‍රවණය කරන වෙලාවක, යෝනිසෝ මනසිකාරයෙන් ධර්ම ප්‍රඥාවෙන් විමර්ශනය කරන මොහොතකයි ලොව්තුරු සම්මා දිට්ඨිය ඇතිවෙන්නෙ. ප්‍රතිවේධ සාසනය අතුරුදහන් වුනාට පස්සෙ පරියාප්තිය තිබුනට ඒ තුලින් පරතෝඝෝෂය සිද්ධ වෙන්නෙ නැති නිසා ඊට පස්සෙ මගඵල ලාභීන් බිහි වෙන්න හේතු නැතිවෙනවා. මේ සියලු කරුණුවලින් පෙනී යන්නෙ, මගඵල ලාභීන්ගෙන් බණ අහලමයි තවත් අයට ආර්ය භූමියට පත් වෙලා සසර දුක් නිමා කරගන්න පරිසරය සැකසෙන්න කියන කාරණය.

## <u>සෝවාන් වන්නේ භාවනාවෙන්ද, ධර්ම ශ්‍රවණයෙන්ද?</u>

වර්තමාන යුගයේ දහම් විවේචනය කරමින් මඩ ගහන අය කතා කරන තවත් ප්‍රධාන මාතෘකාවක් තමයි ඉහතින් සඳහන් කරන්න යෙදුනෙ. සෝතාපන්න වෙන්නෙ භාවනා කිරීමෙන් කියලයි ගිහි පැවිදි බහුතරයකගේ මතය. එක්තරා ස්වාමීන් වහන්සේ නමක් සෝවාන් වෙන්නෙ බණ අහලද භාවනා කරලද කියන ශීර්ෂ පාඨය යටතේ අන්තර්ජාලයට එකතු කළ ලිපියක, භාවනාවෙනුත් ධර්ම ශ්‍රවණයෙනුත් යන ක්‍රම දෙකෙන්ම සෝවාන්

වෙන්න පුළුවන් බව කරුණු ඉදිරිපත් කරල තිබුනා.

භාවනාවෙන් සෝවාන් වුනා කියල බුද්ධ කාලයේ වැඩ හිටපු සෝණ තෙරුන්ගේ කතාව සාක්ෂියක් විදිහට ඒ ලිපියේ සඳහන් කරල තිබුනා. බුද්ධ සාසනයේ වීර්යාධික භික්ෂූන් වහන්සේලා අතරින් අග තනතුර ලැබුවේ සෝණ තෙරුන් වහන්සේ. ඒ ලිපියේ මේ විදිහටත් සඳහන් කරල තිබුනා. "සෝණ තෙරුන් හුදෙකලාව භාවනා වඩා රහත් වූ හිමි නමකි."

ඉතා ධනවත් සිටු පුත්‍රයෙක් වූ සෝණ ගිහි කල තථාගතයන් වහන්සේගෙන් බණ අහල පැවිද්ද ලබා ගත්තා. අධික වීර්ය කරලත් උන්වහන්සේට අරිහත් ඵලයට පත් වෙන්න බැරි වුනා. දවසක් තථාගතයන් වහන්සේ සෝණ තෙරුන් වෙත වැඩල, වීර්ය සමව පවත්වා ගන්න හැටි වීනා උපමාවෙන් කරුණු පෙන්වල අවවාද කළාට පසු හුදෙකලාව භාවනා වඩල අරිහත්වය පූර්ණ කර ගත්තා.

සෝණ තෙරුන් රහත් වෙන්න පෙර සෙසු මගඵල ලබන්න බණ අහපු බවක් සඳහන් නොවෙන බව ඒ ලිපියේ සඳහන් කරල තිබුනා. නමුත් උන්වහන්සේ ගිහි වතේදිම තථාගතයන් වහන්සේගෙන් බණ අහල පැවිදි වුන බව ඒ කතාවෙම පැහැදිලිව සඳහන් වෙලා තියෙනවා. බණ අහල මූලික ධර්මාවබෝධය ඒ අවස්ථාවෙදි ලබල තිබුන නිසයි පැවිදි වෙලා හුදෙකලාව භාවනා කරන්න ගිහින් තියෙන්නෙ.

**කෙනෙකුට හුදෙකලාව භාවනා කරන්න නම් මූලික ධර්මාවබෝධය ලැබිල තියෙන්න ඕන. එහෙම නැති කෙනෙක් ඇලීම් ගැටීම් දුරු කරගෙන ආර්ය මග වඩන්නෙ කොහොමද?** සෝණ තෙරුන්ගේ කතාව තුල භාවනාවෙන් සෝවාන් වුන බවට කිසි සඳහනක් නැතිව, භාවනාවෙන් සෝවාන් වුන බවට සාක්ෂියක් විදිහට ඒ කතාව ගෙන හැර දැක්වීම විහිළුවක්. ඒ ලිපිය පුරාම භාවනා කරලත් සෝවාන් වෙන්න පුළුවන් කියන කරුණුවල කිසිම හේතු ඵල ගැලපීමක් නැති නිසා ඒවා මේ ලිපියට ඇතුලත් කරන්න බලාපොරොත්තු වෙන්නෙ නෑ.

බොහෝ භික්ෂූන් තථාගතයන් වහන්සේ ළඟට ඇවිත්, නිවන් අවබෝධ කර ගන්න කෙටියෙන් ධර්මයක් දේශනා කරන්න කියල ඉල්ලා හිටපු අවස්ථා ත්‍රිපිටකයේ නොයෙක් තැන්වල සඳහන් වෙනවා. තථාගතයන් වහන්සේ ඒ භික්ෂූන්ට ධර්මාවවාද කරල අවසානයට මේ විදිහටත් දේශනා කරල තියෙනවා.

"ඒතානි භික්ඛවේ රුක්ඛමූලානි, ඒතානි සුඤ්ඤාගාරානි ඣායේථ මා පමාදත්ථ. මා පච්ඡා විප්පටිසාරිනෝ අහුවත්ථ. අයං වෝ අම්හාකං අනුසාසනී."

මහණෙනි, මෙන්න ඔබලාට භාවනා කිරීමට සුදුසු ගස් මුල්, සුන්‍යාගාර. මේ තැන්වලට යන්න, කෙළෙස් දවා හරින්න ප්‍රමාද වෙන්න එපා. ආර්ය මාර්ගය පූර්ණ කරගන්න බැරි වුනා කියල පස්සෙ පසුතැවිලි වෙන්න එපා. මා විසින් ඔබලාට කරන මේ අනුසාසනාවයි.

මේ දේශනාවෙන් පැහැදිලිව සනාථ වෙනවා, මූලික ධර්මාවබෝධය තථාගතයන් වහන්සේගෙන් ලබාගෙන තමයි රුක්මුල්, සුන්‍යාගාරවලට ගිහින් ඉතිරි මගඵල පූර්ණ කර ගන්න භාවනා වඩල තියෙන්නෙ කියන කාරණය.

සමුදය සත්‍යය හෙවත් දුකට හේතුව දර්ශන භූමියෙනුත්, භාවනා භූමියෙනුත් යන ක්‍රම දෙකෙන්ම ප්‍රහීණ වෙනවා. දර්ශනයෙන් සක්කාය දිට්ඨි, විචිකිච්ඡා, සීලබ්බත පරාමාස කියන තුන් සංයෝජන ප්‍රහීණ වෙනවා. භාවනාවෙන් කාම රාග, පටිඝ, රූප රාග, අරූප රාග, මාන, උද්දච්ච, අවිජ්ජා කියන සංයෝජන හත ප්‍රහීණ වෙනවා (දස්සනේන තීණි සංයෝජනානි පහීයන්ති. භාවනාය සත්ත සංයෝජනානි පහීයන්ති. <u>නෙත්තිප්පකරණය</u> - 28 පිටුව)

ම. නි. 1 <u>සබ්බාසව සූත්‍රයේ</u> 18 පිටුවේ, දර්ශනයෙන් පහ කරන කෙළෙස්, භාවනාවෙන් පහ කරන කෙළෙස් වශයෙන් ක්‍රම දෙකක් පෙන්වල තියෙනවා. සබ්බාසව සූත්‍රයේ ආශ්‍රව ප්‍රහීණ කරන ක්‍රම 7 ක් පෙන්වල තියෙනවා. පළවෙනි ක්‍රමය දර්ශනයෙනුත්, 7 වෙනි ක්‍රමය භාවනාවෙනුත් කෙළෙස් දුරු කරන හැටි පෙන්වල තියෙනවා. (දස්සනා පහාතබ්බා, භාවනා පහා තබ්බා)

මහණෙනි, උපන් කුසල් දියුණු කර ගන්නත්, නූපන් කුසල් උපදවා ගන්නත් සම්මා දිට්ඨිය තරම් වෙනත් එකම ධර්මයක්වත් නොදකින බව තථාගතයන් වහන්සේ වදාරනවා. සම්මා දිට්ඨිය කියන්නෙ සෝතාපන්න වීමට. සෝවාන් වුන කෙනෙකුටයි ලෝකෝත්තර කුසල් වඩන්න පුළුවන් වෙන්නෙ. කුසල් වඩනව කියන්නෙ ඇලීම් ගැටීම් නමැති පහත් ධර්ම සලා හැරීම. නැත්නම් අවිද්‍යා තෘෂ්ණාවන්ගේ යම් පහ කිරීමක් ඇත්ද ඒ තමයි කුසලය. භාවනා කරනවා කියන්නෙත් මේකටමයි. "කුසලේ ධම්මේ ඒතායති භාවේතීති භාවනා" කුසල් දහම් වැඩීම භාවනාවයි. "උප්පාදන වඩ්ඪනට්ඨේන භාවනා" උපදවන වඩවන අර්ථයෙන් භාවනා කියල හඳුන්වනවා.

"සම්මා දිට්ඨි මූලකා සබ්බේ කුසලා ධම්මා" සියලු කුසල් දහම් දියුණු කර ගන්න සම්මා දිට්ඨිය මූලික වෙනවා. ධම්මචක්ක සූත්‍රයේ "විරජං වීතමලං ධම්ම චක්ඛුං උදපාදි" කියල ධර්ම ශ්‍රවණයෙන් අනතුරුව කොණ්ඩඤ්ඤ තාපසතුමාට කෙළෙස් දූවිලි නැති කරන, කෙළෙස් මලකඩ දුරු කරන දහම් ඇස පහල වීමෙන් සෝතාපන්න ඵලයට පත් වුනා. ඒ දහම් ඇස ලැබුනට පස්සෙ තමයි පංච උපාදානස්කන්ධය අනිච්ච, දුක්ඛ, අනත්ත වශයෙන් දකිමින් ඇලීම් ගැටීම් දුරු කරමින් ඉතිරි මගඵල පූර්ණ කර ගන්න අරි අටගි මග වඩන්න හැකියාව ලැබුනෙ.

කොණ්ඩඤ්ඤ තාපසතුමාට වගේම ඕනෑම කෙනෙකුට මේ දහම් ඇස ලැබීමෙන්මයි සෝතාපන්න ඵලයට පත්වෙන්නෙ. බුද්ධ කාලයේ පවා සෝතාපන්න වෙච්ච සියලු දෙනා ඒ තත්ත්වයට පත් වුනේ ධර්ම ශ්‍රවණයෙන් මිසක් භාවනා කරල නෙවෙයි. සැවැත් නුවර කෝටි 7 ක් ජනගහනය හිටිය බවත්, එයින් කෝටි 5 ක්ම මගඵල ලාභී ආර්ය ශ්‍රාවකයන් බවත් ධර්මයේ සඳහන් වෙනවා. ඒ සියලු දෙනා භාවනා කරල සෝවාන් වුනා නෙවෙයි, බණ අහල තමයි කෙළෙස් රජස් නසන කෙළෙස් මල දුරු කරන දහම් ඇස ලබා ගත්තෙ.

පථව්‍යා ඒක රජ්ජේන
සග්ගස්ස ගමනේනවා
සබ්බ ලෝකාධි පච්චේන
සෝතාපත්ති ඵලංවරං.

පෘථිවියට එක් රජෙක් වෙනවටත් වඩා, පොළොවටම අධිපතිකම් කරනවටත් වඩා, සුගතියේ යනවටත් වඩා, සෝතාපන්න ඵලය ශ්‍රේෂ්ඨයි. (ධම්ම පදය - ලෝක වග්ගය - 12 ගාථාව)

**පූජ්‍ය කිවුල්දෙණියේ විජිතනන්ද හිමි නිග්‍රෝධාරාම සේනාසනය, පොල්පිටිය, මැටිකුඹුර, පොල්ගහවෙල.**

**0716839346**



# කිරණමය බෙහෙත් සාද ගැනීමේදී අනුගමනය කළ යුතු වැදගත් ක්‍රියා මාර්ග කිහිපයක්...

පසුගිය කලාපයෙන් වකුගඩු රෝගය ඇතුළු බරපතල රෝග ගණනාවකට ප්‍රත්‍ය වන ප්‍රබල බෙහෙත් වර්ග කිහිපයක් හඳුන්වා දුන්නා. ස්නායු තෙල ඇතුළු ඒ සමහර බෙහෙත් වර්ග සකස් කර ගන්නකොට අනුගමනය කළ යුතු විශේෂ වත්පිළිවෙත් තියෙනවා. මොකද ඒවායේ ශක්තිය කිරණත් එක්ක සම්බන්ධ නිසා. ඒ වගේ සමහරක් කරුණු පසුගිය කලාපයෙත් සඳහන් කළා.

දැන් මේ පැහැදිලි කරන්න යන්නෙ ඒ වගේ කිරණත් එක්ක සම්බන්ධ විශේෂ තෙල් බෙහෙත් ආදිය සකස් කරන කොට, අමනුස්ස ආදී බලපෑම්වලින් තොරව, තුනුරුවන්ගේ, දෙවි දේවතාවන්ගේ ආශිර්වාද රැකවරණ ඇතිව, 100% ක්ම ඒවායේ ශක්තිය ගැබ් කරගෙන නම්, වඩාත් සාර්ථක වෙන්න නම් අනුගමනය කළ යුතු ක්‍රමවේදය. මේ ක්‍රමවේද පුළුවන් තරම් අනුගමනය කරන තරමට තමයි ඒ තෙල් බේත් ආදියේ ගුණයත් වැඩිවෙන්නෙ. ඒ නිසා තම තමන්ගෙ නැණ නුවණට ගෝචර වෙන විදිහට, රටේ තොටේ බේත්හේත් සම්බන්ධයෙන් අත්ගුණයක්, අත්දැකීමක් තියෙන උදවියට තමන්ගෙ ඒ හැකියාව වැඩි දියුණු කරගන්නත්, ඒ හදන බේත්හේත් වඩාත් හොඳින් ප්‍රත්‍ය වෙන්නත් මේ කරුණු කාරණා හේතු වෙනවා. හැබැයි මේ කියන ක්‍රමවේද ඒ විදිහටම අනුගමනය කරන්න අපහසු නම්, තම තමන්ට පුළුවන් ප්‍රමාණයෙන් අනුගමනය කරන්න. ඒ වගේම මේ කියන ක්‍රමවේද අනුගමනය කරමින් තෙල් බෙහෙත් සකස් කරන වීඩියෝ දර්ශන සහිත ඡායාරූප පෙළකුත් අන්තර්ජාලයට "www.helabodhupiyuma.net/helaosu" නමින් ඉදිරි දින කිහිපය තුල මුදා හැරීමට නියමිතයි. ඒ ඔස්සේ මේ ගැන උනන්දුවක් දක්වන පින්වතුන්ට යම් කිසි දැනුමක් අවබෝධයක් ලබා ගන්න පුළුවන්.

සාමාන්‍යයෙන් අද කෙනෙකුට යම් කිසි රෝගයක් වැළඳුනාම කරන්නෙ, බටහිර හෝ සාම්ප්‍රදායික වෛද්‍යවරයෙක් ළඟට ගිහින් මුදල් ගෙවල බෙහෙත් අරගෙන, මදි පාඩුවක් තියේ නම් ඔසු සැලකින් හෝ බෙහෙත් බඩු වෙළඳ සැලකින් හෝ මිලදී ගෙන ගෙදර ගිහින් දවස් කිහිපයක් ඒ බේත් පාවිච්චි කරල තමන්ගෙ සුපුරුදු දින චරියාව ගත කිරීම. නමුත් මේ හෙළ වෙදකමේ එන ප්‍රධාන අංගයක් වන කිරණ වෙදකමේදී ප්‍රතිකර්ම කරන්නෙත්, ඒ ප්‍රතිකර්ම එක්ක බේත් සකස් කරන්නෙත් වෙනමම ක්‍රමවේදයකට අනුව. මොකද **මේ පංචේන්ද්‍රියන්ට ගෝචර නොවන කිරණමය ක්‍රමවේදයක් තමයි මේ වෙදකමේදී සිද්ධ වෙන්නෙ. අපේ මේ කය ගොඩනැගිල තියෙන්නෙ කයවල් හතරක එකතුවකින්. ඒ තමයි අපිට බාහිරින් පේන මස් ලේ කය හෙවත් චතුර්ථජ කය, නොපෙනෙන මනෝ කය (චතුර්ථජ සියුම් කය සහ ත්‍රිජ කය), ද්විජ කය සහ ඒකජ කය** (මේ ගැන විස්තරයක් 30, 31 කලාපවල පළ කරල තියෙනවා). එතකොට අපේ මස් ලේ ඇහැට ගෝචර වෙන්නෙ 25% ක් හෙවත් මේ හතරෙන් එක කයක් විතරයි. නොපෙනෙන ඉතිරි 75% ට යම් කිසි හානියක් සිද්ධ වුනොත් ඒකෙ ප්‍රතිඵලයක් විදිහට පිටින් තියෙන මස් ලේ කය ලෙඩ වෙනවා. නමුත් රෝග නිධානය තියෙන්නෙ මස් ලේ කයේ නෙවෙයි, අර ඉතිරි 75% ක් දරා සිටින නොපෙනෙන කිරණමය කයේ.

එහෙනම් රෝගයට නියම ප්‍රතිකාරය තමයි මේ කිරණමය කය නිරෝගී කිරීම. ඒ සඳහා කිරණමය කය රෝගී වෙන්න බලපාන හේතු හොයල ඒ හේතු නැති කළ යුතුයි. අපි පෙර හේතු ගොඩනගල අද ඒකෙ විපාක විදිහට ඵල ලැබෙනකොට, එදා හේතුවට කැමති වෙලා අද ඵලයට අකමැති වුනාට වැඩක් නෑ. හේතු තියෙද්දි ඵල නිරෝධ කරල වැඩක් නෑ. නැවතත් ඒ ඵලය කවදහරි කොයි වෙලාවක හරි ඇදිල එන්න පුළුවන්. කිරණ වෙදකම ගොඩනැගෙන්නෙත් මෙන්න මේ අනුව තමයි.

ආදි බ්‍රහ්ම කල්පික මනුස්සයා මෙලොවට පහල වෙනකොට ඉර, හඳ, තාරකා, ගස්වැල් තිබුනෙ නෑ. සතා සිව්පාවා හිටියෙ නෑ. රස පොළව විතරයි මුලින් පහල වුනේ. මේ ගැන වැඩි විස්තර මීට පෙරත් මේ සඟරා කලාපවල පළ කරල තියෙනවා. මිනිස්සුන්ගෙ තිබ්ච්ච ගුණ පිරිහෙනකොට ඒ ගුණවලට අදාළ ශක්තිය පිටවෙලා ගිහින් ඒ ඇසුරෙන් තමයි ගස් කොළන් රන්, රිදී, මුතු, මැණික් සහිත ද්‍රව්‍ය වස්තු පහල වුනේ. ඒ වගේම නුගුණ ඇසුරු කරමින් ඒවායේම හැසිරෙමින් කළු කිරණ දරාගෙන තවත් පිරිසක් ප්‍රේත, යක්ෂ, පිසාච... ආදී වශයෙන් විවිධ ජාති ගොඩ නගා ගත්තා. ඒ අයගෙන් නිකුත් වෙන්නෙ කළු කිරණ. ඒවායින් අපේ කිරණමය කය දුර්වල වෙනවා.

ඊට අමතරව ඇස්වහ, කටවහ, හෝවහ, අණවින, කොඩිවින, හදි

හූනියම්, වස්කවි, වැල් පැන්නුම්, රූපයට කටු ගසා කිරණ කය හිර කිරීම්, ඉනාබන්ධන... ආදියෙනුත් අපේ කිරණ කය දුර්වල වෙනවා. (17 - 24 දක්වා කලාප බලන්න.) එතකොට කල්ප 91 ක් තුල අපෙන් ලෝකයට සිද්ධ වෙච්ච සියලු අසාධාරණයන්ට විපාක, ලෙඩ රෝග ඇතුළු විවිධ දුක් කරදර විදිහට මේ හරහා ඇදිල එන්න පුළුවන්. අන්න ඒ විපාකවලට වන්දි ගෙවලම නිදහස් වෙන්න ඕන. නැත්නම් කිසිම බේතකින් හේතකින් විතරක් ඒ ලෙඩ රෝග සුව වෙන්නෙ නෑ. සුව වුනත් තාවකාලිකයි. ඒක හැමෝටම පොදු විශ්ව ධර්මතාවයක්. ඒ විදිහට විපාකවලට වන්දි ගෙවල නිදහස් වෙන ප්‍රතිකර්ම, ඒ වගේම **සම්‍යක් ප්‍රයෝග කලින් සඟරාවල පළ කරල තියෙනවා. ඒ සම්‍යක් ප්‍රයෝගවලින් පෙර පැමිණියා වූත්, දැන් පැමිණෙන්නා වූත්, මතුවට පැමිණීමට නියමිත වූත් කර්ම විපාක (කළු කිරණ) යම් කිසි ප්‍රමාණයකට කපා හැරල විපාකයක් එන්න තියෙන සමනන්තරය (බාහිර පරිසරය) බිඳ දමනවා. එතකොට අනන්තරය විතරක් විපාකයක් විදිහට එන්නෙ නෑ. ප්‍රතිකර්මවලින් කරන්නෙ ඒ සඳහා මුල් වෙච්ච හේතුව හෙවත් අනන්තරය බිඳ දැමීම. ඒ කියන්නෙ කර්ම වේග ගෙවා හැරීම. එතකොට දැන් පරිසරය (සමනන්තරය) තිබුනත් අනන්තරය නැති නිසා විපාක දෙන්න දෙයක් නෑ. ඒ නිසා ප්‍රයෝග සම්පත්තිවලට වඩා ප්‍රතිකර්ම ප්‍රබලයි.**

මේ ආකාරයෙන් කිරණ කයේ 75% ක් රෝගී වෙන්න බලපාල තියෙන සියලු කළු කිරණ ඒ ඒ පුද්ගලයන්ගේ කර්ම ශක්තීන්ට යටත්ව ප්‍රතිකර්මවලින් ඉවත් කරන්න පුළුවන්. ඉතිරි මස් ලේ කය සහිත 25% නිරෝගී කරන්න තමයි කිරණමය බේත් සකස් කරල දෙන්නෙ. ඒ සඳහා අනුගමනය කළ යුතු ක්‍රමවේද තියෙනවා.

පළමුවෙන්ම මේ බේත් සකස් කරන්න ගන්න ස්ථානය සුද්ධ ස්ථානයක් වෙන්න ඕන. සුද්ධ ස්ථානයක් කියල අදහස් කරන්නෙ බාහිර පරිසරයේ සුද්ධතාවයම නෙවෙයි, අමනුස්ස බලපෑම්වලින් තොරව තුනුරුවන්ගේ, ඉෂ්ට දෙවි දේවතාවන්ගේ ආශිර්වාද රැකවරණය ලබා ගන්න සුදුසු පරිසරයක් තිබීම තමයි විශේෂයෙන් වැදගත් වෙන්නෙ. පුණ්‍ය භූමියක නම් කොහොමත් ඒ සුද්ධ ශක්තිය තියෙනවා. ඒ වගේම ඒ බේත් සකස් කරන්න උදව් උපකාර කරන සියලු දෙනාත් සුද්ධ වූ මානසිකත්වයක් ගොඩනගා ගන්න ඕන. ඒ රෝගියා / රෝගීන් කෙරෙහි මහත් වූ දයානුකම්පාවෙන් ඒ ක්‍රියාවේ නිරත වෙන්න ඕන.

ඒ වගේම පසුගිය කලාපයේ සඳහන් කළා වගේ මේ බේත් සකස් කරගන්න අවශ්‍ය අමුද්‍රව්‍ය කලමනා සෙවීම, බේත් සකස් කර ගන්න ස්ථානය සකස් කර ගැනීම අඟහරුවාදා, සිකුරාදා දිනවල ආරම්භ නොකළ යුතුයි. වෙනත් දවසක ආරම්භ කරල කරගෙන යනකොට අතරමගදී මේ දවස් දෙකත් සම්බන්ධ වුනාට ගැටළුවක් නෑ. හැබැයි ඒ දවස් දෙකත් මග හරින්න පුළුවන් නම් වඩාත් හොඳයි.

පළමුවෙන්ම බේත් සකස් කරගන්න සුදුසුයි කියල හිතෙන ස්ථානය සුද්ධ පවිත්‍ර කරල, එළිමහන් තැනක නම් මඩුවක් හෝ නොතෙමෙන ආකාරයට වහලක් සහිතව ආවරණයක් හදල, මේ විදිහට මූලික කටයුතු පිළියෙල කරගෙන උඩට උඩු වියනකුත් වටේට වට තිරයකුත් ඇදල සීමාව සලකුණු කරගන්න. ලිප් 2 ක් බඳින්නත්, බෙහෙත් සියල්ල තබා ගන්නත් මේස 2 ක් තියන්න ඉඩ තියෙන විදිහට ඒ ස්ථානය පිළියෙල කරගන්න. සුදුසු නම් ගෙයක් ඇතුලෙ වුනත් ගැලපෙන විදිහට පිළියෙල කරගන්න පුළුවන්.

ඉන්පසු ඒ ස්ථානයේ (මඩුවක් නම් මඩුව ඇතුලෙ) පළමුවෙන්ම බුදුන්, දහම්, සඟුන් යන ත්‍රිවිධ රත්නය උදෙසා පහන් 3 ක් සහිත තනි පහන් පැලක් හදන්න. ඊළඟට ඒ බේත් ලෝකයාට හෙළිදරව් කරල දුන්න ගුරුවරයා වෙනුවෙන් තවත් පහන් පැලක් සකස් කර ගන්න. ඊළඟට හතර වරම් දෙවියන් වෙනුවෙන් ඒ ස්ථානයේ හතර කොනේ පහන් පැල් 4 ක් සකස් කරගන්න.

ත්‍රිවිධ රත්නය වෙනුවෙන් සකස් කරන පහන් පැල උතුරු දිසාවටත්, ගුරුවරයාගේ පහන් පැල ඊසාන දිසාවටත්, හතර වරම් දෙවියන්ගේ පහන් පැල් හතර කොන් හතරේ හතර දිසාවටත් හිටින්න හදන්න ඕන. ඒ වගේම මේ පහන් පැල්වල මල්, පහන්, හඳුන්කූරු පත්තු කරනකොට මේ පහන් පැලේ පහන් තුන ත්‍රිවිධ රත්නය උදෙසාත්, මේ පහන් පැලේ පහන ධ‍ෘතරාෂ්ට දෙවියන් උදෙසාත්, මේ පහන විරූඪ දෙවියන් උදෙසාත්... ආදී වශයෙන් කැප කරල පූජා වේවා කියල පූජා කරන්න ඕන.

ඒ වගේම ප්‍රධාන ලිප ගුරුවරයාගේ පහන් පැල ඉදිරියෙන් හදාගන්න ඕන. අනෙක් ලිප ත්‍රිවිධ රත්නය උදෙසා සකස් කළ පහන් පැල ඉදිරියෙන් හදන්න ඕන. ඊළඟට ඒ සීමාවේ බ්‍රහ්ම පාදයට මේසයක් තියල ප්‍රධාන තෙලට / බෙහෙතට ගන්න සියලු අමුද්‍රව්‍ය ඒ මත තියන්න ඕන. බෙහෙත් හදන්න ගන්න සියලු අමුද්‍රව්‍ය මේ වට තිරය ඇතුලට අරගන්න. දර කෑල්ලක්වත් මේ වට තිරයෙන් පිට නොතිබිය යුතුයි.

ඊළඟට කහ දිය කලයක් සකස් කරගෙන පුවක් මල්කිණිත්තක් ඒ කලයට දාල සබ්බ පාපස්ස ගාථාවෙන් 28 වතාවක් හෝ ඊට වැඩි වාර ගණනක් ජීවම් කරගෙන බුදුන්ගේ පහන් පැලට පළමුවත්, දෙවනුව ගුරුවරයාගේ පහන් පැලටත්, තෙවනුව හතර වරම් දෙවියන්ගේ පහන් පැල්වලටත්, ඊළඟට මඩුවට, දරවලට, බේත් ද්‍රව්‍ය... ආදී හැමදේටමත් සබ්බ පාපස්ස ගාථාව කියමින් පැන් ඉහින්න. ඉන්පසු ඒ කහ පැන් කලය ත්‍රිවිධ රත්නය උදෙසා සකස් කළ පහන් වැට පාමුල තියල ඒකට පොල් මලක් ඉහිරවල දාල ඒ මුදුනින් පහනක් තියන්න. ඉන්පසු ලිප් බැඳගෙන ඒ ලිප් ඇතුලට මුහුදු වැලි අතුරල ඒ මත ඕම් අක්ෂරය ඇඳල ඒ අක්ෂරය මත ඒ හැඩයටම කපුරු අතුරන්න.

දැන් ලොකු බේසමකට වතුර පුරවල ඊට සරිලන විදිහට අමු කහ කොටල දාන්න. දෙහි ගෙඩි 5 - 6 කුත් කපල ඒකටම දාන්න. ඒක බෙහෙත් හදන ස්ථානයට ඇතුල් වෙන තැන බිම තියල, ඒ ස්ථානයට ඇතුල් වෙන සියලු දෙනාම එයින් ටිකක් අරගෙන අත් දෙකේ, හිසේ ගාගෙන මිසක් මේ බෙහෙත් බඩු පරිහරණය කිරීමෙන් වළකින්න. පරිහරණයට ගන්න වංගෙඩි, මෝල්ගස්, පිහි ඇතුළු සියලු උපකරණ, භාජන මේ දෙහි මිශ්‍ර කහ දියට දමා එයින් සෝදාගෙන භාවිතයට ගන්න.

ඒ වගේම නැකැත් බලල මේ වැඩ කටයුතු පටන් ගන්නව නම් පරම මෛත්‍රී නැකතට විතරක් වැඩ ආරම්භ කරන්න. එහෙම නැත්නම් උදේ කාලයක කරනව නම් රාහු කාලය මගහැරල ඉර උදාවට ඊසාන දිසාව බලාගෙන වැඩ ආරම්භ කරන්න. රාත්‍රී කාලයක නම් රාහු කාලය මග හැරල ගන්න. හැකියාවක් තියෙනව නම් භික්ෂූන් වහන්සේලා වඩම්මවල සියල්ලෝම අධිෂ්ඨාන කරගත්ත කාලයකට සීලයක පිහිටුවල පළමුවෙන්ම ත්‍රිවිධ රත්නයට මල්, පහන්, සුවඳ දුම් දල්වල ගුණ උපහාර පූජාවක් පවත්වල, මේ කරන්න යන සත් කටයුත්ත සාර්ථකව ඉෂ්ට සිද්ධ කරගන්න සෑම සියලු දෙනාටම ත්‍රිවිධ රත්නයේ ආශිර්වාදයත්, රැකවරණයත් ලැබේවා කියල, මේ සත් කටයුත්තේ අග්‍රතම කොටස තුනුරුවන් උදෙසා ජය ශ්‍රී මහා බෝධීන් වහන්සේට

පූජා කරනවා කියල, දෙවන අග්‍ර කොටස මේ බෙත් ලෝකයට විද්‍යමාන කළ ගුරු උත්තමයාණන් උදෙසාත් පූජා කරනවා කියල, මේ සඳහා සහභාගි වන සෑම සියලු දෙනාමත්, සතර වරිගයට අයත් සෑම සියලු දෙනාමත්, ඒ වගේම මේ බෙත් අමුද්‍රව්‍ය ලබා ගන්නකොට ඒවා ලබා ගත්ත වෘක්ෂවලට අධිගෘහිතව කටයුතු කළ වෘක්ෂ දේවතාවන්, තලාටු භූමාටු දෙවි දේවතාවන් සහ ඒවාට අයිතිවාසිකම් කිව් හෝ වෙන මොනයම් ආකාරයකින් හෝ දායකත්වය දැරූ අය ඉන්නව නම්, ඒ සියලු දෙනාමත්, මේ බෙත් සකස් කරන භූමියට පෙර උරුමකම් කිව්වා වූත්, දැන් උරුමකම් කියන්නා වූත්, පෙර වවා හදා සකස් කර තැබූවා වූත් සෑම සියලු දෙනාමත්, දිව්‍ය, බ්‍රහ්මාදී තැන් පටන් සියලු ලෝක සියලු සත්ත්වයෝමත් තම තමන් කර ගත්තා වූ පිනක් හා සමානව අතහිත දී ගනිත්වා කියල මේ සියලු පින් කුසල් ඔවුන්ටත් අනුමෝදන් වෙත්වා, ඔවුනොවුන් විසින් සිදු කළ පිනක් හා සමානව අනුමෝදන් වෙත්වා කියල ප්‍රාර්ථනා කරන්න.

ඊළඟට මංගල සූත්‍රය, රතන සූත්‍රය, කරණීයමත්ත සූත්‍රය, බොජ්ජංග පිරිත, ගිරිමානන්ද සූත්‍රය, මෙත්තානිසංස සූත්‍රය සහ මහා ජයමංගල ගාථා සජ්ජායනා කරල වැඩ ආරම්භ කරන්න.

ඉන්පසු ත්‍රිවිධ රත්නය උදෙසා සකස් කළ පහන් පැල ඉදිරියේ බිම තියෙන කලයේ පොල් මල උඩ තියෙන පහන දල්වල පොළව බාර මහී කාන්තාවගෙන් අවසර ගන්න. අප විසින් කරන්නා වූ මේ සද්කටයුත්තට යම් ආකාරයකින් බාධාවක් අවහිරයක් වෙනව නම්, එය වළක්වා දෙන ලෙසත්, අපෙන් මහ පොළවට අවැඩක් සිදුවුනා නම් කමා කරල, මේ කරන්නා වූ සියලු දෙයින් රැස් වන පින් කුසල් අනුමෝදන් වෙලා අප මිහිකතට බරක් නොවේවායි කියල ප්‍රාර්ථනා කරන්න. ඉන්පසු සතර වරම් දෙවියන්ට පහන් දල්වල තෙල් අඩුවෙනකොට දාන්න වෙනම පොල් තෙල් බෝතලයක් තියාගන්න. ත්‍රිවිධ රත්නය උදෙසා වෙන් කළ පහන්වලට වෙනම තෙල් බෝතලයක් වෙන් කරන්න. තුනුරුවන්ට පහන් පැල පත්තු කරන තෙල්වලින් දෙවියන්ගේ පහන් පැල දැල්වීම නොකළ යුතුයි. නමුත් සතර වරම් දෙවියන්ට සහ පොළව බාර මහී කාන්තාවට වෙන් කළ



පහන් එක තෙල් බෝතලයකින් පත්තු කරන්න පුළුවන්. මේ පහන් පත්තු කළාට පසු ඒ වැඩ කටයුතු අවසන් වෙනකල්ම පහන් නිවෙන්න දෙන්නෙ නැතිව දල්වල තියන්න පුළුවන් නම් වඩා හොඳයි. දල්වන හැම පහනක් ගානෙම ඒ අදාළ දෙවියන්ගේ නමට බාර කළ යුතුයි. ඒ කියන්නෙ, කලින් සඳහන් කළ විදිහට මේ පහන දථරාෂ්ට දෙවියන්ට පූජා වේවා, මේ පහන විරූපාක්ෂ දෙවියන්ට පූජා වේවා, මේ පහන විරූඪ දෙවියන්ට පූජා වේවා, මේ පහන වෛශ්‍රවණ දෙවියන්ට පූජා වේවා... ආදී වශයෙන්.

ඉන්පසු ප්‍රධාන ලිප ළඟට ගිහින් ඊසාන දිසාව බලාගෙන ඕම් අක්ෂරයට ගිනි දල්වන්න. පොළව බාර මහී කාන්තාවනි, මේ මහ පොළව මත අපෙන් ලෝකයට සිදු වූ අවැඩ අසාධාරණවලට විපාක ලෙස අට අනූවක් රෝග, නව අනූවක් ව්‍යාධි, දෙසීය තුනක් අන්තරා සහිත කයක් දරාගෙන සිටිමු. ඒ කය අප දරා ගත්තේ රාග, ද්වේශ, මෝහ යන අකුසල් මුල් ඇසුරු කිරීමෙන්. එහෙනම් අද ඒ කයට වා පිත් සෙම් කියන තුන් දොස් කිපී රෝගී වෙලා තියේ නම්, කළ වරදට කමාව දී මේ හට ගත්තා වූ සියලු ව්‍යාධි සමනය කොට මේ ඕම් අක්ෂරය දැල්වෙන්නා සේ කිරණ කයට ඇති සියලු කළු කිරණ දැවී යාවා, කිරණ කය ආලෝකමත් වේවා කියල හිතාගෙන ගිනි දල්වන්න. ලිප් ගල් 3 මතත් තුන් පැත්තෙන්ම කපුරු දල්වල රාගයට (සෙමට) හේතු වෙලා තියෙන කාරණයක් නිසා රෝගී වුනා නම්, මේ කපුරු මේ ලිප් ගල මත දැල්වෙන්නා සේ යම් කළු කිරණක් මේ ලිප් ගල හරහා ඖෂධ භාජනයට නොඒවා, ද්වේශයට (පිතට) හේතු වෙලා තියෙන කාරණයක් නම්, මෝහයට (වාතයට) හේතු වෙන කාරණයක් නම්... ආදී වශයෙන් කියල අනිත් ලිප් ගල් දෙක මතත් ඒ විදිහට කපුරු දල්වල අධිෂ්ඨාන කරන්න. කළු කිරණ පුළුස්සා දමන ගුණයක් කපුරුවල තියෙනවා.

දැන් ලිපට දර දාන්න. කුරුඳු දර ගන්න පුළුවන් නම් වඩාත් හොඳයි. ඊට අමතරව කපුරුවලින් ලිප දල්වල ඒකට පළමුවෙන්ම සුදු හඳුන්, රත් හඳුන්, අගිල්ගුගුල්, දේවදාර, ජටාමනස, සුවඳ කොට්ටන්, කුංකුමප්පු, සැවැන්දරා යන ද්‍රව්‍ය එකතු කරන්න. මොකද දෙවි දේවතාවුන් මේකට සහසම්බන්ධ වෙන්නෙ ඒ ද්‍රව්‍ය වර්ග හරහා. ඉන්පසු අමු කහ ගුලියක් දිය කරල ප්‍රධාන භාජනයට දාල ඒක ලිප මත තියල වැඩ ආරම්භ කරන්න. තෙලක් නම් ඒ අවස්ථාවේ මුලින්ම හරි හතරැස් 2" × 2" රත්තරන් තහඩුවක් භාජනයට දමන්න. විශේෂයෙන් අමනුස්ස බලපෑම්වලින් ආරක්ෂා කර ගන්නත්, ස්වර්ණමය ගුණය ඇති වෙන්නත් තමයි එහෙම කරන්නෙ. දැන් ඉතිරි කටයුතු ටික සාමාන්‍ය විදිහට කරගෙන යන්න.

මේ දේවල් මේ විදිහට සිදු කළ යුත්තේ, මේ සියලුම දෑ කිරණ වෙදකමට සම්බන්ධ නිසා. තෙල් බෙත් හදල අවසන් වුනාට පස්සෙ, අග්‍ර ශ්‍රේෂ්ඨ කොටස ජය ශ්‍රී මහා බෝධීන් වහන්සේටත්, ඊළඟට ගුරු උත්තමයාණන්ටත් පූජා කරන්න වෙන වෙනම වෙන් කරල තියන්න. ඉන්පසුව තමයි සහසම්බන්ධ වෙච්ච අයට හෝ රෝගීන්ට හෝ ඒවා පරිහරණය කරන්න ලබා දෙන්නෙ.

**සටහන**

**නීතිඥ චන්දන සිරිවර්ධන**











# වකුගඩු අක්‍රිය වීම ඇතුළු තවත් රෝග රැසකට ප්‍රත්‍යක්ෂ සමාධිමය අත් බෙහෙත්...

වහරක අභයරතනාලංකාර මහ තෙරුන් වහන්සේ විසින් ලෝක සත්වයා කෙරෙහි දයානුකම්පාවෙන් බෙහෙත් සමාධියෙන් මතු කර දුන්, රටම ගිල ගත් වකුගඩු අක්‍රිය වීමේ රෝගයට බෙහෙත් වට්ටෝරු කිහිපයක් පසුගිය කලාපයෙන් විස්තරාත්මකව ඉදිරිපත් කළා. දැන් මේ හඳුන්වා දෙන්න යන්නෙ වකුගඩු අක්‍රිය වීම ඇතුළු ඒ ආශ්‍රිත රෝගවලටත්, තවත් රෝග රැසකටත් ප්‍රත්‍ය වෙන, උන්වහන්සේ විසින්ම මතු කර දුන් තවත් ප්‍රබල බෙහෙත් වර්ග කිහිපයක්.

දැන් කෙනෙකුට ගැටළුවක් එන්න පුළුවන්, වකුගඩු රෝගියෙක් මේ බෙහෙත්වලින් පාවිච්චි කරන්නෙ මොන බෙහෙත් වර්ගයද / වර්ගද කියල. මෙතැනදි දැන ගත යුතු කාරණයක් තියෙනවා. මේ වගේ රෝගීන්ගේ ඒ රෝගී තත්ත්වයන් විවිධාකාරයි. කර්ම විපාක අනුවත්, විවිධ ප්‍රයෝග විපත්තිත් මුල් කරගෙන විවිධ මට්ටම්වලින් තමයි ඒ ඒ අයට ඒ රෝග තත්ත්වයන් හට ගෙන තියෙන්නෙ. එතකොට ඒ රෝග අවස්ථා සඳහා උන්වහන්සේගේ සමාධියට මතු වෙච්ච බෙහෙත් වර්ගත් විවිධයි. කෙනෙකුට එක බේතකින් සුව වෙනකොට තවත් කෙනෙකුට තවත් බේතකින් සුව වෙන්න පුළුවන්. එහෙම නැත්නම් බෙහෙත් වර්ග කිහිපයකින් සුව වෙන්න පුළුවන්.

ඒ නිසා පසුගිය කලාපයෙන් ඉදිරිපත් කළ ඒ බෙහෙත් සඳහන් කරල තියෙන පිළිවෙලට අරගෙන සුව නොවෙච්ච අයට මේ සඳහන් කරන බේත් වර්ගත් අරගෙනබලන්නපුළුවන්.එතැනදිසමහර බෙහෙත්වර්ගකිහිපයක්එකටගන්නඕන අවස්ථා, එහෙම නැත්නම් අනුපිළිවෙලට ගන්න ඕන අවස්ථා තියෙනව නම් ඒවා වෙනම සඳහන් කරල තියෙනවා. එහෙම නැතිව තනිව ගන්න පුළුවන් බේත් වර්ග වෙනම සඳහන් කරල තියෙනවා. **මේ කිසිම බේතකින් අතුරු ආබාධ එන්නෙ නෑ. ඒ නිසා බෙහෙත් වර්ග කිහිපයක් පාවිච්චි කළා කියල ගැටළුවක් නෑ. තම තමන්ට ප්‍රත්‍ය වෙන බෙහෙත් වර්ග එකක් හෝ කිහිපයක් පාවිච්චි කරන්න පුළුවන්.**

ඒ වගේම මේ සඳහන් කරල තියෙන අමුද්‍රව්‍ය ප්‍රමාණයන් එක්තරා අනුපාතයකට සඳහන් කරල තියෙන නිසා, තමන්ට අවශ්‍ය පරිදි ඒ අනුපාතයම එන විදිහට අමුද්‍රව්‍ය ප්‍රමාණයන් අඩු වැඩි කරගන්න පුළුවන්. ඒ අමුද්‍රව්‍ය සපයගන්න හැම අවස්ථාවකදිමත්, ඒ වගේම ඒ බෙහෙත් හදන අවස්ථාවලදිත් මේ සඟරාවෙන් මීට පෙරත් සඳහන් කරපු ක්‍රමවේද පුළුවන් තරම් අනුගමනය කරන්න වග බලාගන්න. **පින්වතුන්ගේ පහසුව පිණිස මේ බෙහෙත් වර්ග බොහොමයක් දැනටමත් නිෂ්පාදනය කරල වහරක අරිය චින්තාශ්‍රම බෞද්ධ විහාරස්ථානයමුල්කරගෙනඉරිදාදිනවල පැවැත්වෙන වෛද්‍ය සායනවලින් ලබා ගන්නත් පහසුකම් සපයල තියෙනවා.**

ඒ වගේම **විශේෂයෙන් දැනුවත් වෙන්න ඕන, මේ වගේ රෝගවලට කර්ම විපාකත් මුල් වෙන නිසා ඒවාට බෙහෙත් කරන්න පෙර ඒ කර්ම වේග යම් පමණකට හෝ ගෙවා ගන්න මේ සඟරාවෙ මීට පෙරත් පළ කරල තියෙන සාසනික ප්‍රතිකර්ම අනුගමනය කරන්න. එහෙම නැත්නම් ඒ බේත් ප්‍රත්‍ය වෙන්නෙ නැතිව යනවා. මොකද කෙනෙකුට ප්‍රයෝග විපත්තිවලින් හැදෙන රෝගයක් වුනත් කර්මය මුල් වෙලාම තමයි හට ගන්නෙ. ඒ නිසා තමයි වහරක අභයරතනාලංකාර මහ තෙරුන් වහන්සේ ගිහි වතක ඉඳගෙන මේ බේත් හේත් කටයුතු කරනකොට ඉස්සෙල්ලම කර්ම වේග ගෙවා හරින්න සාසනික ප්‍රතිකර්ම ලබා දුන්නෙ. ඒ කාලෙ උන්වහන්සේ පවත්වපු ආශිර්වාද සෙත් බුද්ධ පූජා 3 කටවත් සහභාගි නොවෙච්ච රෝගින්ට බෙහෙත් ලබා දුන්නෙ නෑ.** ඒ පූජා ආදියට සහභාගි වෙලා සාසනික ප්‍රතිකර්ම සිදු කිරීමෙන් අනතුරුව තමයි සමාධියෙන් බලල කයට අවශ්‍ය බේත් ටික ලබා දුන්නෙ. ඒ නිසා මේ ප්‍රතිකර්ම සහ බෙහෙත් පටලවා නොගෙන හේතු ඵල අනුව මේ ක්‍රමවේද දැනගෙන අනුගමනය කරන්න ඕන. ඒ වගේම මීට පෙරත් සඳහන් කළා වගේ මේ හැම බේතක්ම ඒ ඒ පුද්ගලයන්ගේ කර්ම ශක්තීන්ට යටත්ව ප්‍රත්‍ය වෙන බවත් සළකන්න ඕන.

## ඉඟුරු මී පැණි ගුලි

දේශීය පිරිසිදු බේත් ඉඟුරු වේළගෙන කුඩු කරගෙන පෙනේරයකින් හලාගෙන පිරිසිදු මී පැණිවලින් අනාගෙන කෝපි ගෙඩි පමණට ගුලි කරල වේළගෙන දින 21 ක් හවස පින්නෙ තියල උදේට විතරක් යන්ත්‍රයක් ආධාරයෙන් සෙල්සියස් අංශක 60 ට නොවැඩි උෂ්ණත්වයක වේලමින් සකස් කරගන්න. එහෙම නැත්නම් උදේ 7.00 ට අව්වට දාල 10.30 ට විතර අරගෙන, නැවත හවස 3.30 ට අව්වට දාල හවස 6.00 ට අරගෙන පින්නට දාන්න පුළුවන්. (තද අව්ව සුදුසු නෑ.)

ඒ වගේම අඩි 15 ක දුරක් ඇතුලත කුණු වළවල් නැති, පිහිටි පොළවට අඟල් 4 ක් පමණ ළං වෙන්න, පාට කරපු නැති හිදැස් තියෙන තුනී ගල් ඇහැ පැදුරක් උඩ තියල පිනි ගැන්විය යුතුයි. ලොකු ගඩොල් කැටයක් සාමාන්‍යයෙන් අඟල් 4 ක් විතර උස නිසා ඒ ජාතියේ ගඩොල් පේළියක් තියල ඒ මත දැලක් දාල දැල උඩ පැදුර තියන්න

පුළුවන්. දැලක් දාන්නෙ පැදුර පහතට කඩා වැටෙන්න බලන නිසා. ඒ වගේම පැදුර සමග කෙලින්ම පොළවෙ ශක්තිය හුවමාරු විය යුතු නිසා සිදුරු සහිත දැලක් තියන්න ඕන. ලෑලි තියල හරියන්නෙ නෑ.

දැන් මේ විදිහට හදා ගත්ත ගුලි 1 බැගින් උදේ, දවල්, රාත්‍රී ආහාරයෙන් පසු මාස 6 ක් හෝ ඊට වැඩි කාලයක් ගත යුතුයි. මාස 2 ක් ගත්තට පස්සෙ පහත දැක්වෙන වකුගඩු ප්‍රකෘති ආධාරයත් කළ යුතුයි.

## වකුගඩු ප්‍රකෘති ආධාර

ඉඟුරු මී පැණි ගුලි මාස 2 ක් ගත්තට පස්සෙ ඉදිරියටත් පෙර පරිදිම ගන්න ගමන් මේ ප්‍රතිකර්මය කළ යුතුයි.

රෝගියා මුනින් අතට දිගා කරවල බෙල්ලේ පටන් කොඳු ඇට පෙළ දෙපසින් බඩ දෙපසත් අහුවෙන්න තුනටිය, තට්ටම්, කකුල් පිටුපස සහ ඉදිරිපස ඇඟිලි අගටම විනාඩි 20 ක් පමණ උණු අළු පොට්ටනියකින් උදේට තවන්න. (මේ උණු අළුවල පොල් කටු හැර පොල් ගහේ වෙනත් ඕනෑම කොටසක් දවාගත්ත අළුත් තිබිය යුතුයි.)

ඉන්පසු කිතුල් හකුරු ග්‍රෑම් 10 ක කැබලි 2 ක් උණු වතුර බිංදු කිහිපයකින් ලාටුව වගේ දිය කරල රෙදි කැබලි 2 ක ගල්වල පයේ මහපට ඇඟිලි දෙක වැහෙන විදිහට වටේට තියල වෙලන්න.

පැය 4 කින් පසු ගලවල පිහදාල ඇඟිලි බිත්තරයේ තුඩු දෙක යන්තම් පලුදු කරල දිය කුඩැල්ලන් (බේත් කුඩැල්ලන්) දෙන්නෙක් තියල ලේ උරා බොන්න සලස්වන්න. සතියකට දවසක් හෝ වැඩි ගණනක් වශයෙන් මේ විදිහට 7 වතාවක් කරන්න. උණු අළු පොට්ටනියෙන් තැවීම විතරක් හවස් වරුවෙත් කරන්න පුළුවන් නම් වඩා හොඳයි. ලේ අරිනකොට කුඩැල්ලා ගැලවිලා වැටුනට පසු කළු ලේ යනකල්ම ලේ ඇරිය යුතුයි. ඉන්පසු අයිස් කැටයක් තැබීමෙන් හෝ තදට ප්ලාස්ටරයක් ටික වෙලාවක් තැබීමෙන් හෝ ලේ ගැලීම නතර වෙනවා. ලේ මදි අයට රෝහලක් මගින් හෝ ලේ දීල මේ ප්‍රතිකර්මය කරන්න පුළුවන්.

ඒ කුඩැල්ලන් ශරීරයේ ලේවල ලේසියෙන් ඉවත් නොවන අපද්‍රව්‍යයක් දිය කරල උරා බොනවා. ඒ වගේම උන් ලේවලට එකතු කරන රසායනයක් නිසා වකුගඩුවල සහ ඇල දිවේ (අග්න්‍යාශයේ), අක්මාවේ බැඳිල තියෙන කාරම් දිය වෙලා සුද්ධ කරනවා. එතකොට 82 කලාපයේ සමාධිමය අත් බෙහෙත් යටතේ සඳහන් කළ මුත්‍රා සුද්ධ කරන ගුලිත් ගත යුතුයි. මේ මගින් සියලු ඉන්ද්‍රියන් ප්‍රකෘති වෙනවා.

## ගොටුකොළ චූර්ණය

අවශ්‍ය අමුද්‍රව්‍ය :- පිට පොත්ත ඉවත් කර ගත් කෝමාරිකා ග්‍රෑම් 500 යි, හීන් ගොටුකොළ හෝ බේත් ගොටුකොළ කිලෝ 1 යි, ඇට ඉවත් කළ රටඉඳි කිලෝ 1 යි.

කෝමාරිකා සහ ගොටුකොළ කොටාගෙන මිරිකල වතුර නොදා ඉස්ම අරගෙන, රටඉඳි අඹරල සියල්ල ලිපේ තියල අංශක 70 හෝ ඊට අඩු උෂ්ණත්වයක තෙත හිඳෙන කල් බස්සවා ගන්න. ඉන්පසු තැටියක දමා වියළන යන්ත්‍රයකින් වේළගෙන පුස් නොබැඳෙන මට්ටමට වේලුනාට පසු භාජනවල අසුර ගන්න. හොඳින් අව්ව තියේ නම් අව්වෙ වේළගන්නත් පුළුවන්.

දිනපතා පැය 2 කට පමණ වරක් තේ හැඳි 1/2 ක් පමණ ගන්න. රෑටත් ඇහැරුනොත් තේ හැන්දක් පමණ අරගෙන නටවා නිවා ගත් වතුර ටිකක් බීල නිදාගන්න. මාස 3 ක් මේ විදිහට දිගටම අරගෙන ඉන්පසු පැය හයෙන් හයට තේ හැන්ද බැගින් මාස 6 ක් අරගෙන ඉන්පසු උදේ හවස තේ හැඳි එකහමාර බැගින් අවුරුදු එකහමාරක් පමණ ගන්න.

මාස හයේ පටන් ඇටමිදුළු පෝෂණය වෙලා රුධිරය වැඩෙනවා. ස්නායු ප්‍රාණවත් වෙනවා. ඇටමිදුළු දුර්වලතාවයෙන් හට ගත් සියලු ආබාධ දුරු වෙනවා.

ඇට මිදුළුවල විස නසන්න පහත අරිෂ්ටයෙන් පළවෙනි බෝතලය පැය 4 න් 4 ටත්, දෙවන බෝතලය පැය 6 න් 6 ටත්, ඉන්පසු පැය 8 න් 8 ටත් අවුරුදු එකහමාරක් ගන්න.

ලියුකේමියා හෙවත් ලේ පිළිකාව ඇතුළු බොහෝ ආබාධ සුව වෙනවා. වකුගඩු ආබාධ සුව වෙනවා. රුධිරයේ ජලය (ප්ලාස්මා තරලය) වැඩිවීමෙන් හට ගන්නා රුධිර පීඩනය දුරු වෙනවා. දියවැඩියාව සුව වෙනවා. අම්ල පිත්ත විස සුව වෙනවා. ඒ නිසා එන චර්මාබාධ සුව වෙනවා. වස විස කැවීම නිසා හට ගත් ආබාධ සුව වෙනවා. රුධිර ධාතුව වැඩෙනවා. රුධිර පීඩනය සමතුලිත වෙනවා.

## අරිෂ්ටය

අවශ්‍ය අමුද්‍රව්‍ය :-

1. අරළු, බුලු, නෙල්ලි වෙන වෙනම කළු වෙන්න බැදගෙන කුඩු කරල එකකින් ග්‍රෑම් 400 බැගින්

2. අත්තික්කා අමු පොතු කිලෝ 1 ක් කොටාගෙන

3. සූදුරු, මහදුරු වෙන වෙනම කළු වෙන්න බැදගෙන එකකින් ග්‍රෑම් 200 බැගින්, කළුදුරු කළු වෙන්න බැදල ග්‍රෑම් 400 යි.

4. වට්ටක්කා වැල් සහමුලින්ම (දඬු, කොළ, මල්, මුල්, ගැට) කිලෝ 4 ක ඉස්ම වතුර නොදා

5. අසමෝදගම් කබලේ බැදගෙන ග්‍රෑම් 600 ක කුඩු

6. දෙහි ඇතුළු පැඟිරි කොළ වර්ග 5 ක් එක වර්ගයකින් ග්‍රෑම් 400 බැගින් අමු බරින් අරගෙන ඉස්ම (වර්ග 5 ටම වතුර බෝතල් 1 ක් දමා)

7. රත්නිටොල් මුල් කබලේ බැදගෙන කුඩු කරගෙන ග්‍රෑම් 10 යි (විස හරින්න අවශ්‍ය නෑ)

8. ගස්ලබු කොළ, දළු, ගෙඩි, මුල්, පොතු (හෙවත් ගහ සහමුලින්ම) කිලෝ 4 ක් කොටාගෙන වතුර නොදා මිරිකගත් ඉස්ම.

මේ සියල්ල ලිපේ තියල අංශක 80 උෂ්ණත්වයේ උකු වෙනකල් බස්සවාගෙන අසමෝදගම් ස්ප්‍රීත්තු මිලි ලීටර් 75 ක් දමා දින 21 ක් පොළව යට තියල පෙරා ගන්න.

උදේ, දවල්, රාත්‍රී ආහාරයට පෙර මේස හැඳි එකහමාර බැගින් ගන්න. දින 21 යි. අවශ්‍ය නම් තවත් ගන්න පුළුවන්.

මේ මගින් මුඛයේ පටන් අධෝ මාර්ගය දක්වා ඇතුලත වගේම පිටත ඉන්ද්‍රියන්ගේ සියලු තුවාල, තැලුම් සුව වෙලා අපද්‍රව්‍ය ඉවත් වෙනවා. ඇට පලාගෙන එන ගෙඩිත් සුව වෙනවා.

මේ අරිෂ්ට බෝතල්වලට එකකට රිදී කුඩු ග්‍රෑම් 8 බැගින් එකතු කරල කිරල ඇබවලින් වහල එළිමහනක අඩි 6 ක් පමණ ඉහලින් මේසයක් මත හෝ කණුවක් මත හෝ දින 28 ක් තියන්න. ඉන්පසු රෙදි කැබැල්ලකින් හෝ සුදුසු පෙරහන්කඩකින් හොඳින් පෙරාගෙන රිදී කුඩු ටික ඉවත් කරල ඉහතින් සඳහන් කරල තියෙන විදිහට පළමු බෝතලය පැය 4 න්



# නිවනට අදාළව ධර්මය යන වචනයේ නිරුක්තිය

මේ කාරණය සමාජ ජාලා දහම් මණ්ඩපයක යොමු කළ ගැටළුවක්. ඒ සඳහා ලබා දුන් පිළිතුර ඇසුරෙන් කරන විස්තරාත්මක විග්‍රහයක් පහත දැක්වෙනවා.

යෝ නිරුත්තිං න ජානාති
ජානාති පිටකත්තයං
පදේ පදේ විකංඛෙය්‍ය
වනේ අන්ධ ගජෝ විය

යමෙක් ත්‍රිපිටකයම දැනගෙන හිටියත් නිරුක්ති දන්නෙ නැත්නම් ඔහුට පදයක් පදයක් පාසා සැක ඇති වෙනවා. හරියට වනයේ ඉන්න අන්ධ ඇතෙක් වළවල්වල වැටෙනවා, ගස්වල හැපෙනවා, මුලාවට පත්වෙනවා වගේ. ඒ නිසා නිරුක්ති ඇසුරෙන් ධර්මය කියන වචනයේ අර්ථය දැනගැනීම අන්ධ බවින් මිදිල ඇත්ත ඇති හැටියෙන් දැකීමට හේතු වෙන නිසා මේ ගැටළුව ලිහාගන්න එක වැදගත් වෙනවා.

යමකින් යමක් දරා සිටින අර්ථයෙන් ධර්මය (ධාරේතීති ධම්මෝ) වෙනවා. උදාහරණයක් හැටියට භව ප්‍රත්‍යයෙන් ජාති වෙනවා. ඒක දරන ස්වභාවයක් නිසා ධර්මයක්. අවිද්‍යා ප්‍රත්‍යයෙන් දුක්ඛ නිරෝධය වේ කියන එක එහෙම දරන්නෙ නැති නිසා ධර්මයක් වෙන්නෙ නෑ. සමාජ සම්මතවලට ගරු කරමින් කෙනෙක් තමන්ගෙ පවුලට, ගමට, සමාජයට යුතුකම් වගකීම් ඉටුකරමින් කටයුතු කරන කොට මිනිස් බව දරනවා. ඒ අනුව මිනිස් ධර්මයක පිහිටල ඉන්නවා. යම් කෙනෙක් පින් සිතින් තුන් කල් වාසී මහා සංඝ රත්නයට දානයක් පිරිනමනවා. ඒ වෙලාවෙ ඔහු දේව බව දරනවා. තවත් කෙනෙක් තමන්ට හැකියාව, කාර්ය සූරත්වය තියෙද්දි දෙමව්පියන්ගෙන් වැඩ ගන්නවා. එතකොට ඔහු අසුර බව දරනවා.

---

4 ටත්, දෙවෙනි බෝතලය පැය 6 න් 6 ටත්... ආදී වශයෙන් ගන්න. මේ මගින් නිතර හැදෙන උණ ආබාධ සුව වෙනවා. පුරස්ථි ග්‍රන්ථි ඉදිමුම සුව වෙනවා. සියලු ගෙඩි, වණ, පිළිකා සුව වෙනවා.

මුලින් අරිෂ්ටය පෙරාගෙන ඉතිරි මණ්ඩිය (හොඳට මිරිකගෙන ඉතිරිය) කිලෝ2කටපිරිසිදුතලතෙල්බෝතලයක් බැගින් දමා චූර්ණ වෙනකල් අංශක 90 ට රත් කරල ලිපෙන් බාගෙන ශරීරයේ පිටත සියලු තුවාලවලට ප්ලාස්ටරයක් විදිහට දැම්මෙන් දින 7 කින් ලොකු කුඩා සියලු තුවාල සුව වෙනවා. පෙකණියට පහලින් යටිබඩ ප්‍රදේශයේ ගැල්වීමෙන් ගර්භාෂගත ආබාධ සුව වෙනවා.

මේ අරිෂ්ටය හදාගන්න අපහසු අය ඊට ආදේශකයක් විදිහට පහත බෙහෙත හදාගෙන අරිෂ්ටය ගන්න නියම කරල තියෙන විදිහටම පාවිච්චි කරන්න.

ස්වභාවික පිනි දිය බෝතල් 4 ක් අරගෙන එකකට රිදී කුඩු ග්‍රෑම් 8 බැගින් දමා කිරල ඇබවලින් වහන්න. එළිමහනේ පොළව මට්ටමෙන් අඩි 6 ක් ඉහලින් සුදුසු රඳවනයක් මත තියල ඉහලින් පියස්සක් වගේ කළු රෙද්දක් ආවරණය වෙන විදිහට යොදන්න. දින 28 ක් තියල හොඳින් පෙරාගෙන රිදී කුඩු ටික සම්පූර්ණයෙන්ම ඉවත් කරල පිනිදිය ටික ඉහත සඳහන් ආකාරයට පාවිච්චි කරන්න. හතර වෙනි බෝතලයත් පැය 8 න් 8 ට ගත යුතුයි.

## බැටලෝම මී පැණි ගුලි

බැටළු ලෝම (මවිල්) කබලේ දමා පියනකින් වසා පුලුටු වෙන්න බැදගෙන ඇඟිලිවලින් පොඩි කරනකොට කුඩු වන මට්ටමේදී බාගෙන කුඩු කරගෙන පිරිසිදු මී පැණිවලින් අඹරගෙන බණ්ඩක්ක ඇට පමණට ගුලි කරල හෝ පෙති කරල ගන්න.

අවුරුදු 9 න් පහල අයට 1 බැගිනුත්, අවුරුදු 9 ට වැඩි අයට 2 බැගිනුත් උදේ, දවල්, රාත්‍රී ආහාරයට පෙර හෝ පසු දෙන්න.

මේ මගින් මුත්‍රා සමග ප්‍රෝටීන් පිටවීම නවතිනවා. කාන්තාවන්ට ඇතිවන සුදු යාම (ඇඟ උණු කරවා යාම) නවතිනවා. වස විස කැවීම නිසා වූ දුබල බවින් හට ගන්නා දියවැඩියා ආබාධය සුව වෙනවා. ඒ දියවැඩියාව සුවයට 78 කලාපයේ සමාධිමය අත් බෙහෙත් ලිපියේ අංක 2 යටතේ සඳහන් කළ ගුලිත් සමග දෙන්න.

**සටහන**
**නීතිඥ චන්දන සිරිවර්ධන**

යමක් අනිච්ච නම් ඒ තුළින් දුක උපදිනවා කියන එක ලෝකයේ දරන ස්වභාවයක්. ඒ නිසා ධර්මයක් වෙනවා. යමක් අනිත්‍ය නම් (ස්ථිර නැත්නම්) දුකයි කියන එක ලෝකයේ දරන ස්වභාවයක් නෙවෙයි. මොකද අපි අකමැති දේවල්, උදාහරණ විදිහට පිළිකා, අංශභාගය වගේ දෙයක් අනිත්‍ය වීම මහා සැනසුමක්, අස්වැසිල්ලක්, සැපයක්. ඒවා අනිත්‍ය වීම නිසාම තමයි සුව කරගන්න පුළුවන් වෙන්නෙ. ඒ නිසා අනිත්‍ය නම් දුකයි කියන එක ධර්මයක් වෙන්නෙ නෑ. (දුක හට ගන්නෙ තණ්හාව නිසා මිසක් අනිත්‍ය නිසා නෙවෙයි.)

ධර්මය කියන වචනයේ නිරුක්ති අර්ථයන් තවදුරටත් සූක්ෂම විදිහට ලිහන්න පුළුවන්. ඒ කියන්නෙ විභජ්ජවාදීව සළකල බැලුවම.

"ධ, ධි, ධී" යන ගති හඬ බුද්ධිය දනවන්නක්. බුද්ධ, බුද්ධිවන්ත, බෞද්ධ, බෝධි, ධීර, ධාරණ, ධර්මය, සමාධි, අවබෝධය, බුධ කියන වචනවල මේ කියන ගති හඬ දකින්න පුළුවන්. ඉහත වචනවල පොදු ලක්ෂණය (පොදු ගුණාකාරය) බුද්ධිය (intellect) සමග බැඳිල තියෙනවා.

මහ බෝසතාණන් වහන්සේ ලොව්තුරා බුද්ධත්වයට පත්වෙන්න පෙරුම් පුරාගෙන ආ අති දීර්ඝ සසර ගමනෙදි මිනිස්සුන්ට ඇස්, හිස්... ආදිය දන් දුන්නා කියල අපි අහල තියෙනවා. හිස් දන් දුන්නා කියල කියනකොට අද බොහෝ දෙනෙක් අදහස් කරන්නෙ භෞතිකව බෙල්ලෙන් උඩ තියෙන හිස දන් දීමක් ගැන. ඇත්තටම ඒක එහෙමද? අජීවී හෙවත් මළ හිසකින් තවත් කෙනෙකුට ඇති ප්‍රයෝජනය මොකක්ද? කෞතුකාගාරයකට නම් විශේෂ හිසක, හිස් කබලක වැදගත්කමක් තියෙන්න පුළුවන්, මේ අර උත්තමයා දන් දුන්න හිසයි කියල එන අයට ප්‍රදර්ශනය කරන්න. ඒ වගේද මහ බෝසතාණන් වහන්සේ ඇත්තටම හිස් දන් දීල තියෙන්නෙ?

**සැඟවුණු ධර්මය සියලු වැහුම් ඇරල යළි හෙළි කළ අති පූජ්‍ය වහරක අභයරතනාලංකාර මහ තෙරුන් වහන්සේ පැහැදිලි කරල තියෙනවා, මෙතනදි මහ බෝසතාණන් වහන්සේ හිස් දන් දුන්නා කියන්නෙ, ඔළුවක් මොළයක් නැතුව හිටපු, ඒ කියන්නෙ බුද්ධියෙන් තොරව පව් වැඩ කරන අයට ඒවායේ ආදීනව පෙන්වා දීල කරුණාබර හිතින් ඔවුන්ව අපායගාමී දුස්චරිත මාර්ගයෙන් වෙන් කිරීමට කරුණු පැහැදිලි කරදීම කියල.** ඒ නිසා එතැනදි අදහස් කරන්නෙ බුද්ධිය දන් දීමක්. බුද්ධිය හිස සතු දෙයක් හැටියට සම්මත නිසා පරමාර්ථ වශයෙන් හිස් දන් දීමක් වෙන්නෙ එහෙමයි.

ලෞකික පටිච්ච සමුප්පාද චක්‍රයෙන් පෙන්වන මහ ඍෂි භාෂිතයක් වන ජ්‍යොතිෂයේ බුධ ග්‍රහයා, බුද්ධියට සහ බුද්ධිමත් බවට (intelligence) කාරක වෙනවා, එහෙම නැත්තම් ප්‍රධාන වෙනවා. ඒ නිසාම බුධ හිසට සහ මොළයට කාරකයි.

"මනං උච්චතීති මනුස්සෝ" මනසේ උසස් බව නිසා මනුස්ස වන්නේය. "හිතාහිතං ජානාතීති මනුස්සා" හොඳ නරක වෙන් වෙන් වශයෙන් තෝරා දැනගත හැකි කෙනා මනුස්ස නම් වේ කියල අපි ධර්මයේ අහල තියෙනවා. ඒ වගේම තව්තිසා ලොව දෙවියන් මිනිස්සුන්ට වඩා රූපයෙන් අග්‍ර බවත්, දඹදිවවාසී මිනිස්සු දෙවියන්ට වඩා ඥානයෙන්, ඒ කිව්වෙ බුද්ධියෙන් අග්‍ර බවත් බුදු පියාණන් වහන්සේ දේශනා කරල තියෙනවා. ඒ වගේම මේ ධර්මය ප්‍රඥාවන්තයන්ට මිසක් දුස්ප්‍රාඥයන්ට නෙවෙයි කියලත් බුද්ධ වචනයක් තියෙනවා.

ඒ නිසා ධර්මය කියන වචනය විග්‍රහ කරන කොට බුද්ධිය කියන වචනය අත්‍යවශ්‍යයෙන් සලකා බැලීම කළ යුතුම වෙනවා. ඒ වගේම ජ්‍යොතිෂයට අනුව බුද්ධියට කාරක වන බුධ ග්‍රහයාගේ ශක්තීන් ක්‍රියාත්මක වෙන ආකාරය සූක්ෂමව විභජනය කරල වැහුම් ඇරල තෝරා ගැනීමත් ධර්මය කියන වචනය වඩාත් පැහැදිලිව තේරුම් ගන්න පහසු කරනවා.

යමක රටාවන් (patterns) දැකල, ඒවා තමන් දන්න ඒ හා සමාන අනෙක් රටාවන් එක්ක සංසන්දනය කරල සහ වෙන් කරල, (comparing and contrasting), දන්න දේ සමග තවදුරටත් සම කරල (matching) මේ අහවල් දේ කියල හඳුනාගන්න (identifying), ඒ දකින දේ තුළ ඇති සූක්ෂම වෙනස්කම් හරි ආකාරයෙන් දැනගන්න (knowing) බුධ ප්‍රධාන වෙනවා. ඒ වගේම ඒ සියලු දේ මනාව මනසේ සංවිධානය (organising) කරල ධාරණය කරල (memorising) නැවත ප්‍රයෝජනයට ගන්න තියාගන්න එකත් බුද්ධියේ ක්‍රියාකාරීත්වයක් නිසා ඒකටත් බුධ මුල් වෙනවා. ස්ථානෝචිත නුවණ (common sense) කියන දේට බුද්ධිය අත්‍යවශ්‍ය පසුතල සාධකයක් නිසා ඒ සඳහාත් බුධ ග්‍රහ බලය මුල් වෙනවා.

කලු පාට ශරීර වර්ණයක් තියෙන, සමහර වෙලාවට හොරෙන්ම කුස්සියේ සහ අවට තියෙන කෑම ඩැහැගෙන යන, කෑමට ගිජු, "කාක් කාක්" කියල කෑ ගහන කුරුල්ලා කාක්කා කියල අපි කුඩා කාලයේම වැඩිහිටියන්ගෙන් අහල දැනගෙන තියෙනවා. සිංහල අවුරුද්ද ළං වෙනකොටම "කොහෝ කොහෝ" කියල නිතර සද්දෙට කෑ ගහන, කපුටා තරම් විසාරදව එළියට පේන්න එන්නෙ නැති, කලු පාට නමුත් කපුටා තරම් පිරිපුන් සිරුරක් නැති, ඇස් ලේ රතු පාට කුරුල්ලා කොහා කියල අපි අහල දැනගෙන තියෙනවා. ඒ ඒ සතාගෙ පාට, හඬ, ප්‍රමාණය, හැසිරීම් රටාවන් දැකල, කලින් දැකල පුරුදු අත්දැකීම්වල මතකයන් සමග මනසින් සංසන්දනය කරල, ඒ සතා ගැන ධාරණය කරගෙන හිටිය නිමිති, ආකාර... ආදිය අනුව ලෙහෙසියෙන්ම කොහා කොහා හැටියටත්, කපුටා කපුටා හැටියටත් කාගෙන්වත් නැවත අමුතුවෙන් අහන්නෙ බලන්නෙ නැතිව හඳුනගන්න අපිට බුද්ධිය ඉවහල් වෙනවා. එතනදිත් මුල් වෙන්නෙ බුධ.

කෙනෙක්ගෙ බුධ ග්‍රහයා උපතෙදි බලවත් නම්, ඒ කියන්නෙ ඒ කෙනා බුද්ධිවන්ත නම්, කලුම කලු වුනත් කපුටා වගේ එකහමාරක් විතර විසාල කලු රාජාලියෙක් (Black Eagle) නිකන් හරි කැලෑබද ගහක වහල ඉන්නව දැක්කොත්, තඩි කපුටෙක් දැක්ක කියල රැවටෙන්නෙ නැතුව, උගේ නම නොදන්නව වුනත් මහ විසාල උකුස්සෙක් වගේ කලු කුරුල්ලෙක් දැක්ක කියල කියන්න පුළුවන්.

ඒ අනුව අපි තේරුම් ගත යුතුයි, යමක ආකාර, නිමිති, අනුනිමිති... ආදිය සසඳල නිවැරදි තීරණයන්ට පැමිණීම බුද්ධිය සතු ක්‍රියාවක් හැටියට. ඒ සඳහා ප්‍රධාන වෙන ග්‍රහ ශක්තිය දෙන්නෙ බුධ.

වෙළහෙළඳාම් කරනකොට එක් කෙනෙකුට තව කෙනෙක් සමග සම්බන්ධ වෙලා භාණ්ඩ සහ සේවා ආදිය හුවමාරු කර ගන්නවා. ඒ කටයුත්තෙදි බුද්ධිය අත්‍යවශ්‍ය සාධකයක් වෙනවා. බුද්ධියෙන් තොරව ගනුදෙනු කරන්න ගියොත් ගනුදෙනු අසාර්ථක වෙනවා. ඒ නිසා එතැනදිත් බුධ ග්‍රහයා සතු රටාවන්, ආකාර, ප්‍රකාර සංසන්දනාත්මකව හඳුනාගැනීමේ බලය ක්‍රියාත්මක වෙනවා.

ඉංග්‍රීසි භාෂාවෙන් Mercury (ම'කරි) නමින් හඳුන්වන බුධ ග්‍රහයා වාණිජ කටයුතුවලදී mercantile (වාණිජ), merchandise (වෙළඳ බඩු), merchant (වෙළෙන්දා), merge

(ඒකාබද්ධ කිරීම) කියන වචනවලින් පෙන්වනවා. ඒකෙන් සියලු හුවමාරු (exchanges) සඳහා බුධගෙ තියෙන සම්බන්ධතාව පිළිබිඹු කරනවා. පිරිසක් එක්ක ගැටළු හදාගන්නෙ නැතිව සහයෝගයෙන් වැඩ කරනකොටත් (social skills, team work) යහපත්ව පිහිටි බුධ ග්‍රහ බලය මුල් වෙනවා.

ඇස, කන, නාසය, දිව, ශරීරය යන පංචේන්ද්‍රියන්ට ගෝචර වන රූපාදී අරමුණු රටාවන් අනුව සංසන්දනය කරල, දන්න දේ සමග සංයෝග කරල, ඒ ප්‍රතිඵල සම්බන්ධ කරල අරමුණු හඳුනගන්න බුද්ධිය මුල් වෙන නිසා, එතැනදිත් බුධගෙ ශක්තිය ප්‍රධාන වෙනවා. මේ සියලු පණිවුඩ අධිවේගයෙන් සම්බන්ධීකරණයට ස්නායු පද්ධතිය මුල් වෙන නිසා බුධ ඒ සඳහාත් කාරක වෙනවා. දුර්වල ලෙස උප්පත්ති කේන්ද්‍රයේ පිහිටි බුධ ස්නායුගත රෝගවලට හේතු වෙනව කියන්නෙ ඒකයි.

"සං" කියන වචනයෙන් එකකට වැඩි දෙයක් එකට එකතුවීම පිළිබිඹු වෙනවා. සංයෝග, සම්බන්ධ, සංගීතය, සංගායනා, සංගමය, සංකළණ, සංවිධාන යන වචන බොහොමයක් ඒ සඳහා උදාහරණ සපයනවා. මේ අතර අපි නිවන් දකින්න යන ගමනෙදි නිතර ඇහෙන සංසාරය කියන වචනයත් අමතක කරන්න බෑ. රාගයෙන් එකතු කරල, ඒ කියන්නෙ සං කර ගන්නා, ද්වේශයෙන් සං කර ගන්නා සහ මෝහයෙන් සං කර ගන්නා මානසික බැඳීම් (සංඛාර) නිසා, හේතුවට ඵලය හැටියට මතු උපතකට හේතු වන පරිදි කර්ම භවය පෝෂණය කර ගනිමින් ලෝක සත්ත්වයා සංසාර ගමනෙ යනවා. කොතැනක හරි "සං" හා සම්බන්ධයක් තියෙනව නම්, ඒ කියන්නෙ එකතු කිරීම හෝ ඒ එකතු කරල බෙදල බලන තත්ත්වයක් තියෙනව නම් එතැනදි බුධ ග්‍රහ ශක්තිය මුල් වෙනවා.

බුද්ධ සාසනය විද්‍යමාන වෙන ක්ෂණයක් තරම් ඉතා කෙටි කාලයකදි අනිච්ච, දුක්ඛ, අනත්ත කියන තිලකුණ අවබෝධය තුළින් අපිව කෙළෙසන රාග, ද්වේශ, මෝහ කියන "සං" කළ්‍යාණ මිත්‍ර සේවනයෙන් ලැබෙන පරතෝඝෝෂක ප්‍රත්‍යය තුළින් බුද්ධියෙන් හඳුනගෙන, ඒවා බිඳ හැරීම (ස කිරීම) සෝතාපන්න ඵලයට පත්වීමත් සමගම ආරම්භ වෙලා පරමාර්ථ සංඝත්වයට පත්වෙනවා.

ලෝක සත්ත්වයා සණ සංඥාවෙන් යුතුව එකාකාරව, ආත්මීය හැටියට රැවටිච්ච (රැ වැටිච්ච) සියලු එකතු (සං)



මහා පුරිස වූ මහා ප්‍රාඥ වූ තථාගත අරිහත් සම්මා සම්බුදු පියාණන් වහන්සේලාගේ අපරිමිත බුද්ධි ප්‍රභාවයෙන් විභජ්ජවාදීව බෙදා දක්වමින් ඒවායේ රටාවන්, ප්‍රකරණයන් වෙන් වෙන් වශයෙන් ශ්‍රාවක ගෝචර මට්ටමට තෝරල දෙනවා. සෝතාපන්න වෙනකොට "සං" බිඳ හැරීමේ අනුපූර්ව ප්‍රතිපදාව නියම ආකාරයට දර්ශනයෙන් දැනගෙන, දැකල, ඒ දුටු නිවනට යන මාර්ග ප්‍රතිපදාව ක්‍රියාත්මක කරන්න බුද්ධිය නැතහොත් බුධගෙ ශක්තිය අත්‍යවශ්‍ය වෙනවා.

"ධර්ම" කියන්නෙ පොදු වචනයක්. දැනට ලෝක සම්මතයේ හොඳ පැත්ත කතා කරන්න තමයි ධර්ම කියන වචනය භාවිතා කරන්නෙ. නමුත් නිවැරදිව නම් හොඳ පැත්තට සද්ධර්මයත්, නරක පැත්තට අසද්ධර්මයත් කියල භාවිතා කරන්න ඕන. බුදු පියාණන් වහන්සේ දේශනා කරල තියෙනවා, මහණෙනි, ප්‍රාණඝාතය අධර්මයක් (පාණාතිපාතා භික්ඛවේ අධම්මෝ) සහ ප්‍රාණඝාතයෙන් වෙන්වීම ධර්මයක් (පාණාතිපාතා වේරමණී ධම්මෝ). අධර්මය අධර්මයක් හැටියට දැනගෙන (අධම්මෝච භික්ඛවේ වේදිතබ්බෝ) ධර්මය ධර්මය හැටියට යථාර්ථවත්ව, අර්ථාන්විතව, කෙළෙස් පටි බහාතබන (ධම්මෝච යථා ධම්මෝ යථා අත්ථෝ තථාපටිපජ්ජි තබ්බන්ති) හැටියට දේශනා කරල තියෙනවා. හොඳ නරක තෝරගන්න, කළ යුත්ත නොකළ යුත්ත (කරණීය සහ අකරණීය ධර්ම) තෝර ගන්න (right judgement) කෙනෙක් බුද්ධිවන්ත වෙන්න ඕන. එතැනදිත් බුධගෙ ශක්තිය කැපිල පේනවා.

ඒ අනුව සංසාරය තුළ සාරත්වයෙන් අරගෙන මුලාව නිසා වටිනාකමක් දීල තණ්හාවෙන් ඇලිල තියෙන එකතු හෙවත් කාය වෙන් කරල විභජ්ජවාදීව සූක්ෂමව ඒවායේ අනිච්ච, දුක්ඛ, අනත්ත ස්වභාවයන් විදල බලන්න නම් ඒ කෙනා බුද්ධිවන්ත කෙනෙක් වෙන්න ඕන. බුද්ධියෙන් සියුම් විදිහට වෙන් කරල බැලුවෙ නැත්නම් ඇත්ත පේන්නෙ නැතිව යනවා. බුද්ධ ධර්මය විභජ්ජවාදී ධර්මයක් කියන කොට අදහස් වෙන්නෙ, අපිව මුලාවට දමන එකතුවෙන් වෙන් කරල ඒවායේ අසාර විදිහ බුද්ධියෙන් දැකගෙන අත්හැරීමට, නොඇලීමට, මිදීමට මග පාදන නිසා.

ජ්‍යොතිෂයට අනුව බුධ නපුංසක ග්‍රහයෙක්. ඒ නිසා තවම ස්ත්‍රී පුරුෂ වශයෙන් ලිංගිකත්වයේ මානසිකත්වයක් ඇතිවෙලා නැති හෙලුවෙන් සෙල්ලම් (හෙලු ළමා) වැඩ කරන කුඩා ළමයිනුත් බුධගෙන් නියෝජනය වෙනවා.

ලිංගිකත්වය දනවන සංකේත භාවිතයෙදි පුරුෂ ග්‍රහයන්ගේ ශක්තිය අංශක හතලිස් පහක ඇල ඉරකින් පෙන්වල, ස්ත්‍රී ග්‍රහ ශක්තිය සිරස් ඉරකින් පෙන්වන පසුබිමක, නපුංසක ග්‍රහයෙක් වන බුධ පෙන්වන්නෙ තිරස් ඉරකින්. ඒකෙන් පෙන්වන්නෙ බුද්ධිය කියන එකේ යථා තත්ත්වය කෙසේ විය යුතුද යන්න. අන්තවලට යන්නෙ නැතිව යමක ඇත්ත ප්‍රකාරය ඇති සැටියෙන් දැනගෙන අවබෝධ කරගන්න නම් දැරිය යුතු සම තත්ත්වය ඒකෙන් පෙන්වනවා. අරිහතුන් වහන්සේ අනංගණ වුනාම අංගවලින් අනින්න යන්නෙ නෑ. අංග දික්කරගෙන රාගයෙන් මත්වෙලා වෙලෙන්න යන්නෙත්, අතමිට මොලවගෙන ද්වේශයෙන් ගැටෙන්න යන්නෙත්, මුලාවෙන් අතිධාවනය වෙන්න යන්නෙත් නෑ. ඒ කියන්නෙ බුද්ධියේ ඇත්ත ඇති සැටියෙන් දකින සම තත්වයෙන් විසම තත්වයට යන්නෙ නෑ.

ශ්‍රාවක බුද්ධ බවට පත්වුනාම බුද්ධියේ විසම ගති සමථ වෙලා,

අවබෝධය ශ්‍රාවක බුද්ධ මට්ටමෙන් පූර්ණයි. එතකොට සබ්බ සංඛාර සමථයි. ඒ අධ්‍යාත්මිකව. හිටගන්න කොට විසිවෙන ස්වභාවය, කරකැවිල්ල ඇති වන ස්වභාවය, කෙලින් ඉන්න අපහසු වන රෝග, ශරීරයේ අසමමිතික බව (වපර ඇස්) සඳහාත් පාපී බුධ මුල් වෙන්නෙ සම බව (balance) දැරීමට බුධට ඇති බලය නිසා.

ස්ත්‍රී බුද්ධිය හැල්ලු කරමින් වසවර්ති මාරයා, එක අරිහත් උත්තමාවියක් අපහසුතාවයට පත්කරන්න ආ පසු, "ඔය ටික උඹ ස්ත්‍රී ගති තියෙන එකියකට කියාපිය" කියල මාරයාව පරාද කළේ ශ්‍රාවක බුද්ධ ගති / බුද්ධියේ ගති විසම පැත්තෙන් සම බවට පත්වුන උත්තමාවියක් වුන නිසා. ස්ත්‍රී ගති, එහෙම නැත්තම් ඉතිරි ගති නියම විදිහට තිබුන කාන්තාවකට මාරයාගෙ ඒ අපහාසය ඇහුන නම්, සමහර විට අඬන්න වැලපෙන්නත්, මූණ නරක් කර ගන්නත් තිබුණා. ඒ ස්ත්‍රීන් සංවේදී දේවල් පදනම් කරගෙන මාරයා ඔච්චං කළ නිසා. හැබැයි ඒ දේ වුනේ නෑ. මොකද එතුමිය බුද්ධිය විසම තත්වයෙන් මුදව ගත්ත උත්තමාවියක් වුන නිසා.

හුවමාරු කරගැනීම්, රටාවන් දැනගෙන, වෙන් කරල නිසි පරිදි සංකලනය කිරීමේ බුධ ග්‍රහයාට ඇති ශක්තිය නිසා බුධ වචනයට (speech) කාරක හැටියට සළකනවා. ඒ අනුව අකුරු එකතු කරල "සං" කරල වචන හදල, වචන එකතු කරල "සං" කරල වාක්‍ය හැටියට අර්ථ දනවන්න පුළුවන් විදිහට ඒ සං නිවේදනය කරන්න, සන්නිවේදනයට (communication) කාරක ග්‍රහයා වෙන්නෙත් බුධ. උප්පත්ති කේන්ද්‍රයක බුධ බලවත් ලෙස පාප පීඩිතව ඉන්න අයට ගොලු බව, ගොතගසන බව සහ වචන භාවිතයෙදි අදක්ෂ බව, වචන නිසා පාඩු සිදුවීම, ඒ නිසා නඩුහබවලට පවා පැටලෙන්න, දඬුවම් විඳින්න සිදුවන්නෙ බුධ සන්නිවේදනයට කාරක නිසා.

අන් අයගෙ සිත් රිදවෙන ගුඨභාණී වචන පිටකරල, විශේෂයෙන් ආර්ය උපවාද කරගත්තම, දහම් මග එයින් එහාට වැඩෙන්නෙ නැත්තෙ, ශක්තියක් හැටියට වචනය සහ බුද්ධිය එකට ගැට ගහල නියෝජනය වෙන්නෙ බුධගෙන් නිසා. ඒ නිසා වචන වරද්ද ගත්තොත් බුද්ධිය වැහෙනවා.

සෝවාන් ආදී මාර්ග ඵලයන්ට පත්වෙච්ච ආර්ය උත්තමයෙකුට බැණ වැදීම්, නිගරු කිරීම්, අභූතයෙන් චෝදනා කිරීම් කළාම ධර්මාවබෝධයට හේතුවෙන බුද්ධිය වැහෙනවා. පෘතජ්ජනයෙක් එහෙම කළාම උපවාදය කමාකර ගන්න කල් ඒ අත්තභවයේ මගඵල ලබන්න බැරි වෙනවා. මගඵල ලාභියෙක් තමන්ට වඩා ගුණයෙන් වැඩි ආර්ය උත්තමයෙකුට උපවාදයක් කළොත්, කමාකර ගන්න කල් ඉතිරි මගඵල ලබන්න බැරි වෙනවා. සෝවාන් ආදී මාර්ග ඵලයන්ට පත් නොවෙච්ච අය කරගන්න ආර්ය උපවාද කමාකර නොගත්තොත්, මරණින් මතු ගරුක කර්ම හැටියට ඒකාන්තයෙන් නිරයගාමී කරවන්න ඒ වචනයෙන් කළ පව් හේතු වෙනවා. මේ බව අංගුත්තර නිකායේ එන අක්කෝසක සූත්‍රයත් සාක්ෂි දරනවා.

සාරිපුත්ත සහ මුගලන් යන මහ රහතන් වහන්සේලා පවිටු ආසාවන්ගෙන් යුක්තයි කියල තුන් වතාවක් බුදුන් වහන්සේ ඉදිරියේ තමන්ගෙ අප්‍රසාදය පළ කරපු කෝකාලික භික්ෂුවට, එහෙම කියන්න එපා, සාරිපුත්ත සහ මුගලන් සිල්වන්ත භික්ෂූන් වහන්සේලා, අගසව් දෙනම ගැන හිත පහදව ගන්න කියල බුදුන් වහන්සේ තුන් වතාවක් කියලත් කමාකර ගත්තෙ නෑ. ඊට පස්සෙ කෝකාලික භික්ෂුවගෙ කලින් මිතුරෙක් වෙලා, අනාගාමී බවට පත්වෙලා බ්‍රහ්ම ලෝකයේ උපත ලබල හිටපු තුදු නම් බ්‍රහ්මයෙක් ඇවිත් කෝකාලික භික්ෂුව ඉදිරියේ පෙනී ඉඳල උපවාද කමාකර ගන්න කියල කරුණාවෙන් මතක් කළා. උපවාදය බුද්ධිය ආවරණය කළ තරම කියනව නම්, කෝකාලික භික්ෂුව ඒ උත්තමයටත් බැනල එළව ගත්තා.

ඉතින් නොබෝ කලකින්ම ඒ භික්ෂුවට මොකද වුනේ? මුළු ඇඟ පුරාම බිබිලි ඇවිත්, ඒවා ක්‍රමයෙන් ලොකු වෙලා, අන්තිමට බෙලි ගෙඩි තරමට ලොකු වෙලා සැරව ගලන්න අරගෙන (සමහර විට පණුවොත් ගහල) මරණයට පත්වෙලා අති දීර්ඝ කාලයක් මහා දුක් පීඩා තියෙන පදුම කියන ඔසුපත් නිරයේ උපදින්න වුනා.

සම බවට කාරක බුධ ශරීරයේ සමටත් ඒ අනුව කාරක වෙනවා. වචන වරද්ද ගත්තම සමේ රෝග හැටියට අකුසල ප්‍රවෘත්ති විපාක දෝරෙ ගලා යන්නෙ ඒකයි. ආර්ය උපවාද කමාකර නොගත්තොත්, සම දුර්වර්ණ වෙනවා. කැසිලි, වණ, පිළිකා ඇති වෙනවා. ඒවා සන්දිට්ඨික (මේ අත්තභවයේම ඵල දෙන) ප්‍රවෘත්ති විපාක. ආර්ය උපවාද කර ගත්තම ඇති වෙන උපවාදාවරණ නිසාත්, බුද්ධිය ආවරණය වෙන නිසාත්, පෘතජ්ජනයන්ගෙ තියෙන "මම හරි" කියන දැඩි දෘෂ්ටි මතවාද නිසාත්, උපවාද කමාකර ගන්න තියෙන ඉඩ ඇහිරෙනවා. හරියට අර කෝකාලික භික්ෂුවට වුනා වගේ. ආර්ය උපවාද නිසා කෙනෙක් නිරයගාමී කරවන්න තියෙන ඉඩකඩ වැඩි ඒකයි. ඒ නිසා ධර්මය හේතු කර ගෙන බැන වදින අපහාස කරන අය කෙරෙහි දයානුකම්පාවෙන් කටයුතු කළ යුතුම වෙනවා.

එක වතාවක් යමක් ඇසූ පමණින් මතකයට ධාරණය කරගැනීමේ හැකියාවක් ධර්ම භාණ්ඩාගාරික ආනන්ද හාමුදුරුවන්ට තිබුණ කියල අපි අහල තියෙනවා. ඒ තරම් හැකියාවක් තියෙන්න නම් උන්වහන්සේ මොන තරම් බුද්ධිවන්ත කෙනෙක් වෙන්න ඇත්ද? නමුත් එදා චාපාල චෛත්‍යය ළඟදි බුදු පියාණන් වහන්සේ ආනන්ද හාමුදුරුවන් අමතල මෙහෙම කියනවා. "යම් කිසි කෙනෙක් සතර ඍද්ධිපාද වැඩුව නම්, බහුල ලෙස පුරුදු කරල තියේ නම්... ඒ කෙනා කැමති නම් කල්පයක් හෝ ඊට වැඩි කාලයක් වුනත් (වස්ස සතං වා භීයෝ... වසර සීයක් හෝ වැඩිය) ඉන්න පුළුවන්. ආනන්දය, තථාගතයන් වහන්සේ විසින් සතර ඍද්ධිපාදයෝ වඩන ලදී. බහුල වශයෙන් පුරුදු කරන ලදී... ආනන්දය, තථාගතයන් වහන්සේ කැමති වන්නේ නම් කල්පයක් හෝ ඊට වැඩි කාලයක් ඉන්න පුළුවන්." මේ විදිහට තුන් වතාවක් ප්‍රකාශ කර සිටියා.

ඒ වෙලාවෙ, "බොහෝ දෙනාට හිත පිණිස, බොහෝ දෙනාට සැප පිණිස, ලෝකයාට අනුකම්පා පිණිස, දෙවි මිනිසුන්ට වැඩ පිණිස, හිත සුව පිණිස භාග්‍යවතුන් වහන්ස කල්පයක් කල් වැඩ සිටින සේක්වා" කියල ඇරයුම් කරන්න ආනන්ද හාමුදුරුවන්ට බැරි වුනා. ඒකට හේතු වුනේ, වසවර්ති මාරයා ආනන්ද හාමුදුරුවන්ගෙ බුද්ධිය ඒ අවස්ථාවෙදි වසාදැමීම. ඒ අවස්ථාවෙ බුදු පියාණන් වහන්සේ දුන්න මහා ප්‍රබල ඇඟවීම්, නිමිති බුද්ධියෙන් එකතු කරල, කල්පයක් වැඩ සිටින්න කියල නිවැරදිව ඇරයුම් කළා නම් ඒක පිළිඅරගෙන බුදුපියාණන් වහන්සේ සාස්තෘ කෘත්‍යය අවම වශයෙන් වසර විස්සක් හෝ ඊට වැඩියෙන් ඉදිරියට පැවැත්වීමෙන් තුන් ලෝකයටම වෙන්න තිබුණ මහා වාසනාව මාරයා හරස් වීම නිසා වැළකුණා. ඒ නිසා ලොව්තුරා බුදුවරයන් වහන්සේලා හැර වෙනත් මගඵල ලාභීන් කොච්චර මහා පණ්ඩිත වුනත්, විවිධ හේතු නිසා කලින් කලට බුද්ධිය වැහිල සම තත්ත්වය විසම

වෙන්න බලපාන දේවල්වලට මුහුණ දෙන්න පුළුවන් බව තේරුම් ගන්න ඕන.

නිවනට අදාළව "ධර්ම" කියන වචනයේ "ර්ම" ගති හඬ තුලින් රමණය කළ යුතු හැටියටත්, "ය" යන ගති හඬ තුලින් යාවිය යුතු හැටියටත් නිරුක්ති අරුත් අනුව අපට ගෝචර වෙනවා. ඒ අනුව නිවන් අවබෝධයට හේතු ඇති දෙව් මිනිස් ප්‍රජාවට කතා කරන කොට, ආර්ය වූ සමථයට පත්වීමට බුද්ධියෙන් දැරිය යුතු, රමණය කළ යුතු, යාවිය යුතු දේ හැටියට පුළුල්ව අර්ථ, ධර්ම, නිරුක්ති, පටිභාන පටිනිද්දේසයෙන් දක්වන්න පුළුවන්.

රූප රාග, අරූප රාග, මාන, උද්ධච්ච, අවිජ්ජා කියන උද්ධංභාගීය සංයෝජන බිඳ දැමූ අරිහතුන් වහන්සේ, ඔරුවකට උපමා කළ ඒ ධර්මයට හාවෙලා තියෙන ඡන්දරාගයත් දුරින්ම දුරු කරල පංච සුද්ධාවාස බ්‍රහ්ම ලෝකයෙනුත් මිදිල සසර ගමන නිමා කරනවා.

ධර්මය කියන වචනයේ "ධර්ම" වචන මූලය සංස්කෘත වචනයක් වුනත්, නාම පදයක් හැටියට මේ වචනය භාවිතා කරන කොට ඒක සිංහල භාෂාවට අවශෝෂණය වීමක් (සිංහලකරණය වීමක්) සිද්ධ වෙනවා. සිංහලෙන් දම්, දහම කියලත්, පාලියෙන් ධම්ම කියලත් වචන තිබුණත්, ධර්මය කියන වචනය ඒ වචන අභිබවා නිතර භාවිතයට ඇවිත් (popular usage) තියෙන නිසා මේ වැදගත් පදය අර්ථාන්විතව තෝරාගැනීම අද කාලයට ඉතා වැදගත් වෙනවා.

නිවනට අදාළව පාලියෙන් ධම්ම කියන පදයේ එන 'ධ' කියන ගති හඬෙන්, බුද්ධියෙන් ධාරණ නැතහොත් දරණ ස්වභාවය යන නිරුක්ති අරුත ඉස්මතු වෙනවා. බුද්ධියෙන් දරා සිටින්නෙ මොකක්ද? අම නොහොත් නිවන. බුද්ධියෙන් සම අතට පත්වෙන්න දරා සිටිය යුතු අම යන්න ඒ අනුව ගම්‍ය වෙනවා.

'හ' සහ 'ස' යන්න සිංහල භාෂාවේ සමාන අරුත් ගෙන දෙන බව හාල් සහල්, සඳ හඳ, සිර හිර... යනාදී වචනවලින් පේනවා. ඒ නිසා හම කියන වචනයට සම යන අරුත ආදේශ කරන්න පුළුවන් වෙනවා. රාග, ද්වේශ, මෝහවලින් මිදිල සම බව බුද්ධියෙන් දරා සිටින ස්වභාවය දහම කියන වචනයෙන් පෙන්නුම් කරනවා. ඒ වගේම දම් යන සිංහල වචනයෙනුත් බුද්ධියෙන් සමථයට පත්වීමට අදාළ අම නැතහොත් නිවන සහ නිවන් මගට අදාළ දේ බුද්ධියෙන් දරා සිටින අදහස විද්‍යමාන වෙනවා.

සං. නි. 5 (2) <u>සංකාසන සූත්‍රයේ</u> 285 පිටුවේ චතුරාර්ය සත්‍යය පෙන්වන කොට අකුරු, ව්‍යංජන, බෙදීම් අප්‍රමාණ බව පෙන්වල තියෙනවා. ඒ නිසා නිරුක්ති අර්ථ සපයනකොටත් චතුරාර්ය සත්‍යය ඉස්මතු කරන විදිහට මේ ආකාරයට පුද්ගලයන්ගේ ශ්‍රද්ධා, ප්‍රඥා ආදී ඉන්ද්‍රිය නානත්වය අනුව වචනය යෙදෙන ප්‍රකාරය අනුව එකකට වැඩිය අර්ථ විභජ්ජවාදීව විදල දර්ශනය කරන්න පුළුවන් වෙනවා. ඒ අනුව දහම කියන වචනයේ ඉහත නිරුක්තියට අමතරව, සසරට සත්ත්වයා බඳවන සක්කාය දිට්ඨි, විචිකිච්ඡා, සීලබ්බත පරාමාස... ආදී සංයෝජන දහනය කර අම නම් වන නිවනට පත් කරන... යන නිරුක්තියත් ඉස්මතු වෙනවා.

එහෙම පද බෙදන්නෙ කොහොමද, මොන භාෂා රීතියටද ඒක ගැලපෙන්නෙ, මේවා උමතු විකාර, ගොබ්ල බණ... ආදී වශයෙන් වහසි බස් දොඩවන, බොහෝ කොටම මේ අත්බැවේදි නිවන් දකින්න පාරමී ධර්ම නැති පිරිස් එහෙම අපහාසාත්මකව කතා කරනව අපිට ඇහිල තියෙනවා. පණ්ඩිත වේදනීය වන උතුම් බුද්ධ ධර්මයට අදාළ වචන පද හරඹයන්ටත් ගිහින්, ධර්මය නිසාවත් ඇලෙන්න, ගැටෙන්න, මුලාවෙන්න එපා කියන <u>බ්‍රහ්මජාල සූත්‍ර</u> තථාගත ඔවදනත් ඔවුන් අමතක කරනවා.

අකුරු දෙකක වචනයක් වන රජ කියන වචනයට, ජනතාව රන්ජනය කරන අර්ථයෙන් රජ වේ කියල ලොව්තුරා බුදුන් වහන්සේ <u>අග්ගඤ්ඤ සූත්‍රයේ</u> නිරුක්ති ධර්ම චක්‍රයෙන් පෙන්වා දීල තියෙනවා. නිරුක්ති කියන්නෙ ශ්‍රාවකයන්ට ගෝචර, ශ්‍රාවකයන්ට සාධාරණ බුද්ධ ඥානයක්. සෝවාන් ආදී උතුම් මාර්ග ඵලයන්ට පත් වෙච්ච ශ්‍රාවකයන්ට හේතු වාසනා තියෙන පරිදි බුදු පිය උරුමයෙන් ලැබෙන ධර්ම ඥාන දායාදයක්. ශ්‍රේණිගත අධ්‍යාපනයෙන් භාෂා විශාරද වුනත්, නිරුක්ති ඥානය පොතපතින් ගන්න බෑ. විශේෂයෙන් බුදුන් වහන්සේ භික්ෂූන්ට අකැප හැටියට ඇවැත් මගින් තහනම් කරල තියෙන සංස්කෘත, ගෘහ නිර්මාණ ශිල්පය ආදී ලෝකායත සාස්ත්‍ර වර්තමාන භික්ෂු අධ්‍යාපනයට ඇඳගෙන, බුදුන් වහන්සේ භික්ෂූන්ට අකැප හැටියට විනය පිටකයේ දක්වල තියෙන, වැටුපට රස්සාවල් කරන පිරිස්වලට නිරුක්ති අර්ථ බරපතල ලෙස අජීර්ණ වෙන්නෙ, බුදුන් වහන්සේ භික්ෂූන්ට අකැප හැටියට පෙන්වා වදාළ දේවල් දරාගෙන, නිවන් දකින්න ඕන නැති කුණු කන්දල්වලින් ඔළු ගෙඩි පුරවගෙන, ධර්මාවබෝධයට අත්‍යවශ්‍ය බුද්ධිය තමන් විසින්ම ආවරණය කරගැනීම නිසා වෙන්න පුළුවන්. බුදු අණ කඩ කිරීම (ආණාවිතික්කමාවරණය) නිවන වැහෙන්න හේතු වෙන නිසා, ඒ බලවත් ආවරණවලින් මිදෙන්වා කියල ඒ චෝදනා නගන පිරිසට මෙත් සිතින් ප්‍රාර්ථනා කරනවා.

නිකං හාල් නිහාල් වේ, කුචු කුචු සද්දං කරෝති හෝති කෝච්චි, කුචු කුචු සද්දයක් නගන නිසා කෝච්චි වේ... ආදී වශයෙන් සමහරු ජනමාධ්‍ය තුල නිරුක්තිවලට විහිලු කරනවා අපිට ඇහිල තියෙනවා. ලුහු කියන වචනයෙන් කුඩා කියන තේරුම කිය වෙනවා. ඒ අනුව විහිලු කියන වචනයේ, තමන් විසින්ම තමන්ව ලුහු කරගන්න, බාල කරගන්න හේතු වෙන දේ කියන නිරුක්ති අර්ථය තියෙනවා. අත්බැව පහතට හෙලන (භය සංඛාර) විහිලු යන්න පද නිරුක්තිවලට අනුව විභජ්ජවාදීව බැලුවම පේනවා. ඒ අනුව නිරුක්තිවලට විහිලු කිරීම නිසිද අනිසිද කියල තේරුම් ගන්න නැණවතුන්ට පුළුවන්.

**සටහන**

**අමිල සල්ගාදු**

**පක්ෂි හා ස්වභාවික විද්‍යා සංචාරක මාර්ගෝපදේශක**

**077-7591155**

**amilasuwa@gmail.com**

# සියවස් ගණනාවකට පෙර සැඟව ගිය නිමල බොදු මග යළි පුබුදුවමින්,

හෙළ බොදු පියුම දහම් කරුණු ඔබ වෙත රැගෙන එන්නේ, බුදු පියාණන් වහන්සේ අනුදැන වදාළ, අග්ගඤ්ඤ සූත්‍රය, නිරුක්තිපථ සූත්‍රය සහ අරණවිභංග සූත්‍රය යන සූත්‍රාන්තයන්ට අනුව, දහම් පදවල සැඟවුණු දහම් අරුත් මතු කරන පද නිරුක්ති සහ අතීතය, වර්තමානය, අනාගතය හඟවන තුන්කල් නිරුක්ති සහිත ව්‍යවහාර ශබ්ද නිරුක්ති ක්‍රමවේදය අනුව මිස, උන්වහන්සේ අනුමත නොකළ ලිඛිත භාෂා රීති සහිත බමුණන්ගේ ත්‍රිවේද නිරුක්ති මත නොවන බව සලකන්න.



බිං පොල්



හීන් නිදිකුම්බා



නිල් මානෙල් අල



ඇත් අඩි

# වස විස ආහාරවලට එරෙහි විකල්ප 16

දුර්ලභව ලැබූ මනුස්ස ජීවිතය වස විස ආදී ප්‍රයෝග විපත්තිවලින් විනාස වෙන්න ඉඩ නොදී ආරක්ෂා කර ගැනීමේ අරමුණින්, වහරක අභයරතනාලංකාර මහ තෙරුන් වහන්සේ විසින් ද්‍රව්‍ය පදාර්ථ ඥානයෙන් සහ බෙහෙත් සමාධියෙන් මතු කර දුන් කරුණු කාරණාත් ඇසුරු කරගෙන, වස විස ආහාරවලට එරෙහිව භාවිතා කරන්න පුළුවන් තවත් වටිනා ඖෂධීය ආහාර වර්ග කිහිපයක් වර්තමාන සහ පශ්චිම ජනතාවගේ හිත සුව පිණිස මෙවරත් හඳුන්වා දෙනවා.

**බිං පොල්** - හෙවණ තියෙන රබර් වතුවල, ගස් යට ස්වභාවිකව වැවෙන, දුඹුරු පාට නටුවකින් යුත් පළල් තනි පත්‍රයක් තියෙන, තුන් පැත්තකට බෙදෙන ගෙඩි හට ගන්නා කුඩා පඳුරු විශේෂයක්. වියළි කලාපයේ වගේම තෙත් කලාපයෙත් බහුලව දකින්න පුළුවන්. මේ ගෙඩිවල තියෙන කුඩා ඇට පළතුරු වශයෙන් පාසල් යන ළමුන් ඉස්සර ආහාරයට ගත්තා. මේරුවට පස්සෙ ඒ ගෙඩි පුපුරල ඇට විසි වෙනවා. ඒ ඇටවලින් නැවත පඳුරු හට ගන්නවා.

කන් ඇසීම දුර්වල අයගේ ඒ රෝගී තත්ත්වයන් සමනය කිරීම, ශරීරයේ තියෙන අනවශ්‍ය අපද්‍රව්‍ය ඉවත් කිරීම, ශරීරයට පත්තියන් වෙලා තියෙන රෝග සුව අතට පත් කිරීම කියන මේ ගුණාංග බිං පොල්වල තියෙනවා. බිං පොල් ගහ සහමුලින්ම කොටල කැඳක් ආකාරයටත්, දළු කොළ මැල්ලුමක් ආකාරයටත් ආහාරයට ගන්න පුළුවන්. ඒ වගේම බිං පොල් ගහ සහමුලින්ම තම්බල පානය කිරීමෙන් කාන්තාවන්ට මාස් ශුද්ධියේදී ඇතිවන අධික වේදනාව සමනය වෙනවා. ඒ වගේම වෛරස් රෝග වැළඳුන අවස්ථාවල බිං පොල් ආහාරයට ගැනීමෙන් ඉක්මනින් සුව වෙනවා.

**හීන් නිදිකුම්බා** - තෙතමනය තියෙන, සාමාන්‍ය මට්ටමක හෙවණ තියෙන ඕනෑම ගෙවත්තක දකින්න පුළුවන්, අඟල් 7 - 8 කට වඩා උස යන්නෙ නැති තනි කඳක අග්‍රයේ විතරක් පත්‍ර හට ගන්නා කහ පාට කුඩා මල්වලින් සමන්විත, කටු නැති පියකරු පැළෑටියක්. අධික සීත කලාපවල හැර ලංකාවේ හැම ප්‍රදේශයකම වගේ දකින්න පුළුවන්. අද වෙනකොට කවුරුවත් ප්‍රයෝජනයට ගන්නෙ නැති වල් පැළෑටියක් වශයෙන් සැළකුවත් හෙළ වෙදකමේ අත්‍යවශ්‍යම ඖෂධයක්. ස්නායු පද්ධතිය උත්තේජනය කිරීමත්, අස්ථි සහ මාංශ පේශි ශක්තිමත් කිරීමත් හීන් නිදිකුම්බාවල තියෙන වටිනා ඖෂධීය ගුණයක්. වයසට යාමත් සමග ඇතිවන පද්ධති දුර්වලතා හේතුවෙන් හට ගන්නා ඇස්පෙනීම අඩුවීම, ආතරයිටීස්, හන්දිපත් වේදනා සහ තුන් දොස් කුපිත වීම කියන රෝග තත්ත්වවලදී හීන් නිදිකුම්බා ගහ සහමුලින්ම කැඳක් වශයෙන් සකස් කරල සතියකට දෙතුන් වතාවක් ගැනීමෙන් ඒ තත්ත්වයන් යම් තාක් දුරකට සමනය වෙනවා. ඒ වගේම ගහ සහමුලින්ම වේළල කුඩු කරල තියාගෙන තේ වගේ අතිරේක පානයක් වශයෙන් භාවිතා කරන්නත් පුළුවන්. එයින් බඩ පිපුම සහ බඩ පුරවා දැමීම වහා සමනය වෙනවා. මේ පැළෑටියේ කොළ කිනිත්ත පිටින්ම බැදුමකට, මැල්ලුමකට එකතු කරගන්නත් පුළුවන්.

**නිල් මානෙල් අල** - හෙළ වෙදකමේදී සුවිශේෂීය තැනක් හිමි වෙන ශාකයක්. විශේෂයෙන් නිල් මානෙල් අල කියන්නෙ ඖෂධ ගබඩාවක්. හෙළ වෙදකමේදී හිස, ඇස්, පෙණහළු සඳහා ප්‍රතිකාර කිරීමේදී යොදා ගන්නවා. සියලු සෙම් රෝග වහා සුව කර නැවත හට ගැන්වීම වැළැක්වීමත් නිල් මානෙල්වල තියෙන සුවිශේෂීය ගුණයක්. ඉරුවාරදය, හිසරදය, හිසේ කෝටරක තුල සෙම ගල්වීම, සියලු පීනස් රෝග, නිව්මෝනියාව, පපුවේ සෙම නරක් වීම නිසා හට ගන්නා රෝගවලට ප්‍රත්‍ය වීමත්, ශරීරයේ කුමන හෝ ස්ථානයක සෙම හටගෙන තියේ නම් ඒ සියල්ල ශරීරයෙන් බැහැර කිරීමට සැලැස්වීමත් තවත් සුවිශේෂීය ගුණයක්. (මේ සියලු රෝග සඳහා නිල් මානෙල් අල යොදාගෙන හදා ගන්නා බේතක් හෙළ බොදු පියුම 35 කලාපයේ පළ කරල තියෙනවා.)

නිල් මානෙල් අල ආහාරයක් වශයෙනුත් ඉතාමත් රසවත්. නිල් මානෙල් අල කිහිපයක් අරගෙන පිට පොත්ත ඉවත් කරල මඤ්ඤොක්ක තම්බන ආකාරයට කෑලි කපල ලිපේ තියල හොඳින් තැම්බුනාට පසු ලුණු දාල වතුර පෙරල පොල් සහ කට්ට සම්බෝලයක් එක්ක ඉතා රසවත් තනි ආහාරයක්. ඒ වගේ ප්‍රධාන තනි ආහාරයක් වශයෙන් ගන්නව නම් උදේ වරුවට විතරක් ආහාරයට එකතු කර ගැනීම යෝග්‍යයි. මොකද උදේට මල් පිපෙන ශාකවල සූර්යාලෝකයත් එක්ක කිරණ ශක්තිය සම්බන්ධ නිසා ඒ ආශ්‍රිත දේවල් ආහාරයට ගන්නකොටත් ඒ ශක්තිය හරියට ප්‍රත්‍ය වෙන්නෙ උදේ වරුවෙ. නමුත් අතිරේක ව්‍යංජනයක්

විදිහට සකස් කරගන්නව නම් දවල්ට වුනත් ගැටළුවක් නෑ. ඒ වගේම මේ නිල් මානෙල් අල අර්තාපල් මාළුවක් පිසින ආකාරයටත් සකස් කරල ආහාරයට ගන්න පුළුවන්. එහෙම නැත්නම් නිල් මානෙල් අල හීන් වෙන්න ලියාගෙන හොඳින් වේළල කුඩු කරල හලාගෙන තියාගෙන ඉඳිආප්ප, රොටි, පිට්ටු, තලප ආකාරයෙන් වුනත් සකස් කර ගන්න පුළුවන්. එහෙමත් නැත්නම් සාමාන්‍ය කුරක්කන් කැඳක් සකස් කර ගන්න ආකාරයට සකස් කරල ආහාරයට ගන්න පුළුවන්. රක්ත උෂ්ණයෙන් හට ගත්ත රෝග සඳහාත් ගුණදායකයි.

**ඇත් අඩි** - ගෙවල් ආසන්නයේ මඳ තෙතමනයක් තියෙන තැන්වල ඉතා බහුලව වැඩෙන කුඩා පැළෑටියක්. බිං පොල් වගේ කුඩා පඳුරක් ආකාරයට වැඩෙන මේවායින් කුඩා නටුවක් ඉහලට පැන නගිනවා. ඒකෙන් සුදු පාට කුඩා මල් හට ගන්නවා. නටුව සහ පත්‍ර ඉතා තද ගතියකින් යුක්තයි. බොහෝ දෙනෙක් මේවා වල් පැළෑටියක් වශයෙන් සළකල ඖෂධීය ගුණ නොදන්නාකමින් ආහාර වශයෙන් යොදා ගන්නෙ නෑ. මේවායේ පත්‍ර ඉතා තද ගතියකින් යුක්ත නිසා පලා ව්‍යංජනයක් හෝ මැල්ලුමක් ආකාරයට හෝ ආහාරයට ගන්න බෑ. ඒ නිසා සහමුලින්ම කැඳක් ආකාරයට සකස් කරල ආහාරයට ගන්න පුළුවන්.

මේවායේ තියෙන සුවිශේෂීය ඖෂධීය ගුණය නම් මාංශපේෂි, අස්ථි සහ හෘදය වස්තුව ශක්තිමත් කිරීම. ඒ වගේම ශරීරයට ඕනෑම දෙයක් දරා ගැනීමේ හැකියාව ඉතා ප්‍රබලව වර්ධනය කරනවා. හෙළ වෙදකමේදී කැඩුම් බිඳුම් සඳහා බහුලව යොදා ගන්නවා. ඒ වගේම උලුක්කු වීම්, මාංශපේෂි තැලීම නිසා හට ගන්නා ඉදිමුම සහ වේදනාව, මස්පිඬු පෙරළීම සඳහාත් යොදා ගන්නවා. උෂ්ණාධික ආහාරයක් නිසා පොල් කිරි ටිකක් වැඩිපුර එකතු කරල කැඳක් වශයෙන් සකස් කර ගැනීමෙන් උෂ්ණාධික බව දුරු වෙලා යනවා.

**සුදු ළූණු** - දැනට වෙළඳපොලෙන් විතරක් මිලදී ගන්න පුළුවන් වුනත්, බීජ අරගෙන තමන්ගෙ ගෙදර පෝච්චියක වුනත් හදාගන්න පුළුවන් ඉතා වටිනා ඖෂධයක්. සුදු ළූණුවලින් ශරීරයේ සියලු පරිවෘත්තිය ක්‍රියා වහා සක්‍රිය කරනවා. අකර්මණ්‍ය වෙලා තියෙන යම් කිසි ස්ථානයක් තියෙනව නම්, ඒ තැන් කරා වහා ගමන් කරල බැඳිල තියෙන අපද්‍රව්‍ය ඉවත් කරන්න දායක වෙනවා. සියලු වාත රෝග සමනය කිරීමේ ගුණයෙන් යුක්තයි. ආම වාතය වහා දුරු කරනවා. තෙල් මිරිස් සහිත ආහාර නිරන්තරයෙන් ගැනීම නිසා ඇතිවන බඩ පිපුම, ආහාර අරුචිය දුරු කරනවා. ආහාර අපත්‍ය වීම නිසා හට ගන්නා බඩේ අමාරු, බඩ පිපුම, අජීර්ණ... ආදී දෝස දුරු වෙනවා. ආමියා දෝස දුරු කරනවා. පිළිකා සඳහා සාර්ථක ඖෂධයක්. වකුගඩු රෝග සඳහාත් ගුණදායකයි. අම්ල පිත්ත ප්‍රදාහය අධිකව තියෙන අය අමු සුදු ළූණු ආහාරයට වැඩිපුර එකතු කර ගැනීමෙන් වළකින්න. ඒ වගේ අයට සුදු ළූණු ව්‍යංජනයක් විදිහට හෝ කැඳක් වශයෙන් හෝ සකස් කරල ආහාරයට එකතු කරගන්න පුළුවන්. එහෙම නැත්නම් ලිපට දාල පුච්චල ආහාරයට ගන්නත් පුළුවන්. ඒ විදිහට පුච්චා ගත් සුදු ළූණු ආහාරට ගැනීමෙන් මාංශපේෂි තුල ඇතිවන වාත වේදනා දුරු වෙනවා. හන්දිපත් වේදනා දුරු වෙනවා. ඒ වගේම රුධිරනාලවල තියෙන අවහිරතා, කොලෙස්ටරෝල් ඉවත් කිරීමේ ගුණයෙන් යුක්තයි.

සටහන

**නිතිඥ චන්දන සිරිවර්ධන**

## හෙළ බොදු පියුම දහම් සඟරාවේ 89 වන කලාපය සඳහා ශ්‍රමය හා මූල්‍යමය දායකත්වය සැපයූ පිංවතුන්

**ශ්‍රම දයකත්වය**

■ පූජ්‍ය කිවුල්දෙණියේ විජිතනන්ද හිමි ■ ධම්මික සේනාධීර මහතා - හසරු ප්‍රින්ටර්ස් - මාලබේ ■ චන්දන සිරිවර්ධන මහතා - අලපලාදෙනිය ■ චතුර හිඳුරංගලගේ මහතා - නුගේගොඩ ■ අමිත් සමරනායක මහතා - බෙල්ලන්තර ■ සඳරුවන් පෙරේරා මහතා - මොරටුව ■ තුසිත මංගල මහතා - පාදුක්ක ■ එස්. ඒ. එස්. පෙරේරා මහතා - පානදුර ■ ෆික්රි ඉස්මයිල් මහතා - ගොතටුව ■ අමිල සල්ගාදු මහතා - කඩුවෙල ■ සුජීවනී ජයවර්ධන මෙනවිය - පාදුක්ක ■ දිනේෂ් සම්පත් මහතා - පිළියන්දල ■ ඉසුරු සේනාරත්න මහතා - පිටකෝට්ටේ ■ ඩී. සී. ආර්. ඇක්සස් මුද්‍රණාලයේ අධිපතිතුමා ඇතුළු කාර්ය මණ්ඩලය - පිටකෝට්ටේ ■ ඉමාෂි මුද්‍රණාලයේ අධිපතිතුමා ඇතුළු කාර්ය මණ්ඩලය ■ නන් අයුරින් දයක වූ පින්වතුන්

**මූල්‍යමය දයකත්වය**

■ සනත් දයාප්‍රේම මහතා, රේණුකා ජයවර්ධන මහත්මිය, අනුක් දයාප්‍රේම පුතා, සෙලෝමි දයාප්‍රේම දුව - ඇමරිකාව - රු. 30,000/- ■ ශානක ද සිල්වා මහතා, චරනි ද සිල්වා මහත්මිය, රහල් ද සිල්වා පුතා, ගනිඳු ද සිල්වා පුතා, දෙව්රු ද සිල්වා දුව - දෝහාකටාර් - රු. 29,640/- ■ ආසිරි වනිගරත්න මහතා සහ දීපිකා සන්දනායක මහත්මිය ඇතුළු පවුලේ සැම - මහරගම - රු. 25,000/- ■ සස්විදු මන්දර විජේරත්න පුතා ඇතුළු පවුලේ සැම - පොතුහැර - රු. 25,000/- ■ තිළින විජේරත්න මහතා සහ පවිත්‍රා දදිගම මහත්මිය - ඇමරිකාව - රු. 23,400/- ■ තුසිත නාකන්දල මහතා, සරූපා නාකන්දල මහත්මිය, දෙවින්යා දුව - ගල්කිස්ස - රු. 20,000/- ■ චතුර හිඳුරංගලගේ මහතා, නදීරා අරම්පොල මහත්මිය, තනුරි හිඳුරංගලගේ සහ සනුරි හිඳුරංගලගේ යන දියණියන් - නුගේගොඩ - රු. 10,000/- ■ සමන් සිල්වා මහතා - කළුතර - රු. 10,000/- ■ නිලක්ෂි වීරකෝන් මහත්මිය - මාලබේ - රු. 10,000/- ■ චාරුත බණ්ඩාර මහතා සහ තිමිර බණ්ඩාර මහතා - ඇමරිකාව - රු. 9,000/- ■ අසේල බෙන්තර මහතා සහ චතුරිකා කහඳුගොඩ මහත්මිය - ඇමරිකාව - රු. 9,000/- ■ සංජීව පද්මනාත් මහතා ඇතුළු පවුලේ සැම - කහතුඩුව, රුවන් සමරසිංහ මහතා ඇතුළු පවුලේ සැම, චමිල ඉලංගකෝන් මහතා ඇතුළු පවුලේ සැම - හෝකන්දර, අශෝක ජයසේකර මහතා සහ චන්ද්‍රා ජයසේකර මහත්මිය - මාතලේ, සසික රත්නායක මහතා ඇතුළු පවුලේ සැම - ගාල්ල, සුනෙත් ධර්මවර්ධන මහතා - දෙල්ගොඩ - රු. 8,100/- ■ සුජීවනී ජයවර්ධන මෙනවිය - පාදුක්ක - රු. 5,000/- ■ අමිත් හඳුගොඩ මහතා ඇතුළු පවුලේ සැම - අත්තිඩිය - රු. 5,000/- ■ ගයාන් පුෂ්පික ඉන්ද්‍රජිත් ලොකුමාන්න මහතා, හිරෝෂානි ලොකුමාන්න මහත්මිය, සෙනුත් ලොකුමාන්න පුතා, කෙනුලි ලොකුමාන්න දුව - ගල්කිස්ස - රු. 5,000/- ■ සොනාලි සමරදිවාකර මෙනවිය - මහරගම - රු. 5,000/- ■ අමිල සල්ගාදු මහතා සහ කාන්ති ඒකනායක මහත්මිය - බෝමිරිය - රු. 5,000/- ■ මෙරිල් ඩයස් මහතා, ඩිලානි ඩයස් මහත්මිය, ශවින්ද්‍රි ඩයස් සහ ප්‍රශානි ඩයස් යන දියණියන් - නාවින්න - රු. 5,000/- ■ දිනේෂ ලියනගේ මහතා, ඔල්ගා ලියනගේ මහත්මිය, තේමික ලියනගේ, ලිතුලි ලියනගේ, තිසරි ලියනගේ යන දරුවන් - මහර - රු. 5,000/- ■ මහේන්ද්‍ර ජයවර්ධන මහතා, සමන්තා සේනානායක මහත්මිය සහ යතික ජයවර්ධන පුතා - ඇමරිකාව - රු. 5,000/- ■ ජී. වී. ජයසේකර මහතා සහ කේ. ජී. හේවාජයන්ති ගමගේ මහත්මිය - නාවාවල - රු. 5,000/- ■ අසෝක රාජපක්ෂ මහතා ඇතුළු පිරිස - තිහාරිය - රු. 5,000/- ■ ලක්ෂ්මන් සෙනෙවිරත්න මහතා ඇතුළු පවුලේ සැම - මහියංගනය - රු. 4,000/- ■ සී. වීරසිංහ මහතා - රු. 4,000/- ■ බුද්ධික බණ්ඩාරනායක මහතා සහ දිස්නා බණ්ඩාරනායක මහත්මිය ඇතුළු පවුලේ සැම - ඇමරිකාව - රු. 3,600/- ■ හර්ෂ අමරසේකර මහතා සහ උදුම්බරා රත්නායක මහත්මිය ඇතුළු පවුලේ සැම - ඇමරිකාව - රු. 3,600/- ■ නිශාන්ත ජයවර්ධන මහතා සහ කවින්ද්‍යා සේනානායක මහත්මිය - ඇමරිකාව - රු. 3,600/- ■ අයේෂ් ගුණවර්ධන මහතා සහ නිරාශා පෙරේරා මහත්මිය - ඇමරිකාව - රු. 3,600/- ■ අසේල දික්කුඹුර මහතා - ඇමරිකාව - රු. 3,600/- ■ පියසීලි ජයවර්ධන මහත්මිය, ඉනෝකා ජයවර්ධන මහත්මිය, අකීශා සමරවීර දුව - නුගේගොඩ - රු. 3,400/- ■ සමන්ත දියෝගබදු මහතා, ගයනි ජයවර්ධන මහත්මිය, නිම්හාන් දියෝගබදු පුතා - ඩුබායි - රු. 3,300/- ■ අශෝක ජයවර්ධන මහතා සහ චමිලා වික්‍රමආරච්චි මහත්මිය - නුගේගොඩ - රු. 3,300/- ■ හේමසිරි ප්‍රනාන්දු මහතා, සුමේධා චාන්දනී මහත්මිය, විනුක් හංසක පුතා - ඇතුල්කෝට්ටේ - රු. 3,200/- ■ කරගම්පිටිය ශාස්ත්‍රානන්ද පිරිවෙන් විහාරස්ථානයේ සදහම් වැඩසටහනට සහභාගි වන පින්වතුන් - රු. 3,000/- ■ ධර්මරත්න මහත්මිය සහ ඕෂනී නවෝද්‍යා ප්‍රනාන්දු මෙනවිය - ඇතුල්කෝට්ටේ - රු. 3,000/- ■ ජනක හපුආරච්චි මහතා ඇතුළු පවුලේ සැම - ගිනිගත්හේන - රු. 3,000/- ■ කේ. එම්. සමන්ත ප්‍රදීප් මහතා - කඹුරුගමුව, මාතර - රු. 3,000/- ■ නිශාන්ති ද සිල්වා මහත්මිය - මොරටුව - රු. 3,000/- ■ සුජාන් කරස්නාගොඩ මහතා සහ නිලූෂි දිසානායක මහත්මිය - ඕස්ට්‍රේලියාව - රු. 3,000/- ■ ගුණපාල ඉද්දගොඩ මහතා - විජේරාම - රු. 3,000/- ■ රෝෂණ උමගිලිය මහතා, දුලානි මණ්ඩාවල මහත්මිය, රදින් රාහුල් උමගිලිය පුතා සහ ටරිනි උමගිලිය, යෙනුලි උමගිලිය දියණියන් - පොළොන්නරුව - රු. 3,000/- ■ ටී. ටී. පී. සිල්වා මහත්මිය - නාගොඩ, කළුතර - රු. 2,500/- ■ ඩී. ඩී. විතාරණගේ මහතා ඇතුළු පවුලේ සැම - නුගේගොඩ - රු. 2,500/- ■ රේණුකා ගුණරත්න මහත්මිය ඇතුළු පවුලේ සැම - ගොතටුව - රු. 2,500/- ■ පුහුල්හේනේ රතනසිරි හිමි - අරියචිත්ත විවේක සෙනසුන, පොල්ගහවෙල - රු. 2,000/- ■ ජයනාත් සුබසිංහ මහතා - හෝමාගම - රු. 2,000/- ■ නැදිමාල ශ්‍රී සෝමානන්ද විහාරයේ සදහම් වැඩසටහනට සහභාගී වන පින්වතුන් - රු. 2,000/- ■ ඔස්ටින් ප්‍රනාන්දු මහතා සහ සිසිර සිරිවර්ධන මහතා ඇතුළු පවුලේ සැම - පොල්ගහවෙල - රු. 2,000/- ■ ඉසුරු ගාල්ලගේ මහතා සහ මේනකා ශාන්තිනී මහත්මිය - කඩවත - රු. 2,000/- ■ ඩිලාරෝ වුඩ් කාවින් පුද්ගලික සමාගම - ගාල්ල - රු. 2,000/- ■ රුවිනා දීපානි මහත්මිය ඇතුළු පවුලේ සැම - පිටකෝට්ටේ - රු. 2,000/- ■ නුවන් යාපා අමරසේකර මහතා සහ චරිතා කුමාරි හෙට්ටිආරච්චි මහත්මිය - රදවාන - රු. 2,000/- ■ රජිත් යාපා අමරසේකර මහතා - රදවාන - රු. 2,000/- ■ නම සඳහන් නොකළ පින්වතෙක් - පිටකෝට්ටේ - රු. 2,000/- ■ කසුන් ජයකොඩි මහතා - දෙඩම්ගොඩ - රු. 2,000/- ■ ඩබ්. චන්ද්‍රරත්න මහතා ඇතුළු පවුලේ සැම - පාදුක්ක - රු. 2,000/- ■ චලිත ජයසුන්දර මහතා, සාරංගා රත්නායක මහත්මිය, සෙනුලි ජයසුන්දර දුව ඇතුළු පවුලේ සැම - ඇතුල්කෝට්ටේ - රු. 2,000/- ■ ජනක කුමාර මහතා - ඇමරිකාව - රු. 1,800/- ■ අයිරාංගනී තිලකරත්න මහත්මිය - නාවල - රු. 1,500/- ■ ඒ. ඒ. එන්. අමරසිංහ මහතා ඇතුළු පවුලේ සැම - අවුලේගම - රු. 1,500/- ■ චන්න කොලුගල මහතා - අග්ගොන - රු. 1,500/- ■ එස්. ඩී. සසිඳු චානක ජයවික්‍රම මහතා සහ සෙනෙහෙලතා ජයවික්‍රම මහත්මිය - ගම්පහ - රු. 1,500/- ■ පද්මිණී මල්ලිකා දස්වත්ත මහත්මිය - දෙම්පෙ - රු. 1,500/- ■ දිල්හාර වික්‍රමආරච්චි මහතා - නෙළුම්දෙනිය - රු. 1,435/- ■ එස්. ප්‍රසන්න ප්‍රියදර්ශන සිල්වා මහතා සහ මධුෂිකා ලක්මුතු පියදිගම මහත්මිය - ගල්කිස්ස - රු. 1,200/- ■ බී. ඒ. වීරසේන මහතා සහ සීතා වීරසේන මහත්මිය - යක්කල - රු. 1,200/- ■ ශ්‍යාමල් බණ්ඩාර මහතා - කුරුණෑගල

- රු. 1,000/- ■ සී. එම්. පී. සී. ලක්රුවන් මහතා - කළුතර - රු. 1,000/- ■ මෝක්ෂර තිලකසිරි පුතා - බැලුම්මහර - රු. 1,000/- ■ සමෘද්ධි තිලකසිරි පුතා - බැලුම්මහර- රු. 1,000/- ■ එල්. ඒ. කේ. ද සිල්වා මහතා - කිරුලපන - රු. 1,000/- ■ නිලූකා වෙල්ගම මහත්මිය ඇතුළු පවුලේ සැම - කඳන - රු. 1,000/- ■ පද්මිණී සේනානායක මහත්මිය - කළගෙඩිහේන - රු. 1,000/- ■ රාහුල ඉන්ද්‍රකුමාර මහතා - මිනුවන්ගොඩ - රු. 1,000/- ■ කේ. වසන්තා කුමාරි ආරියසිංහ මහත්මිය ඇතුළු පවුලේ සැම - නාගහහේන - රු. 1,000/- ■ කෞශානි සකුණිකා ප්‍රේමතිලක දුව - රදවාන - රු. 1,000/- ■ ශ්‍රීමා අබේකෝන් මහත්මිය ඇතුළු පවුලේ සැම - මෙල්බන් නුවර - රු. 1,000/- ■ කේ. ඒ. දුල්නිත නිසිඳු කුමාර පුතා - පාදුක්ක - රු. 1,000/- ■ ප්‍රජාපතී ගෝතමී ආරාමයේ දායක පිරිස - මාස්පොත - රු. 1,000/- ■ මාලිනී බස්නායක මහත්මිය - අකුරැස්ස - රු. 1,000/- ■ පී. අරවින්ද කුමාර මහතා - වත්තල - රු. 1,000/- ■ ඒ. ඩී. දිනූෂිනී කෞශල්‍යා මෙනවිය - කෑගල්ල - රු. 1,000/- ■ ඉන්ද්‍රානි අරඹවත්ත මහත්මිය සහ සිරිවීර හෙට්ටිආරච්චි මහතා - කඩුවෙල - රු. 1,000/- ■ කුමුදුනී කහඳුව මහත්මිය - තලපත්පිටිය - රු. 1,000/- ■ ලක්ෂ්මන් ජයසිරි ලියනගේ මහතා - කහතුඩුව - රු. 1,000/- ■ සෝමා කොතලාවල මහත්මිය - රුවන්වැල්ල - රු. 1,000/- ■ ඉන්ද්‍රානි හෙට්ටිආරච්චි මහත්මිය - වෙලගෙදර - රු. 1,000/- ■ කුසුම් වික්‍රමසිංහ මහත්මිය - රදවාන - රු. 1,000/- ■ ඩබ්. ඒ. චන්ද්‍රාවතී මහත්මිය - මීරිගම - රු. 1,000/- ■ පියසීලි සේනානායක මහත්මිය - හොරණ - රු. 1,000/- ■ කුලසිංහ විමලවීර මහතා - අරනායක - රු. 1,000/- ■ ධනංජය කහඳුව මහතා - නුගේගොඩ - රු. 1,000/- ■ ඩී. ටී. ඒ. ගුණතිලක මහතා - වෙලගෙදර - රු. 1,000/- ■ කේ. ඒ. ජයරත්න මහතා ඇතුළු පවුලේ සැම - පොල්ගස්ඕවිට - රු. 1,000/- ■ විමල් ගුණතිලක මහතා - පිටිපන - රු. 1,000/- ■ ලීලා කුමාරි මහත්මිය - මාතලේ - රු. 1,000/- ■ දර්ශිකා විජේරත්න මහත්මිය - තලවතුගොඩ - රු. 1,000/- ■ බුද්ධික සම්පත් මහතා - බෙරලපනාතර - රු. 1,000/- ■ ලසන්ත බණ්ඩාර මහතා - ඇතුල්කෝට්ටේ - රු. 1,000/- ■ ඒ. දිලාන් නුවන් පුතා - ස්කොට්ලන්තය - රු. 1,000/- ■ ප්‍රගීත් ලියනගේ මහතා ඇතුළු පවුලේ සැම - බණ්ඩාරගම - රු. 1,000/- ■ අමරසිංහ මහතා - දලුවලාන - රු. 1,000/- ■ චන්ද්‍රා විජේසිංහ මහත්මිය - වළල්ලාවිට - රු. 1,000/- ■ ඩබ්. ඒ. එස්. සෙනෙහෙලතා මහත්මිය, එම්. එල්. එම්. සුමනසූරිය මහතා, එම්. එල්. එම්. දර්ශන මධුශංක මහතා සහ එම්. එල්. එම්. සසිඳු දුල්සිත පුතා - වේවැල්දෙනිය - රු. 1,000/- ■ සමන් දසනායක මහතා, සුජාතා සමරකෝන් මහත්මිය, අස්විනි දසනායක දුව - පිළියන්දල - රු. 1,000/- ■ කුසුමා තෙන්නකෝන් මහත්මිය - සේදවත්ත - රු. 1,000/- ■ අනුරුද්ධ දිසානායක මහතා - මිනුවන්ගොඩ - රු. 1,000/- ■ සීතා විජේමාන්න කුමාරිහාමි මහත්මිය - දෙහිඕවිට - රු. 1,000/- ■ ශ්‍රියානි විජේසේකර මහත්මිය - ගාල්ල - රු. 1,000/- ■ හසිත දනංගොඩ මහතා - කොළඹ 10 - රු. 1,000/- ■ රංජිත් වික්‍රමසිංහ මහතා, පද්මාවතී වික්‍රමසිංහ මහත්මිය, සුභාෂිනී දිසානායක මහත්මිය - කඩිගමුව, උපුල් විජේනායක මහතා - මාවනැල්ල, මනෝජ් ජයසූරිය මහතා - මහරගම, කුමාරි ගොඩවිට මහත්මිය - කුරුණෑගල, එම්. ඩී. තිලකරත්න මහතා ඇතුළු පවුලේ සැම - වැලිපැන්න, තිස්ස බී. අතාවුද මහතා ඇතුළු පවුලේ සැම - ජාඇල, එස්. ඒ. හංසිකා සමරවීර මෙනවිය - මොරවක, නිලන්ති දබරේ මහත්මිය - පිටකෝට්ටේ, ඉනෝකා චිත්‍රාංගනී මහත්මිය - කඩවත, මෙවන්කා සුජානි මෙනවිය - මීගොඩ, ගාමිණී සිරිමාන්න මහතා ඇතුළු පවුලේ සැම - රදවාන එකතුව - රු. 6,300/-, ■ එකතු වූ සියලු මුදල් පරිත්‍යාග - රු. 419,275/- ■ පළමු පිටපත් 15,000 සඳහා මුද්‍රණ වියදම රු. 395,250/- ■ අනෙකුත් වියදම් - 14,190/- ■ සම්පූර්ණ වියදම - රු.409,440/- ■ එක් පිටපතක නිෂ්පාදන වියදම - රු. 27.29/- ■ සඟරා අලෙවියෙන් ලැබෙන ඉතිරි සියලු මුදල් නැවත මුද්‍රණ කටයුතු ඇතුළු දහම් කටයුතු සඳහාම යොදවනු ලැබේ.

**ඉහත නම් සඳහන් පිංවත් පිරිස ඇතුළු ආධාර උපකාර කළ සියලු දෙනා සිදු කරගත් මේ පුණ්‍ය කුසල ආශිර්වාද හේතු කොටගෙන, අනන්ත සසරේ පටන් මේ දක්වා තම තමන් අතින් අවැඩ, අසාධාරණ, වැරදි, ප්‍රමාද දෝසවලට ලක් වූ සියලු දෙනාට මෙන්ම උදව් උපකාර කළ සැමටත්, මියගිය සතර වරිගයක ඥාති මිත්‍රාදීන්ටත් මේ පුණ්‍ය කුසල ආශිර්වාද විඳිදී පැතිරී පිහිටා සුගතිගාමීව තම තමන්ගේ පැතුම් පරිදි නිර්වාණාවබෝධයටද හේතු වාසනා වේවා! එම ආධාර උපකාර කළ පිංවත් පිරිස් ඇතුළු සිය පවුල්වල සැමටත්, නිදුක් නිරෝගී සුවය ලැබී, කරන කියන යහපත් රැකී රක්‍ෂා ව්‍යාපාර ආදියෙන් සියලු ජයග්‍රහණයන් අත් වේවා. දූ දරුවන්ගේ අධ්‍යාපන ආදී කටයුතුවලින් විශිෂ්ඨ ජයග්‍රහණ අත් වී සුචරිත පිරිසක් වී සියලු අභිවෘද්ධිය උදා වේවා!**

---

# පින්වත් ඔබ වෙනුවෙන් එළි දැක්වූ දහම් ගබඩාවන්...


**www.waharaka.com webmaster@helabodhupiyuma.net**

**071 3046895 / 036 2267111 / 076 8092008 / 076 3639891**


**සැඟවුණු බොදු මග යළි විවර කරමින් වහරක අරිය චින්තාශ්‍රම බෞද්ධ විහාරස්ථානයේ සදහම් වැඩසටහන් පැවැත්වෙන කාල හෝරාවන්:**

සෑම පුන් පොහෝ දිනකම සහ සෑම අමාවක පොහොය දිනකම පෙ. ව. 8.00 සිට සවස 5.00 දක්වා - පෙහෙවත් සමාදනය, දහම් සාකච්ඡා සහ විශේෂ පුණ්‍යානුමෝදනාව. සෑම මසකම 1 වන සහ 3 වන සෙනසුරාද ආශිර්වාද පූජාව සහ ධර්ම සාකච්ඡාව. පෙ. ව. 8.00 සිට ප. ව. 4.00 දක්වා 2 වන සහ 4 වන සෙනසුරාද භාවනා වැඩසටහන් පෙ. ව. 9.00 සිට ප. ව. 4.00 දක්වා

**ගමන් මාර්ගය: නිට්ටඹුව - රුවන්වැල්ල ප්‍රධාන මාර්ගයේ ගෝණගල්දෙනිය හන්දියේ සිට වහරක අතුරු මාර්ගයේ මීටර 350 ක් පමණ දුරින් දකුණුපස.**



# සුනීතගේ කතාව

සිටු වනු රහත් වනු රජ වනු තරම් වන
සතු වුනු සසර මග පෙර කළ උතුම් පින
මතු වුනු යම් පවක් එනමුදු හරස් වුන
පිරී හුනු සුව පහස නිවසති නොයෙක් දන

පෙර මුනිවරුන් කල සිට දහමට හුරුව
තිර බැති සිතින් පින සහ කුසලය පිරුව
නර යෙකු එවන් පසු භවයක පින වැරුව
වර දකි පසේ බුදු හිමි නමකට කෙරුව

ඇඟ පත වණ වෙලා වගෙ ඇයි සිරුර වසා
සිඟ මන යදිනු කිම අත පය ඇතිද දොසා
සඟ නක වන ඔබට ගොවිතැන බැරිද අසා
නිග රුව කළා බුදු බණ ඔහු නොඇසු නිසා

අපමණ පිරිස වෙහෙසෙති වෙර විරිය යොදා
ගොවිතැන නොහැකි ඔබ මළ මූ බුදිනු හොඳා
අවමන දරුණු විය නොතිබුනි නුවණ එදා
එබැවින එය පවකි විඳ වන සසර සදා

ගව් තම මුනිඳු සමයෙහි රජ ගහ ඉපිද
හව් හරණයක් පිහිටක් කිසි විට නොලද
පව් කළ බැවිනි පෙර සුළු නැත කළ වරද
ගෙව් හැටි එය දුකකි ඇද මළ මූ දුගඳ

අසරණ කසළ සෝධක එම සුනීතය
බුදු නැණ තෙදින් දුටු ඔහු විසු අතීතය
පෙර පින බලවත්ව තිබු හැටි ප්‍රණීතය
හමු වුන වගයි මුනිඳුට ඔහු විනීතය

දුක් විඳ කිමද පුත ඔය හැටි වෙහෙ සෙන්නේ
බික් සඟ නමක වනු ඔබ හට සරි වන්නේ
එක් වෙමි තුටිනි හිමියනි අවසර දෙන්නේ
සක් විති සැපතටත් වැඩියෙන් සළ කන්නේ

පින්වත් සුනීතට කහවත උරුම වුනා
තැන්පත් මනස බණ දහමට නැඹුරු වුනා
වත්පෙත් ඉටු කළා නැණ ගුණ දියුණු වුනා
අරිහත් බව ලබා සසරින් එතෙර වුනා

(ථේර ගාථා අට්ඨ කතා ඇසුරෙනි)

පබැඳුම - කාව්‍ය ශිරෝමණී පානදුරේ එස්. ඒ. එස්. පෙරේරා



# සැඟවුනු දහම යළි රැව් දෙයි ධරණි තලේ...

නිවනට පිනැති දන බිහි වන කලකි යළි
දහමට කැමති බව හඟවයි නොමැත මැලි
සවණට වැකුණු විට වැටහෙයි කරපු කෙලි
සසරට බිය හිතෙයි දම් ඇස කෙරෙති එළි

ඇසුවත් කොතෙක් බණ නැත වැටහුම දුන්නේ
මෙතුවක් යටව තිබු දහමකි මතු වන්නේ
නැණවත් දනන් ලොව සිවු දෙස පිබි දෙන්නේ
දැනුවත් වෙමින් කෙලෙසුන් මල හැර යන්නේ

මෑතක පටන් දන නිවනට මග විමසයි
පාතක තිබුන හිත දැන් පෙර ලෙස නොවසයි
පෝතකයින් පවා දැන් ඒ ගැන පවසයි
ඈතක නොවේ ළඟකදි සිදුවුන වෙනසයි

ලොවේ නෙක උගත් ධනවත් පිරිස අද
නොවේ තවත් පසුබට කටයුතුද මැද
භවේ දුකක් ලෙස වැටහී දිවි ගියද
නිවේ දමින් හඳුනා සසරෙහි බියද

ළමා තුරුණු දරු පින්වත් පෙරට වඩා
අමා දහම විමසයි දැන් නොවෙති කුඩා
නිමා නොවන සසරෙහි දුක් කඳුලු කඩා
පමා නොවී වටහති භව සසර විඩා

පෙළ පොත නීතියෙන් බැන්දද කරුම යට
වළකනු නොහැක මේ මතු වන දහම හෙට
එල ගෙන නිවන් පුර වඩිනා සඟුන හට
නිල බලතල නොමැති වුව ඇත පරම තුට

සම්මත ලොවේ උදවිය කිව්වද මොනවා
දම් දෙසුමකට සීමා දැම්මද පනවා
තුම් අවබෝධෙ ඇති විට නැණ ගුණ තනවා
පෙම් බැඳි සසර හැර උන් නිවනට යනවා

දහස් ගණන් නිහඬව බණ අසන දන
දවස් ගණන් විදසුන් කර වඩති මන
නිදොස් වෙමින් නිවනට යයි නොකර වින
සදොස් නොවෙද නොවඩන උන් මුනිඳු බණ

දවසින් දවස සත වෙත දම් හඬ පැතිර
නුවණින් වටහ ගෙන භව සසරෙහි නොතිර
නිවනින් නිවෙන විට ලොව ගුණ කඳ ඉතිර
ගහමින් පහර කුමටද නිරයෙහි වැතිර

දෙස් විදෙස්වලද දම් හඬ පැතිර යති
බස් වෙනස් දනද ඒ දම වැළඳ ගති
විස්වයටම පොදු දහමක ගුණය වෙති
ඇස් පනාපිටම එය තහවුරුව ඇති

සැඟවුනු දහම යළි රැව් දෙයි ධරණි තලේ
මග නොම දුටුව උදවිය ඒ ගැනද පෙළේ
අග මුල නොදැන එදිරිව වැඩ කරන කලේ
දිගු ඝෝර සසර විඳවන විට කිමද එලේ

සද්දෙට බිය නොවව් දහමට එරෙහි වන
විද්දට හී පහර පාපය මතුව එන
මැද්දට නොපැන නිහඬව මග වඩන දන
යුද්දෙට නොගොස් ජය ගති තුන් ලොවම පැන

පබැඳුම - නීතිඥ චන්දන සිරිවර්ධන

1089 RS.25.00
HELA BODHU PIYUMA 89

නීතිඥ චන්දන සිරිවර්ධන විසින් සංස්කරණය කර නුගේගොඩ ගංගොඩවිල වනාත පාරේ අංක 96/A දරණ ස්ථානයේ පිහිටි ඉමාෂි මුද්‍රණාලයේ මුද්‍රණය කරවා ප්‍රසිද්ධ කරන ලදී.